# බුද්ධ ධර්මය

## 10 ශ්‍රේණිය

අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව



# ශ්‍රී ලංකා ජාතික ගීය

ශ්‍රී ලංකා මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
සුන්දර සිරිබරිනී, සුරැඳි අති සෝබමාන ලංකා
ධාන්‍ය ධනය නෙක මල් පලතුරු පිරි ජය භූමිය රම්‍යා
අපහට සැප සිරි සෙත සදනා ජීවනයේ මාතා
පිළිගනු මැන අප භක්ති පූජා
නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
ඔබ වේ අප විද්‍යා - ඔබ ම ය අප සත්‍යා
ඔබ වේ අප ශක්ති - අප හද තුළ භක්ති
ඔබ අප ආලෝකේ - අපගේ අනුප්‍රාණේ
ඔබ අප ජීවන වේ - අප මුක්තිය ඔබ වේ
නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා
ඥාන වීර්ය වඩවමින රැගෙන යනු මැන ජය භූමි කරා
එක මවකගෙ දරු කැල බැවිනා
යමු යමු වී නොපමා
ප්‍රේම වඩා සැම භේද දුරැර ද නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

## අධ්‍යාපන අමාත්‍යාංශයේ බෞද්ධ උපදේශක මණ්ඩලය විසින් අනුමත කරන ලද ගුරු වන්දනා ගාථාව සහ අධිෂ්ඨාන පද්‍යය

### ගුරු වන්දනා ගාථාව

ඕවාද සිප්ප දානේන
සික්ඛාපේති මමං ගරු
සගාරවේන චිත්තේන
අහං වන්දාමි තං ගරුං

ඔවා සිප් දීමෙන
මා හික්මවන පේමෙන
ඇදුරු හද බැතියෙන
වඳිමි ගරු සිත පෙරටු කරමින

### පාසල් උදෑසන රැස්වීම අවසානයේ කෙරෙන අධිෂ්ඨානය

තෙරුවන පුදා සිහිකර මාපිය දෙදෙන
ගුරු සිත දිනා ඔප කර ගෙන ගුණ නුවණ
කරමින සබා විදුහල් මැණිගෙ සිහින
සුරකිමි සදා මගෙ රට ජාතිය සසුන

රචක: පූජ්‍ය ගන්තුනේ අස්සජී හිමි

තිළිණය ලෙසින් රජයෙන් මේ පොත ලදිමි
කියවා එයින් නැණ ගුණ එළි කර ගනිමි
මගෙ රට වෙනුවෙන් ම දෑ සම්පත් රකිමි
මේ පොත එන වසරෙ වෙන කෙනකුට පුදමි

**அரசின் வெகுமதியாய் நூலிதனைப் பெற்றேன்**
**அறிவு பெருகிடவே நூலிதனைக் கற்பேன்**
**தாய் நாட்டின் வளமெனவும் நூலிதனைக் காப்பேன்**
**பல மாணவரும் பயின்றிடவே நூலிதையே அளிப்பேன்**

From the government, I received this as a gift
I'll read it, light up my knowledge and practise thrift
On my country's own behalf, I'll protect the national resources
And offer this book to another one as a fresh garland of roses



"අලුත් වෙමින්, වෙනස් වෙමින්, නිවැරැදි දැනුමෙන්
රටට වගෙ ම මුළු ලොවට ම වෙන්න නැණ පහන්"

## ගරු අධ්‍යාපන අමාත්‍යතුමාගේ පණිවුඩය

ගෙවී ගිය දශක දෙකකට ආසන්න කාලය ලෝක ඉතිහාසය තුළ සුවිශේෂී වූ තාක්ෂණික වෙනස්කම් රැසක් සිදුවූ කාලයකි. තොරතුරු තාක්ෂණය, සන්නිවේදනය ප්‍රමුඛ කරගත් සෙසු ක්ෂේත්‍රවල ශීඝ්‍ර දියුණුවත් සමඟ වත්මන් සිසු දරු දැරියන් හමුවේ නව අභියෝග රැසක් නිර්මාණය වී තිබේ. අද සමාජයේ පවතින රැකියාවල ස්වභාවය නුදුරු අනාගතයේ දී සුවිශේෂී වෙනස්කම් රැසකට ලක් වනු ඇත. එවන් වටපිටාවක් තුළ නව තාක්ෂණික දැනුම සහ බුද්ධිය කේන්ද්‍ර කරගත් සමාජයක වෙනස් ආකාරයේ රැකියා අවස්ථා ද ලක්ෂ ගණනින් නිර්මාණය වනු ඇත. ඒ අනාගත අභියෝග ජයගැනීම වෙනුවෙන්, ඔබ සවිබල ගැන්වීම අධ්‍යාපන අමාත්‍යවරයා ලෙස මගේත්, අප රජයේත් ප්‍රමුඛ අරමුණයි.

නිදහස් අධ්‍යාපනයේ මාහැඟි ප්‍රතිලාභයක් ලෙස නොමිලේ ඔබ අතට පත් වන මෙම පොත මනාව පරිශීලනය කිරීමත්, ඉන් අවශ්‍ය දැනුම උකහා ගැනීමත් ඔබේ ඒකායන අරමුණ විය යුතු ය. එමෙන් ම ඔබේ මවුපියන් ඇතුළු වැඩිහිටියන්ගේ ශ්‍රමයේ සහ කැපකිරීමේ ප්‍රතිඵලයක් ලෙස රජය විසින් නොමිලේ පාසල් පෙළපොත් ඔබ අතට පත් කරනු ලබන බව ද ඔබ වටහා ගත යුතු ය.

ලෝකය වේගයෙන් වෙනස් වන වටපිටාවක, නව ප්‍රවණතාවලට ගැළපෙන අයුරින් නව විෂය මාලා සකස් කිරීමටත්, අධ්‍යාපන පද්ධතිය තුළ තීරණාත්මක වෙනස්කම් සිදු කිරීම සඳහාත් රජයක් ලෙස අප කටයුතු කරන්නේ රටක අනාගතය අධ්‍යාපනය මතින් සිදු වන බව අප හොඳින් ම අවබෝධ කරගෙන සිටින බැවිනි. නිදහස් අධ්‍යාපනයේ උපරිම ප්‍රතිඵල භුක්ති විඳිමින්, රටට පමණක් නොව ලොවට ම වැඩදායී ශ්‍රී ලාංකික පුරවැසියකු ලෙස නැඟී සිටින්නට ඔබ ද අදිටන් කරගත යුතු වන්නේ එබැවිනි. ඒ සඳහා මේ පොත පරිශීලනය කිරීමෙන් ඔබ ලබන දැනුම ද ඉවහල් වනු ඇති බව මගේ විශ්වාසයයි.

රජය ඔබේ අධ්‍යාපනය වෙනුවෙන් වියදම් කරන අතිවිශාල ධනස්කන්ධයට වටිනාකමක් එක් කිරීම ද ඔබේ යුතුකමක් වන අතර, පාසල් අධ්‍යාපනය හරහා ඔබ ලබා ගන්නා දැනුම හා කුසලතා ඔබේ අනාගතය තීරණය කරන බව ද ඔබ හොඳින් අවබෝධ කර ගත යුතු ය. ඔබ සමාජයේ කුමන තරාතිරමක සිටිය ද සියලු බාධා බිඳ දමමින් සමාජයේ ඉහළ ම ස්තරයකට ගමන් කිරීමේ හැකියාව අධ්‍යාපනය හරහා ඔබට හිමි වන බව ද ඔබ හොඳින් අවධාරණය කර ගත යුතු ය.

එබැවින් නිදහස් අධ්‍යාපනයේ උපරිම ප්‍රතිඵල ලබා, ගෞරවනීය පුරවැසියකු ලෙස හෙට ලොව දිනන්නටත් දේශ දේශාන්තරවල පවා ශ්‍රී ලාංකේය නාමය බබළවන්නටත් ඔබට හැකි වේවා! යි අධ්‍යාපන අමාත්‍යවරයා ලෙස මම ශුභ ප්‍රාර්ථනය කරමි.

**අකිල විරාජ් කාරියවසම්**
අධ්‍යාපන අමාත්‍ය

# පෙරවදන

ඔබ ජන්මලාභය ලබා ඇත්තේ ඉන්දීය සාගරයේ මුතු ඇටය යැයි විරුදාවලී ලත් රටකය. ඔබේ රට අන් රටවල් හා සැසඳූ කල කුඩා රටක් ලෙස පෙනුණද එහි අගය අමිල ය. එවන් අගනා පුණ්‍යභූමියක උපන් ඔබ සැම සැබවින්ම වාසනාවන්ත පිරිසකි. සිසු දරුදැරියන් වන ඔබ සැම, හොඳින් අධ්‍යාපනය ලබා ගුණ නැණ බෙලෙන් යුතු පුරවැසියන් ලෙස අනාගත ලෝකය එළිය කරනු දැකීම අපගේ ඒකායන අපේක්ෂාවයි. එම අපේක්ෂාව මුදුන්පත් කරලනු පිණිස අධ්‍යාපනය සඳහා අවශ්‍ය සියලු පහසුකම් නොමිලේ සැපයීමට රජය කටයුතු කරයි. මෙම පොත ඔබට තිළිණ කෙරෙන්නේ ද එහි එක් පියවරක් වශයෙනි.

නව ප්‍රාථමික විෂය මාලාවට අනුව මේ වන විට 1, 2, 3 සහ 4 ශ්‍රේණි සඳහා නව පෙළපොත් හඳුන්වා දී ඇත. 2020 වර්ෂයේ දී 5 වැනි ශ්‍රේණියට නව පෙළ පොත් හඳුන්වා දීමෙන් අනතුරුව මෙම අදියරේ ප්‍රාථමික විෂයමාලා සංශෝධනය නිමාවට පත්වේ. 1 ශ්‍රේණියේ සිට 5 ශ්‍රේණිය දක්වා ප්‍රාථමික ශ්‍රේණිවල සිප් සතර හදාරන ශිෂ්‍ය ප්‍රජාව වෙනුවෙන් රජය තිළිණ කරන පෙළපොත් සංඛ්‍යාව 30 ක් පමණ වේ. මේ වටිනා සම්පතින් ජීවිතය ආලෝකවත් කර ගැනීමට කටයුතු කිරීම ඔබ සැමගේ වගකීම විය යුතුය.

මෙම පෙළපොත ඔබ අතට පත් කිරීම සඳහා කැපවීමෙන් කටයුතු කළ ලේඛක හා සංස්කාරක මණ්ඩල සාමාජික මහත්ම මහත්මීන්ට සහ අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ කාර්ය මණ්ඩලයට මාගේ ස්තුතිය පුද කරමි.

ඩබ්ලිව්. එම්. ජයන්ත වික්‍රමනායක,
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්,
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව,
ඉසුරුපාය,
බත්තරමුල්ල.
2019.04.10

**නියාමනය හා අධීක්ෂණය :**

**ඩබ්ලිව්. එම්. ජයන්ත වික්‍රමනායක**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**මෙහෙයවීම :**

**ඩබ්ලිව්. ඒ. නිර්මලා පියසීලි**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් (සංවර්ධන)
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සම්බන්ධීකරණය :**

**ඩී. එම්. ජයන්ත පුෂ්පකුමාර**
නියෝජ්‍ය කොමසාරිස් (පාලන)
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සංස්කාරක මණ්ඩලය :**

1. **මහාචාර්ය, පූජ්‍ය දේවාලේගම මේධානන්ද ස්වාමීන් වහන්සේ**
   කැලණිය විශ්වවිද්‍යාලය
2. **අතිපූජ්‍ය, ගන්තුනේ අස්සජී මහානායක ස්වාමීන් වහන්සේ**
   විශ්‍රාමික කථිකාචාර්ය, ශ්‍රී ජයවර්ධනපුර විශ්වවිද්‍යාලය
3. **ආචාර්ය, පූජ්‍ය මාඹුල්ගොඩ සුමනරතන ස්වාමීන් වහන්සේ**
   නියෝජ්‍ය අධ්‍යක්ෂ ජනරාල්, ජාතික අධ්‍යාපන ආයතනය

**සිංහල භාෂා සංස්කරණය :**

1. **මහාචාර්ය, නිමල් මල්ලවආරච්චි**
   අංශාධිපති, සිංහල අධ්‍යයන අංශය, කැලණිය විශ්වවිද්‍යාලය

**ලේඛක මණ්ඩලය :**

1. **ශාස්ත්‍රපති, වයි.පී.පී. කවිසිගමුව**
   ගුරු උපදේශිකා, කලාප අධ්‍යාපන කාර්යාලය, රත්නපුර.
2. **අධ්‍යාපනපති, ඩබ්.ඒ.සී. වේරගොඩ**
   ගුරු උපදේශිකා, කොට්ඨාස අධ්‍යාපන කාර්යාලය, වරකාපොළ.
3. **දර්ශනපති, උදයරුවන් මල්ලිකාරච්චි**
   විදුහල්පති, ඉහළ බෝමිරිය කනිෂ්ඨ විද්‍යාලය, කඩුවෙල.
4. **ශාස්ත්‍රපති, ආර්.ඒ. ගුණවර්ධන**
   ගුරුසේවය I, ගිරි/රුවන්ගිරි මධ්‍ය මහා විද්‍යාලය, බෝගමුල්ල.

**සෝදුපත් කියවීම :**

1. **එස්.බී.එම්. නිමල් ධර්මසිරි**
   අධ්‍යාපන අධ්‍යක්ෂ,
   ආගමික හා සාරධර්ම අංශය, අධ්‍යාපන අමාත්‍යාංශය.

**චිත්‍ර රූප සටහන්, පිට කවරය සැකසීම :**

1. **අමිතා ඉන්දිරානි**
   සහකාර අධ්‍යාපන අධ්‍යක්ෂ
   කලාප අධ්‍යාපන කාර්යාලය, ගම්පොළ.

**පරිගණක ගත කිරීම, පිටු සැකසීම :**

1. **ඩබ්.ඩී. නිම්මිකා**
   අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව
2. **ඒ.එන්. ශානිකා මධුශානී**
   අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව
3. **පී.ඒ. ශයිනි ඉමල්ෂා**
   අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**අධ්‍යාපන අමාත්‍යාංශයේ බෞද්ධ උපදේශක මණ්ඩලයේ අනුමැතිය පරිදි, 2015 නව විෂය නිර්දේශයට අදාළ ව මෙම පොත සම්පාදනය කර ඇත.**

# පටුන

# 01 අභියෝග ජය ගත් සිදුහත් බෝසතාණෝ

දිවා කල විඩා බර බව දුරලමින් උදා වූ සවස් කාලය සිත් පහන් කරන්නක් විය. ගුවන් විදුලියෙන් ප්‍රචාරය වන්නා වූ අපූරු ගීතයක් මා සවනට වැටිණි. විශාරද වික්ටර් රත්නායකගේ මියුරු හඬින් ගීතවත් වන,

''අමා දහර දිය ගලා ගලා  
තුරු ලතා තුළින් මල් පියලි සලා  
ජය හඬින් ලොවට සිහ නද පතුරා  
ලෝසත අතරින් ජනිත වුණා''

යන ගීතය සවනට වැටෙන විට මසිත ඇදී ගියේ මෙතෙක් ලොව පහළ වූ ශ්‍රේෂ්ඨතම ශාස්තෲන් වහන්සේ වන ලොව්තුරා අමා මෑණී බුදුරජාණන් වහන්සේ වෙත ය. බෝසත් උපත මෙන් ම බෝසත් චරිතය ද අභියෝගයන්ගෙන් පිරී පැවති එකකි. බෝසතුන් ජය ගත් අභියෝග අපමණ ය. සුවිශේෂ වූ එම ජයග්‍රහණ අපට ද අගනා මග පෙන්වීමකි.

බෝසත් උපත ලොව සිදු වූ අසිරිමත් සිදුවීමෙකි. ඒ සඳහා දේව ආරාධනාව ලැබූ පසු බෝසත්වරයෙකු විසින් පංච මහා විලෝකනය මඟින් පූර්ව අධ්‍යයනයක් කරනු ලැබේ. දෙවියන් ආරාධනා කළ පමණින් ම බෝසතාණෝ එය නො පිළිගත්හ. තමාගේ අවසන් උපත සඳහා සුදුසු පසුබිම නුවණින් විමසා බැලීම පංච මහා විලෝකනයයි. සත්‍ය වශයෙන් ම එය ශ්‍රේෂ්ඨ උපත හා බැඳුණු අභියෝගයකි. සිය අරමුණ ඉටුකර ගත හැකි සාර්ථක ජීවිතයක් සඳහා පදනම සකස් කර ගත යුතු ආකාරය පිළිබඳ ව පංච මහා විලෝකනය තුළින් මනා ව පැහැදිලි වේ. ජීවිතයේ වැදගත් තීරණ ගැනීමේ දී සිතා, විමසා බලා කටයුතු කළ යුතු ය. ක්ෂණික තීරණ මත ක්‍රියා කිරීමෙන් ගැටලු ඇති වන අවස්ථා බොහෝ ය. සාර්ථක ශිෂ්‍ය ජීවිතයක් උදෙසා මෙය අපට පූර්වාදර්ශයකි. බෝසත් උපත සිදු වූ විගස පියවර තැබීමත්, බෝසත් සිරිපා පිළිගැනීමට සත් පියුම් පිපීමත්, සිංහ නාද පැවැත්වීමත් වෙනත් කිසිදු උපතක දක්නට නො ලැබුණ ආශ්චර්යවත් සිදුවීම් ය.

රාජකීය පවුලකට අදාළ සැප සම්පත් හා ආරක්ෂාව මැද වැඩුණු සිදුහත් බෝසතාණෝ රජ කුමරකුට අවශ්‍ය ශිල්ප පිළිබඳ විශේෂ පුහුණුවක් ද ලැබූහ. එනම් නීති ශාස්ත්‍රය, කඩු ශිල්පය, දුනු ශිල්පය හා ඇතුන්, අසුන් හැසිරවීම ආදී සියලු ශිල්ප ශාස්ත්‍ර පිළිබඳ පුහුණුවයි. සිදුහත් කුමරා **සර්ව මිත්‍ර** නම් බමුණු පඬිවරයාගෙන් ඉතා කෙටි කලකින් ශිල්ප ශාස්ත්‍ර උගත් බව ද සඳහන් වෙයි. ගුරුවරයා වෙතින් සියලු ශිල්ප ශාස්ත්‍ර කුමරා මැනැවින්,

කඩිනමින් ප්‍රගුණ කළේ ය. කිසි විටකත් ආචාර්යවරයාගේ සිත නොරිදවී ය. එක ම දෙය නැවත නැවත සිහිපත් කිරීමට ගුරුවරයාට අවශ්‍ය නොවී ය. සිදුහත් කුමරුගේ ළමා අවදියේ දක්නට ලැබුණු විශේෂ ලක්ෂණ වූයේ කීකරු බව, කාරුණික බව, උගන්වන දේ හොඳින් ධාරණය කර ගැනීම, මෙත් සිතුවිලිවලින් යුක්ත වීම හා නිර්භීත බව ය. කිසි විටකත් අන් අය තලා පෙළා නැගී සිටීමේ ආසාවක් නො තිබූ කුමරාණෝ නිහඬ ව සියලු ශිල්ප මැනැවින් හැදෑරීම ගැන ම සිත යොමු කරමින් කටයුතු කළහ. සිය වයසට ගැළපෙන දේ කිරීමත්, තම දෙමාපියන්ට හෝ තමාට හෝ අගෞරව වන කිසිවක් සිදු නොකිරීමත් කුමරුගේ ශිෂ්‍ය ජීවිතයේ සුවිශේෂ ලක්ෂණ ය. ධන බලය, රජ බලය ආදී සියලු සැප සම්පතින් නො අඩුව වැඩුණු කුමරාට එකල කළ නො හැක්කක් නොවී ය. එහෙත් කුමරු ඒවායින් උදම් නොවී සියල්ල විමසුම් නුවණින් යුතු ව සිදු කිරීමෙන් ම පැහැදිලි වනුයේ තරුණ ජීවිතයේ අභියෝග ඉතා සාර්ථක ලෙස ජය ගත් ආකාරයයි.

සොළොස් හැවිරිදි යෞවනයට එළඹි කුමරුන්ට සුදුසු කුමරියක සරණ පාවා දීමට පිය රජතුමාණෝ කටයුතු සූදානම් කළහ. මෙහි දී ඥාති රජවරුන් කුමරුගේ ශිල්ප ඥානය පිළිබඳ ව සැකයක් මතු කළ හෙයින්, ඥාතීන් ඉදිරියේ ශිල්ප දැක්වීමට සිදුහත් කුමරු නිර්භීත ව ඉදිරිපත් විය. එදා බොහෝ ඥාතීන් හමුවේ ධනු ශිල්පය, කඩු ශිල්පය, ඇතුන් හා අසුන් මෙහෙයවීම ආදියෙහි තමා තුළ පැවති සුවිශේෂ නිපුණත්වය කුමරු විදහා පෑවේ ඔවුන් විස්මයට පත් කරවමිනි. ඒ සිදුහත් කුමරුන් ජය ගත් තවත් අභියෝගයකි.

ස්වයංවරයකින් සුදුසු කුල කුමරිය තෝරා ගැනීමේ එදා පැවති සිරිතට අනුව කුමාරයාණෝ සුප්‍රබුද්ධ ශාක්‍ය රජුගේ රූමත් දියණිය වූ භද්දකච්චානා හෙවත් යසෝදරාව සරණ පාවා ගත්හ. යෞවනයෙකු ලෙස සරණ බන්ධනය සඳහා සුදුසු කුල කුමරියක තෝරා ගැනීමේ දී බුද්ධිමත් ලෙස තීරණ ගැනීමත්, දෙපාර්ශ්වයේ ම ආශීර්වාදය මැද සරණ මංගල්‍යය සිදු කිරීමත් යොවුන් වියේ තරුණයෙකු මුහුණ දෙන අභියෝග වේ. මේ අවස්ථාවේ බෝසත් කුමරු ක්‍රියා කළ අන්දම යෞවනයන්ට ආදර්ශයකි.

සියලු මාපියවරුන්ගේ අභිලාෂය තම පුත්‍රයා ලොව දිනනු දැකීම ය. ඒ හැඟුම සුදොවුන් මහ රජතුමා තුළ ද නො අඩු ව පැවතුණි. තම පුත් කුමරා සක්විති රජ කෙනෙකු වනු දැක්ම පිය රජතුමාගේ එක ම සිහිනය විය. ඊට බාධක වන කිසිවක් කුමරුට හමු නොවන්නට පිය රජතෙමේ කටයුතු සැලසුවේ ය. එතුමා රජ කුමරකු ලෙස සිය පුතුට උසස් කාමභෝගී ජීවිතයක් ගෙවීම සඳහා ගිම්හාන, හේමන්ත, වස්සාන යන ඍතු තුනට අනුරූප වන පරිදි රම්‍ය, සුරම්‍ය, සුභ නමින් සුඛෝපභෝගී මාලිගා තුනක් කරවා දුනි. එම මාලිගා තුළ රූමත් කුමාරිකාවෝ කුමරු පිනවීම සඳහා නැටුම්, ගැයුම්, වැයුම් පැවැත්වූහ. ගිහිගෙය සැපවත් කාමභෝගී ජීවිතයකට සුදුසු ඒකායන මග බව පෙන්වීමට අවැසි පරිසරය පිය රජතුමන් විසින් ගොඩ නංවනු ලැබ තිබුණි. එහෙත් එසේ රජ සැප විඳීම කුමරාගේ අරමුණ නොවී ය. ජීවිතයේ යථාර්ථයත් විමුක්තියත් සොයා යාම කුමරුගේ අරමුණ වූයේ ය. කාමභෝගී බව හා රජ සැප කුමරුට අභියෝගයක් විය.

ඉඳුරන් පිනවමින් අත්‍යෙප්තිකර ව කම්සැප සොයා යන අය අද මෙන් ම එකල ද සුලභ වූහ. එහෙත් ඔවුනට නොපෙනෙන පැත්තක් බෝසතාණන්ට පෙනිණ. මේ සියලු සැප සම්පත්

තාවකාලික බව දුටු කුමරාණෝ සදාකාලික සුවයක් උදා කර ගැනීමේ අභියෝගයට මුහුණ දුන්හ; අනුක්‍රමයෙන් එය ජයගත්හ. තමා කරන සියලු කටයුතු නිවැරැදි ව මැනැවින් සිදු කිරීමත් බොහෝ කරුණු සිතා විමසා බලා ක්‍රියාවට නැගීමත් බෝසත් චරිතය දක්නට ලැබෙන සුවිශේෂ ලක්ෂණයකි. බෝසත් උපත සිදුවී සත් දිනකින් මව මහාමායා දේවිය කලුරිය කළ බව අප දන්නා කරුණකි. සත්‍ය ලෙස ම සැබෑ මවු සෙනෙහස අහිමි වූව ද බෝසතාණෝ ඒ ගැන ම සිතමින් කාලය ගත නො කළහ. ළමා වියෙහිත් තරුණ වියෙහිත් දුර දක්නා නුවණින් යුතු ව කටයුතු කිරීමට කුමරු සමත් විය. මව අහිමි වූ බොහෝ දරුවන් ජීවිතය අසාර්ථක කර ගන්නා ආකාරය අපි දැක ඇත්තෙමු. එහෙත් බෝසත් කුමරුට එය දිනාගත නොහැකි අභියෝගයක් ලෙස නොපෙනුණි.

වයසින් හා නුවණින් මුහුකුරා යත් ම තමා ගත කරන ජීවිතය පූර්ණ තෘප්තියට උපකාරී නොවන බව සිදුහත් බෝසතාණෝ පසක් කළහ. මාලිගාවෙන් පිටත ලෝකයේ යථාර්ථය දැකීමට කුමරුට අවශ්‍ය විය. රජ උයනට යාම ප්‍රිය කළ කුමරුන්ට අතරමග දී සතර පෙරනිමිති දක්නට ලැබුණි. එයින් ප්‍රබල මානසික ගැටලුවක් ඇති විය. සතර පෙරනිමිති ද ඒවා හුදෙක් කායික රූප ලෙස ම නොසලකා ජීවිතයේ යථාර්ථය ප්‍රකාශ කරන කරුණු ලෙස කුමරු පසක් කර ගත්තේ ය. නිසැක ව ම ලොව උපන් සත්ත්වයා වයසට යාම, ලෙඩ වීම හා මිය යාම හෙවත් ජරා, ව්‍යාධි, මරණ යන දුක් පීඩාවන්ට ලක් වන බව කුමරු වටහා ගත්තේ ය. උපන් සියලු සත්ත්වයා මේවාට මුහුණ පාන්නේ නම් මේවායින් මිදීමට මගක් සෙවිය යුතු බව ඡන්න සමග කළ සාකච්ඡාවෙන් කුමරු තේරුම් ගත්තේ ය. සියලු යස ඉසුරු මැද දිවි ගෙවූ තරුණයකු වුව ද විමසිලිමත් බව නිසා ම ජීවිතයේ යථාර්ථය යනු තමා අත්විඳින ජීවිතය නොවන බව කුමරුට අවබෝධ විය. මහලු වීම, ලෙඩ වීම හා මරණය සමස්ත සත්ත්ව ප්‍රජාවට ම සසර මුහුණ දීමට ඇති අනිවාර්ය අභියෝග බව දකිමින් ඒවා ජය ගැනීමට එතැන් පටන් කුමරු කැප වූ බව පෙනේ.

මහල්ලකු, ලෙඩකු හා මළකඳක් දැක ජීවිතයේ ස්වභාවය තේරුම් ගැනීම හා උපශාන්ත පැවිදි රුව දැකීමෙන් සන්සුන් බවට පත් වීම බෝසත් සිරිතේ සුවිශේෂ සිදුවීමකි. නිශ්කාමී සැහැල්ලු පැවිදි ජීවිතයට ඇතුළු වීමෙන් සාංසාරික අභියෝග ජය ගත හැකි බව කුමරුට අවබෝධ වූයේ මෙකී පෙරනිමිති දැකීමෙනි. එම සිතිවිල්ල ම එදින සැහැල්ලුවෙන් ගත කිරීමට හේතු විය.

උපශාන්ත පැවිදි රුව ගැන ම සිත යොමු කරමින් සිටි බෝසතුනට මාලිගයෙන් පැමිණි පණිවුඩකරුවෙකුගෙන් අසන්නට ලැබුණේ යසෝදරා දේවිය පුතකු ලද බවයි. එවිට ම පැවිදි වීමට බාධකයක් ඇති වූ බව සිහි වී **රාහුලෝ ජාතෝ බන්ධනං ජාතං** යනුවෙන් කුමරුගේ මුවින් පිට වූ බව සඳහන් වේ. දරුවකුගෙන් වෙන් වීම පියෙකුට පහසු කාර්යයක් නොවේ. එය මහත් ම වූ ජීවිත බන්ධනයකි. නිශ්කාමී වූ පැවිදි දිවියට පත්වීමට සිතන්නකුට අභියෝගයකි. තම පුතණුවන් වෙනුවෙන් ගිහි ගෙයි රැඳුණහොත් එවන් පුතුන් සුවහසක් සසර දුකෙහි ගිලෙන බව වටහා ගත් කුමරාණෝ දුකින් මිදීමේ මග සොයා යාමේ තිර අදිටනෙහි පිහිටියෝ ය. කුමරු එම අභියෝගයට ද මුහුණ දී ජයගත්තේ ය.









තේජසින් සපිරි, එහෙත් ශාන්ත වූ, ප්‍රියංකර වූ, බෝසතුන්ගේ අනුපමේය රූප ශ්‍රීය, කිසාගෝතමිය නම් ශාක්‍ය කුමරියගේ නිබ්බුත පද තුළින් පැහැදිලි වේ. එහි දී කියවුණු **මෙවන් පුතෙකු ලද මවක් පියෙක් නිවුණෝ වෙති** යන්න බොහෝ පුතුන්ගෙන් දෙමාපියනට නො ලැබෙන ගෞරවයකි. හද්‍ර යෞවනයේ පසුවන තරුණයකු තුළින් බලාපොරොත්තු විය නොහැකි තැන්පත් ස්වභාවයක් කුමරා තුළ ඇති වූයේ ළමා වියෙහි සිට ම ය. සුදුසු වයසට සුදුසු දේ කිරීමත් විමසුම් නුවණත් නිසා ම කුමරුට බොහෝ අභියෝග ජය ගත හැකි විය. එසේ ම **මෙවැනි ස්වාමියෙක් ඇති බිරිය ද නිවීම ලැබ සිටින්නියකි** යන්නෙන් කුමරා යහපත් ස්වාමියෙකු ලෙස සාර්ථක යුග දිවියක් ගෙන ගිය බව පැහැදිලි වේ. කීකරු පුතෙකු ලෙසත්, යහපත් ස්වාමියකු ලෙසත්, සිදුහත් කුමරු ගිහි ජීවිතය ගත කිරීම සුවිශේෂ ලක්ෂණයෙකි. උපශාන්ත පැවිදි රුව දකීමෙන් පැවිදි වීමට කුමරුගේ සිතෙහි ඇති වූ ඇල්ම ඒ නිසා මඳකුදු වෙනස් නොවී ය. අධිෂ්ඨානය සහ නිවැරැදි අරමුණ කරා ගමන් කිරීමට බාහිර කිසිවක් බාධාවක් කර නොගැනීම බෝසත් සිරිතේ උදාර ලක්ෂණයකි.

ප්‍රාසාදවලින් බිමට නොබැස නළු නිළියන් පිරිවරාගෙන කමින් බොමින් විනෝදකාමී ව ගෙවන ජීවිතයෙහි හරයක් නැති බව වටහා ගත් බෝසතුන් තුළ පැවිදි වීමේ ඇල්ම දැඩි ව ඇති විය. අද මෙන් ම එදා සමාජයේ ද බොහෝ තරුණයන්ට නොලැබුණු යස ඉසුරු ලැබුව ද ඒ සියල්ල අලුයම ලූ කෙළ පිඬක් සේ ඉවත දැමීමට කුමරුගේ අධිෂ්ඨානය ප්‍රබල විය. ඒ නිසා ම එතුමාට බොහෝ අභියෝග ජය ගත හැකි විය.

පිය රජතුමාණන්ගේ එක ම අභිලාෂය වූයේ සිය පුත් කුමරා සක්විති රජකු කිරීම ය. එහෙත් පුත් කුමරාගේ අභිලාෂය වූයේ සියල්ල හැර දමා ගොස් පැවිදි වීම ය. සක්විති රජ ව සැප විඳිනවාට වඩා ලෝ සතුන් දුකින් මුදවා ගැනීම උදෙසා දුක් විඳීම බෝසතුන්ට ප්‍රිය විය. සක්විති රජුට වුව ද සසරෙහි ඉපිද ජාති, ජරා, ව්‍යාධි හා මරණ ආදී දුක් දොම්නස්වලට මුහුණ දීමට සිදු වේ. නිවන් මග සොයා ගත හොත් තමා මෙන් ම පිය රජතුමා, සුළු මව, යසෝදරාව හා පුත් කුමරු ඇතුළු සියලු ලෝ සතුන් සසර දුකින් මුදවා ගත හැකි බව සිදුහත් කුමරා තේරුම් ගෙන සිටි බව පෙනේ.

හද යෞවනයේ පසුවන්නකුට පස්කම් සැපය අත් හැරීම පහසු කටයුත්තක් නොවේ. සක්විති රජකම ද යසෝදරාව ද පුත් කුමරු ද බොහෝ සැප සම්පත් ද අත් හැරීම කුමරුට මුහුණ දීමට සිදුවූ විශාල අභියෝග විය. එහෙත් තමා ද දුකින් මිදී ලෝකයා ද එයින් මුදා ගැනීමේ අධිෂ්ඨානය බලවත් වූ බැවින් කුමරාණෝ ඒ සියලු අභියෝගයන් ජය ගෙන මහා අභිනිෂ්ක්‍රමණය කළහ; පැවිද්දෙකු වී සත්‍යය සොයා ගියහ. සය වසරක දුෂ්කර ජීවිතය ද, ගුරු ඇසුර ද ඔස්සේ විවිධ අභියෝග ජය ගනිමින් තමාගේ ම පාරමී ශක්තිය මත සියලු කෙලෙස් නැති කොට, ලොව්තුරා බුදු බවට පත් වීමට බෝසතාණෝ සමත් වූහ.

බෝසත් සිරිත සැබෑ ලෙස ම අභියෝග රැසකින් පිරී පැවතුණකි. ඒ සියල්ල කුමරු ජය ගනු ලැබුවේ ඉවසීම, කැපවීම හා අධිෂ්ඨානය මුල් කොට ගෙන ය. දම් අමා වැස්සෙන් ලෝ සතුන් නිවා සැනසිය හැකි වූයේ ද සංසාරයෙන් එතෙර වීම යන අරමුණ ඉටු කර ගත හැකි වූයේ ද විමසුම් නුවණින් කටයුතු කිරීමෙනි. අපට ශිෂ්‍ය ජීවිතයේ අභියෝග ජය ගැනීමට බෝසත් සිරිත චරිතායනය කළ හැකි ය; ආදර්ශයට ගත හැකි ය. එමඟින් අපට බෝසත් දරුවන් ලෙස ක්‍රියා කිරීමට අවශ්‍ය මානසික පරිසරය ගොඩනැගෙන බව අවංක ව ම පිළිගත හැකි ය.

## සාරාංශය



උපත, ශිල්ප හැදෑරීම, පෙරනිමිති දැකීම, නිබ්බුත පද ඇසීම, පස්කම් සුව අත් හැරීම, පිය රජුගේ අපේක්ෂාවන් ඉටු කිරීම ආදි විවිධ අභියෝගවලට මුහුණ දීමට සිදුහත් බෝසතුන්ට සිදු විය. කැපවීම, අධිෂ්ඨානය හා නිවැරැදි ගමන් මග ද ඔස්සේ එම අභියෝග ජය ගැනීමට එතුමාණෝ සමත් වූහ. එය අප සැමට ආදර්ශයකි.

## ක්‍රියාකාරකම



01 "සිදුහත් බෝසතුන් අභියෝග ජය ගත් සැටි" යන මැයෙන් පාසල් බිත්ති පුවත් පතට සුදුසු ලිපියක් සකස් කරන්න.

02 සිදුහත් බෝසත් චරිතය ඇසුරෙන් පහත සඳහන් වගුව සම්පූර්ණ කරන්න.

| අභියෝගය | ආදර්ශය |
|---|---|
| | |

## පුහුණුවට



ආරභථ නික්ඛමථ - යුඤ්ජථ බුද්ධ සාසනේ
ධුනාථ මච්චුනෝ සේනං - නළාගාරංව කුඤ්ජරෝ
(අරුණවතී සූත්‍රය)

අරඹව් නික්මෙව් යෙදෙව් බුදු සසුන්හි,
දිනව් මරසෙන් පරදා බට කැලයට වැදි ඇතෙකු සේ.

# 02 නමදිමු අගයමු මහ සඟරුවනා

පුරා වසර අනූහතක් ආයු ශ්‍රී වැළඳූ කළ අරලිය තැන්න පුරාණ විහාරාධිපති ව වැඩ සිටි අතිගරු නායක මාහිමිපාණෝ පසුගිය දා අපවත් වී වදාළහ. එදා අප ගම්මානය ම කහ පැහැති ධජ පතාකයන්ගෙන් පිරුණේ ගම් වැසියන්ගේ බලවත් සෝ සුසුම් මැදිනි. ගම් වැසි සියල්ලෝ ආදාහන පූජෝත්සවයට සැරසුණෝ ය. ගහ කොළ පවා මැලවී ගියාක් වැනි ය. හිරු සැඟවී සිටියේ ය. සියක් වසරකට ආසන්න කාලයක් තුළ නාහිමියන් වැඩම නොකළ නිවහනක් ගම්මානයෙහි නොවී ය. දනට, බණට, පිරිතට, අවමඟුලට වැඩමවමින් අපට ආගමික ආශීර්වාදය නිබඳ ව ලබා දුන් උන් වහන්සේ විහාරස්ථානය ද සියලු විහාරාංගයන්ගෙන් සම්පූර්ණ කොට ගොඩ නැංවීමට දායක කාරකාදීන්ට මග පෙන්වූහ.

අරලියතැන්න ගම්මානය ගොවිතැනින් යැපෙන, අහිංසක ගැමියන් ජීවත් වූ දුෂ්කර පෙදෙසකි. එම ගම්මානය තුළ පැවති දුෂ්කර බව සමනය කොට නව ජීවයක් ලබා දීමට නායකත්වය සැපයූවේ අපවත් වී වදාළ අප නායක මාහිමිපාණන් වහන්සේ ය. එසේ ම උන් වහන්සේ ගමේ විදුහලේ විදුහල්පති හිමියන් ලෙස ද වසර තිහක කාලයක් අනාගත පරපුර හැඩගැස්වීමෙහි ලා අමිල මෙහෙයක් ඉටු කළහ.

මංමාවත් ඉදි කිරීම, ඇළ වේලි සැකසීම, වැව පිළිසකර කිරීම, මාතෘ නිවාසයක් ගමට ලබා ගැනීම ආදී බොහෝ සමාජ සේවයන්හි ද නිරත වූ නායක මාහිමිපාණන් වහන්සේගේ මෙහෙය අගයමින් ආදාහන පූජෝත්සවයේ දී දායක සභාව විසින් පත්‍රිකාවක් බෙදා දෙන ලදි. අරලියතැන්න මහ විදුහලේ වත්මන් විදුහල්පතිතුමා විසින් රචිත එහි මෙසේ සඳහන් විය.

විහාරාධිපති හිමිනමක, විදුහල්පති හිමිනමක සහ ගැමි ප්‍රජා නායකයෙකු ද ලෙස ඉමහත් සේවයක් සිදු කළ නායක මාහිමියන් වහන්සේ වචනයේ පරිසමාප්තාර්ථයෙන් ම සිල්වත් බුද්ධ පුත්‍රයෙකි. ආගමික, සාමාජික, අධ්‍යාපනික හා ජාතික මෙහෙවරක යෙදුණ උන් වහන්සේගේ චරිතය වත්මන් ගිහි පැවිදි දෙපාර්ශ්වයට ම ආදර්ශ රැසක් සපයන්නකි.

සංසාරගත දුකින් මිදී නිවන් පසක් කරගනු පිණිස මිනිසාට මග පෙන්වනු ලබන්නේ මහා සංඝ රත්නය විසිනි. බුදුරජාණන් වහන්සේ විසින් ස්වකීය ශ්‍රාවකයන් හඳුන්වන ලද්දේ භික්ඛු නාමයෙනි. ආර්ය ශ්‍රාවක භික්ෂු සමූහය ඇතුළත් සමාජය සංඝ සමාජය හෙවත් භික්ෂු සමාජයයි. පස්වග තවුසන් මහණ වීමෙන් ඇරඹුණ එය අද දක්වා ම අඛණ්ඩ ව නොනැසී පවතී. දනට ලොව පවතින පැරණි ම පැවිදි සංවිධානය ද මෙයයි. තමා නිර්වාණය අවබෝධ කර ගැනීම පිණිසත්, අන් අයට එම මග පෙන්වීම පිණිසත් තම ජීවිතය කැප කළ භික්ෂූන් වහන්සේලා අපට කිසි ලෙසකින්වත් අමතක කළ නොහැකි ය. සංඝ රත්නය

වෙතින් ගිහියාට ඉටු වන මෙහෙය අපමණ ය. මීට හොඳ ම නිදසුන වනුයේ අපේ නායක හිමිපාණන් වහන්සේ ය.

බෞද්ධයෝ උපතේ සිට මරණය දක්වා සියලු සුවිශේෂ අවස්ථාවල දී සංඝ රත්නයේ ආශීර්වාදය ප්‍රාර්ථනා කරති. ගැබිනි මාතාවන්ට අංගුලිමාල පිරිත දේශනා කර ආශීර්වාද කිරිමේ පටන් දරුවාට නම් තැබීම, ඉඳුල් කට ගෑම, ජන්ම දින සැමරුම්, අකුරු කියවීම සිදු කළේ අප නායක හිමියන්ගේ මූලිකත්වයෙනි. විභාගවලට පෙනී සිටීම, රැකියාවට යාම, ආවාහ විවාහ වීම ඇතුළු ජීවිතයේ විවිධ වැදගත් අවස්ථාවන්හි දී ආශීර්වාද කිරීමත්, දානමය පිංකම්, පිරිත් පිංකම්, ධර්ම දේශනා, බෝධි පූජා, ආසන්න ධර්ම දේශනා පැවැත්වීමත් නායක මාහිමිපාණන් වහන්සේ ඉටුකළේ මහත් කරුණා දයාවෙනි.



අපේ ගමේ මංගල උත්සව අවස්ථාවන්හි දී බෞද්ධ චාරිත්‍ර සිදු කරනු ලැබුවේ ද නායක ස්වාමීන් වහන්සේගේ මැදිහත් වීමෙනි. ඇතැම් විට මංගල උත්සව සඳහා සුභ මුහුර්ත සකස් කිරීම ද නායක මාහිමියන් අතින් සිදු විය. ආවාහ විවාහ මංගලෝත්සව දිනට පෙර දින බුද්ධ පූජා පවත්වා මහ සඟ රුවන වෙත දානය පූජා කිරීම ද වැදගත් බෞද්ධ චාරිත්‍රයකි. එවැනි අවස්ථාවල සාර්ථක යුග දිවියක් ගත කිරීම උදෙසා අවවාද අනුශාසනා ලබා දී සෙත් පිරිත් දේශනා කිරීම ද නායක මාහිමිපාණන් වහන්සේගෙන් සිදු විය.

අවමංගල අවස්ථාවන්හි දී මහා සංඝරත්නය විසින් ආගමික වතාවත් සිදු කරනු ලැබුවේ ද නායක මාහිමිපාණන් වහන්සේගේ ප්‍රධානත්වයෙනි. මිය ගිය තැනැත්තා වෙනුවෙන් පිං පැමිණවීමට අමතර ව දුකට පත් ඥාතීන්ට අනිත්‍ය, දුක්ඛ හා අනාත්ම යන ස්වභාවයන් පැහැදිලි කරමින් සාරගර්භ අනුශාසනා පැවැත්වීමේ අපූරු කුසලතාවක් අප මාහිමිපාණන් තුළ තිබිණි.

අරලියතැන්න ගම්මානයේ වැසියෝ විවිධ අරමුණු පෙරදැරි කරගෙන පිංකම් සංවිධානය කළහ. ඒවා පන්සල, පාසල, නිවස හා රැකියා ස්ථාන ආදී කුමන ස්ථානයක පැවැත්වුව ද මූලික සිරිත් විරිත්වල වෙනසක් සිදු නොවී ය. සියල්ලෙහි උපදේශනය හා මග පෙන්වීම සිදු වූයේ නායක හිමිපාණන් වහන්සේගෙනි. පිංකම් මගින් බෞද්ධයා බලාපොරොත්තු විය යුත්තේ ලෝභ, ද්වේශ, මෝහ යන අකුසල් මුල් ක්‍රමයෙන් තුනී කර ගැනීම බව උන් වහන්සේ ධර්මානුකූල ව පෙන්වා දුන්හ.

පිංකම් පිළිබඳ චාරිත්‍ර, වාරිත්‍ර ඉටුකිරීම , පවිත්‍ර ව, ක්‍රමවත් ව, සංවිධානාත්මක ව, දකින්නන් තුළ ශ්‍රද්ධාව උපදවමින් කටයුතු කිරීම වැනි බොහෝ දේ අපට හුරු පුරුදු වූයේ පන්සල ඇසුරු කිරීමෙනි. කුමන අන්දමේ පිංකමකින් වුවත් උපදනා ශ්‍රද්ධාව, කරුණාව හා මෛත්‍රිය වැනි ප්‍රබල චිත්ත ශක්ති මිනිසා තුළ ජනිත කරවන බව නායක හිමියන් පෙන්වා දුන්නේ බුද්ධ කාලීන තොරතුරු මෙන් ම නූතන නිදසුන් ද ඇසුරිනි.

ගම් වැසියන් සාමකාමී දැහැමි දිවි පැවැත්මකට යොමු කිරීමට නායකත්වය ගෙන ක්‍රියා කරනු ලැබුවේ අපේ නායක ස්වාමීන් වහන්සේ ය. ගිහි පැවිදි සම්බන්ධය අන්‍යෝන්‍ය වශයෙන් ඉටු විය යුතු යුතුකම් මාලාවක් මත රැඳී පවතින බව බුදු දහම ඇසුරෙන් උන් වහන්සේ පැහැදිලි කර දුන්හ. පැවිදි උතුමන් විසින් ගිහි ජනයා වෙනුවෙන් ඉටු කළ යුතු කාර්යභාරය තුළින් අර්ථවත් වන්නේ ද සංඝ රත්නයේ සමාජ මෙහෙවරයි. බුද්ධ දේශනාව පරිදි ම ගිහියාගේ මෙලොව මෙන් ම පරලොව හිත සුව පිණිස මානව හිතවාදී විවිධ සමාජ සේවාවන් ද නායක හිමියන් විසින් ආරම්භ කර පවත්වා ගෙන යන ලදි.

අසරණ වූ වැඩිහිටියන් උදෙසා පවත්වා ගෙන ගිය වැඩිහිටි නිවාසය, ආබාධිතයන් උදෙසා ආබාධිත සරණ සෙවණ, ආර්ථික අපහසුතා ඇති පාසල් දරුවන් උදෙසා ශිෂ්‍යත්ව පදනම, පිහිටක් නොමැති ආබාධිත රණවිරුවන් උදෙසා වූ රණවිරු සෙවණ ආදී සමාජ සේවා ආයතන විහාරස්ථානයට අනුබද්ධ ව පිහිටුවීමට පුරෝගාමී වූයේ උන් වහන්සේ ය. තරුණ තරුණියන් සඳහා පවත්වා ගෙන ආ උපදේශන සේවය ද, ජ්‍යෙෂ්ඨ පුරවැසි වෛද්‍ය සායනය ද උන් වහන්සේ සිදු කළ සමාජ සේවාවන්ගෙන් කිහිපයකි. නායක මාහිමියන්

විසින් තමා සතු සියලු සම්පත් සම්පූර්ණයෙන් ම පාහේ යොදවනු ලැබුවේ මෙබඳු සත් කාර්යයන් වෙනුවෙනි.

ගම් වැසියන්ට විපතක් සිදු වූ සෑම අවස්ථාවක දී ම අපගේ නායක මාහිමියන් පා ගමනින් ම එම ස්ථානවලට වැඩම කළේ දිවා රෑ නොබලා ය. කඳු, හෙල්, ගිරි, ශිඛර නොතකා අවැසි තැනට වැඩම කොට අර්ථයෙන් ධර්මයෙන් අනුශාසනා කිරීම උන් වහන්සේගේ සිරිත ය. ගම තුළ සිදු වූ විවිධ අධාර්මික ක්‍රියා නවතා දැමීමත්, පවුල් ආරවුල් විසඳීමත් නායක මාහිමියන් සිදු කළේ ඉමහත් කරුණාවෙනි. ග්‍රාම නිලධාරිතුමාට විසඳිය නොහැකි වූ බොහෝ ගැටලු නා හිමියන් විසින් විසඳනු ලැබුවේ ඉතා බුද්ධිමත් ලෙස ය. කුල දරුවන් රාශියක් සසුන් ගත කර තමන් වහන්සේ කරගෙන ආ මෙහෙවර ඉදිරියටත් ගෙන යාමට කළ මග පෙන්වීම ද අතිවිශිෂ්ට ය. සියලු ම ශිෂ්‍ය යතිවරයන් වහන්සේලාට උන් වහන්සේ පියෙකු බඳු වූහ.

ප්‍රදේශයේ ගරා වැටුණු වෙහෙර විහාර ප්‍රතිසංස්කරණය උදෙසා ද උන් වහන්සේ අපමණ වෙහෙසක් දැරූ බව නො රහසකි. එය උපාසක, උපාසිකාවන් වෙනුවෙන් සංඝ සමාජයෙන් ඉටු විය යුතු යුතුකමක් ලෙස උන් වහන්සේ සැලකූහ. අපවත් වූ නායක මාහිමියන්ගේ සමාජ මෙහෙවර ගමට පමණක් සීමා වූවක් නොවේ. එය ජාතික මෙහෙවරක් ද විය. සයුරු රළ පෙළ ගොඩබිම ආක්‍රමණය කළ සුනාමි අවස්ථාවේ දී උන් වහන්සේ පෙරමුණ ගෙන ක්‍රියා කළේ නියම සංඝ පිතෘවරයාණන් වහන්සේ නමක් ලෙස ය. දානපතියන් හා අනුග්‍රාහක භවතුන්ගේ ආධාර උපකාර ඇති ව අසරණ වූ ජනතාව අරබයා ප්‍රජා සත්කාර රාශියක් ම කිරීමට නායක මාහිමියන්ට හැකි වූයේ උන් වහන්සේ තුළ පැවති ආත්මාර්ථයට වඩා පරාර්ථය උතුම්ය යන සිතිවිල්ල නිසා ය. එහි දී ජාති ආගම් කුල භේද කිසිවක් නොසැලකූ උන් වහන්සේගේ සේවය කාටත් එක සමාන විය. සුනාමිය නිසා දෙමාපියන් අහිමි වූ කුල දරුවන් පස් දෙනෙකුට උතුම් ශාසන මාවත විවර වූයේ ද උන් වහන්සේ තුළ පැවති මෙම උතුම් ගුණය හේතුවෙනි.

ගිහියා මිථ්‍යාවෙන් මුදවා සත්‍යය කරා යොමු කිරීමේ සමාජ නායකත්වය පැවරී තිබෙන්නේ මහා සංඝරත්නයට බව තේරුම් ගත් නාහිමියෝ බෞද්ධ සාරධර්ම අවවාදයෙන් මෙන් ම ආදර්ශයෙන් ද පෙන්වා දුන්හ. යොවුන් සමාජය සාරධර්ම වෙත යොමු කොට යහ මගට ගැනීමට උන් වහන්සේ තුළ වූයේ ඉමහත් උද්යෝගයකි. වැඩිහිටියන් වෙනුවෙන් විවිධ සමිති සමාගම් පවත්වා ගෙන යමින් ගුණ දහම් වර්ධනයට මග පෙන්වූයේ සියල්ලන් ම කෙරෙහි උන් වහන්සේ තුළ පැවති අනුපමේය අනුකම්පාව හා මෙත් සිතුවිලි නිසා ය.

විදුහල්පතිවරයෙකු වූ නාහිමියෝ දරුවන්ගේ අධ්‍යාපන කටයුතු කෙරෙහි මහත් උනන්දුවක් දැක්වූහ. ප්‍රාථමික පාසලක් වූ අපේ ගමේ පාසල අද මහ විදුහලක් බවට පත් වී ඇත්තේ අපවත් වී වදාළ නායක හිමියන්ගේ අප්‍රතිහත ධෛර්යය නිසා ම ය. ඒ තුළින් දෙස් විදෙස් සුපතල විද්වතුන් බිහිවීම පිළිබඳ ව උන් වහන්සේ සිහිපත් කරනු ලැබුවේ මහත් සතුටිනි. දහම් පාසල ආරම්භ කර දහම් අධ්‍යාපනය තුළින් ද නාහිමියෝ බෞද්ධ දරුවන් හැඩ ගැස්වූහ. දැහැමි ගති ගුණවලින් පෝෂණය වූ ළමා පරපුරක් බිහි කිරීමට උන් වහන්සේට හැකි වූයේ එබැවිනි.

අපවත් වී වදාළ නායක මාහිමිපාණන් විසින් සිය ආචාර්යපාදයාණන් වහන්සේ සිහි කිරීම උදෙසා ආරම්භ කරන්නට යෙදුණ පිරිවෙන ශිෂ්‍ය භික්ෂූන් වහන්සේලාගේ අධ්‍යාපනය උදෙසා දල් වූ මිණි පහනක් විය. ප්‍රාචීන භාෂා පිළිබඳ නිපුණයෙකු වූ උන් වහන්සේ නිරතුරු ව ම සිය සිසුන් ද ඒ සඳහා යොමු කළහ. පැවිදි පඬිවරු රැසක් ඒ තුළින් ජාතියට ම දායාද වූහ.

විහාරස්ථානයේ පවත්වා ගෙන යනු ලබන 'සදහම් මග' පෙර පාසල ගැන ද නායක මාහිමිපාණන් වහන්සේ විසින් විශේෂ අවධානයක් යොමු කරන ලදි. තෙරුවන ඇසුරෙන් ලොව දකින දරුවා අනාගතයේ දී හිතකාමී පුරවැසියෙකු වන බව උන් වහන්සේ තරයේ විශ්වාස කළහ. අපවත් වී වදාළ නා හිමියන් වෙතින් සිදු වූ මෙහෙය සංඛ්‍යාත්මක ව ගණනය කළ නොහැකි ය. උන් වහන්සේ නිරතුරු ව ම ගිහියාගේ ලෞකික ශුභ සිද්ධිය සඳහා මෙන් ම ආධ්‍යාත්මික සංවරය සඳහා ද මග පෙන්වූහ. පන්සල හා ගම අතර අන්‍යෝන්‍ය වශයෙන් බැඳීම අත්‍යවශ්‍ය බව උන් වහන්සේ නිරතුරු ව කල්පනා කළහ; ඒ සඳහා මග පෙන්වූහ. එම බැඳීම ගිහි පැවිදි දෙපක්ෂයට ම බෙහෙවින් ඵලදායී විය. විහාරස්ථානය මෙන් ම ගම ද සංවර්ධනය කරමින් භික්ෂු නායකත්වය යටතේ සහජීවනයෙන් ක්‍රියා කිරීමට ගම් වැසියෝ ද එමගින් පෙළඹුණහ.

නායක මාහිමියන් පෙන්වූ මග වඩින උන් වහන්සේගේ ශිෂ්‍ය යතිවරයන් වහන්සේලාගෙන් ද ඒ මහා මෙහෙවර අප වෙනුවෙන් ඉදිරියට ඉටුවනු ඇත. මේ සියලු සමාජ කාර්යයන්හි දී නායක වෙනුවෙන් හිමියන් වෙත එල්ල වූ අභියෝග ද අපමණ ය. ඒ සෑම විට ම උන් වහන්සේ රැක ගනු ලැබුවේ මහා පවුරක් ලෙසින් වට වූ ජනතාව විසිනි. එදත් අදත් නොබිය ව වීරෝදාර සෙන්පතියන් ලෙස ප්‍රබල සමාජ සේවාවන්හි යෙදෙන මහා සංඝ රත්නය රැක ගැනීම ගිහි අපගේ ප්‍රබල යුතුකමකි. උන් වහන්සේලා අපගේ කුල දෙවියෝ වෙති.

බඹරා මල නොතලා රොන් ගන්නා සේ භික්ෂූන් වහන්සේ සමාජයට බරක් නොවන ආකාරයෙන් සැදැහැවතුන්ගේ ප්‍රත්‍ය පහසුකම් අතිශයින් කාරුණික ලෙස ලබා ගත යුතු යැයි බුදුරජාණන් වහන්සේ වදාළහ. අපේ නායක මාහිමියෝ ඊට කදිම ආදර්ශයකි. අරලියතැන්න ගම්මානය සාමකාමී සහජීවනයෙන් යුත් සොඳුරු ගම් පියසක් බවට පත් වූයේ නායක මාහිමියන්ගේ බුද්ධි මහිමය නිසා ය. ගිහියා පවින් වළක්වා පිනෙහි පිහිටුවමින් මෙලොව පමණක් නොව පරලොව ද සුඛිත මුදිත කරදීම උදෙසා නිරතුරු ව ක්‍රියා කරනු ලැබූ අපේ නායක මාහිමියන්ට, තමන් වහන්සේ කළ කුසලානුභාවයෙන් ද අප විසින් සිදු කරනු ලැබූ සියලු පිං මහිමයෙන් ද අමාමහ නිවන් සුව අත්වේවා!

## සාරාංශය



ශ්‍රී ලාංකික සඟ රුවනෙහි සමාජ නායකත්වය හා ආගමික, ජාතික මෙහෙවර අතිවිශිෂ්ට ය. පුද්ගලයෙකුගේ උපතේ සිට මරණය දක්වා සෑම වැදගත් අවස්ථාවක දී ම මග පෙන්වීම හා ආශීර්වාද ලබා දෙන මහා සංඝ රත්නය රැක ගැනීම අපගේ යුතුකමක් බව දැන හැඳින ක්‍රියා කළ යුතු ය.

## ක්‍රියාකාරකම



01. භික්ෂූන් වහන්සේලාගේ පැවැත්මට ගිහියා දායක විය යුතු ආකාරය පෙන්වා දෙමින් රචනයක් ලියන්න.
02. සංඝ රත්නයෙන් සිදු වන ආගමික, සාමාජික හා ජාතික සේවාවන් තුන බැගින් වෙන වෙන ම ලියන්න.



# 03 තෙරුවන ගුණ හැඳින ගනිමු

අප පාසලේ ප්‍රියතම සිසු හමුව වන්නේ බෞද්ධ ශිෂ්‍ය සංගමයයි. එහි සාමාජිකත්වය දරන සිසු සිසුවියෝ ශික්ෂාකාමී වෙති; විනය ගරුක වෙති. ඔවුන්ගේ අනාගතය හැඩ ගැස්වීමෙහිලා එයින් සිදු වන මෙහෙය අපමණ ය. සෑම මසක ම පුන්පොහෝ දිනට පෙර දින බෞද්ධ සංගමය රැස්වීම සිරිතකි. එහි දී දහම් කරුණු පිළිබඳ විශේෂ සාකච්ඡාවක් ද පැවැත් වේ. පසු ගිය සඳුදා වෙසක් පුන්පොහෝ දිනට පෙර දිනය විය. එදින පාසලේ ධර්මාචාර්ය ස්වාමීන් වහන්සේ විසින් නියමිත ධර්ම සාකච්ඡාව මෙහෙයවන ලදි.

ස්වාමීන් වහන්සේ :-.

බෝසත් දුවේ, පුතේ, මෙතෙක් ලොව පහළ වූ ශ්‍රේෂ්ඨතම ශාස්තෲන් වහන්සේ ලොව්තුරා අමාමෑණි බුදුරජාණන් වහන්සේයි. මීට වසර 2600කට ඉහත සිදුහත් බෝසතාණන් වහන්සේ වෙසක් පුන් පොහෝ දින බුදු බව ලැබුවා. එදින බුද්ධ, ධම්ම යන රත්න දෙක ලොව පහළ වූ බව ඔබ දන්නවා. ඒ වාගේම ඇසළ පුන් පොහෝ දින සංඝ රත්නය ලොව ඇති වූ බව ද ඔබ දන්නා කරුණක්. බෞද්ධයෙකු වීමේ පළමු පියවරයි තෙරුවන සරණ යෑම. බෞද්ධයා සතු අමිල වූ මාණික්‍ය තෙරුවනයි. තෙරුවන සරණ යෑම දෙවියකු, බ්‍රහ්මයකු හෝ ගැලවුම්කරුවකුගෙන් පිහිට පැතීමට වඩා හාත්පසින් ම වෙනස් වූවක්. එහි පදනම ශ්‍රද්ධාවයි. තෙරුවන ගුණ දැන ඇති කර ගන්නා පැහැදීම ශ්‍රද්ධාවයි. ශ්‍රද්ධාවත් ප්‍රඥාවත් මුල්කර ගෙන අප තෙරුවන සරණ යා යුතු ය. තෙරුවන ගුණ මෙනෙහි කිරීමේ පහසුව සඳහා, ඒ අනන්ත වූ මහා ගුණ සමුදාය කැටි කර පෙන්වා දී තිබෙන බව ඔබ හොඳින් දන්නවා.

මේ සාකච්ඡාව ඔබට බොහොම වැදගත් වේවි. මෙයට හොඳින් සවන් දෙන්න. හොඳින් සහභාගි වන්න. ඔබට ඇති වන ගැටලු විමසන්න. අහන ප්‍රශ්නවලට පිළිතුරු දෙන්න.
වැරදුණාට කමක් නැහැ. වැරදීම තුළින් නිවැරදි දේ අවබෝධ කර ගන්න ඉඩ ලැබෙනවා. දැන් අපි ධර්ම සාකච්ඡාව පටන් ගනිමු. බුදුරජාණන් වහන්සේ බුද්ධ රත්නය ලෙස හඳුන්වන්නේ ඇයි කියල සුභා දුවට කියන්න පුළුවන් ද?

සුභා : බුදුරජාණන් වහන්සේ ලොව උපන් ශ්‍රේෂ්ඨතම ශාස්තෲන් වහන්සේ වන නිසා. උන් වහන්සේගේ අගය අර්ථවත් කිරීමට බුද්ධ රත්නය හෙවත් බුදු රුවන ලෙස හඳුන්වනු ලබනවා.

ස්වාමීන් වහන්සේ : බුද්ධ රත්නයේ ගුණ සිහි කරන "ඉතිපිසෝ" පාඨයේ ගුණ කීයක් පෙන්වා දී තිබෙනවා ද?

බුද්ධික : ගුණ රාශි, ගුණ කඳු නවය යි.

ස්වාමීන් වහන්සේ : ඒ බුදු ගුණ මොනවා ද?

තාරුකා : **අරහං, සම්මා සම්බුද්ධෝ, විජ්ජාචරණ සම්පන්නෝ, සුගතෝ, ලෝකවිදූ, අනුත්තරපුරිසදම්ම සාරථී, සත්ථා දේව මනුස්සානං, බුද්ධෝ, භගවා.**

ස්වාමීන් වහන්සේ : බුදුගුණ කියවෙන ඒ පදවල තේරුම මේ දරුවෝ දන්නවා ද?

සිසුන් : එහෙමයි, ස්වාමීන් වහන්ස.

ස්වාමීන් වහන්සේ : බුදුගුණ ඔබේ ජීවිතයට ආදර්ශයක් කර ගන්න පුළුවන් ද?

බුද්ධික : පුළුවන්. මම කැමැති 'අරහං' ගුණයට.

ස්වාමීන් වහන්සේ : බොහොම හොඳයි. අපි බලමු 'අරහං' ගුණයේ අර්ථය.

බුද්ධික : බුදුරජාණන් වහන්සේ සියලු කෙලෙසුන්ගෙන් දුරු වූ හෙයින් ද, රහසින් වත් පව් නොකළ හෙයින් ද සියලු පූජාවන් ලැබීමට සුදුසු වූ හෙයින් ද "අරහං" නම් වන සේක.

ස්වාමීන් වහන්සේ : බොහොම හොඳයි දුවේ, පුතේ, කෙලෙස් කියන්නේ සිතේ කිලිටි ගති, දුර්වලතා. පෘථග්ජන සියලු දෙනා තුළ ම දුර්වලතා තිබෙනවා. මොනවා ද මේ කෙලෙස් - දුර්වලතා?

සේපාලිකා : ලෝභ, ද්වේශ, මෝහ සහ ඒවා මුල් කරගත් පව්වු සිතිවිලි.

බුද්ධික : ඉවසීම නොමැතිකම.

සුනීතා : ඊර්ෂ්‍යාව, වෛරය, ක්‍රෝධය හා පළිගැනීම වගේ දේවල්.

ස්වාමීන් වහන්සේ : පිළිතුරු නිවැරැදි යි; ඔය සියලු ම දුර්වලතා අප තුළ පවතිනවා. තවත් විදියකට කියනවානම් ඒවා අපට වැළඳෙන රෝග. අප තුළ ඇති මේ රෝග පාලනය කර ගත හැකි නම්, පව් කරන්නට අප පෙළඹෙන්නේ නැහැ. අවංක ව ම කෙලෙස් පාලනය කර ගන්න ඕනෑ. අප කරන කියන සියල්ල පිරිසිදු

දිය බඳුනක් වගේ විනිවිද පෙනෙන්නට ඕනෑ. පව් නොකරන අය සමාජයේ ගෞරවයට පාත්‍ර වෙනවා. රහසින් වත් පව් නොකරනවා යනු අවංක වීමයි. එවැනි අය ගැන සමාජයේ විශ්වාසය ගොඩනැගෙනවා. එබඳු උතුමන් ගෞරවයට පාත්‍ර වෙනවා. පූජාවට සුදුසු වෙනවා. සැලකිලි, සත්කාර, සම්මාන ලබාගන්න අපි කැමැතියි. එහෙත් මේවාට සුදුසු කෙනා කවුද යන්න හොඳින් සිතා බැලිය යුත්තක්. ඔබ හැඳින්වූ කෙලෙස් ක්‍රමයෙන් අඩු කර ගෙන කටයුතු කළ හැකි නම් ''අරහං" ගුණය ඔබේ චරිතයට එකතු කර ගත හැකියි. ඔය දරුවෝ දන්නවනේ බුදුගුණාලංකාරය කියන පොත ගැන. අරහං බුදු ගුණය බුදුගුණාලංකාරයේ දී කවියෙන් කියල තියෙන්නේ මෙහෙමයි.

රහසත් පව් නොකොට
කෙලෙසරයනුත් දුරු කොට
නිසි වූයෙන් පුදට
අරහ යන නම කියති මුනිඳුට

බුද්ධික :- බුදුගුණ නවය ම අපට ආදර්ශයට ගන්න පුළුවන් නේ ද අපේ හාමුදුරුවනේ?

ස්වාමීන් වහන්සේ :- ඔව්. බුදුගුණ නවයක් නොවෙයි, ගුණ රාශි නවයක්. බුද්ධ රත්නයේ ගුණ අනන්තයි. බුදුගුණ චරිතායනය කිරීමෙන් සිසුන් වන ඔබටත්, ගුරුවරුන් වන අපටත් අප තුළ ඇති වෙන දුර්වලතා පාලනය කර ගත හැකි යි. ඔබ හිතනව ද එහෙම කරන්න පුළුවන් කියල?

කරුණා :- එහෙමයි අපේ හාමුදුරුවනේ, ධර්ම රත්නයේ ගුණත් අපට ආදර්ශයට ගන්න පුළුවන් නේ ද ?

ස්වාමීන් වහන්සේ : බොහොම හොඳ ප්‍රශ්නයක්. කරුණාගේ උනන්දුවත් අගය කරන්න ඕනෑ. ධර්ම රත්නයේ ගුණ කියවෙන පාඨයත් දන්නව ද ඔය දරුවො.

තාරක : එහෙමයි ස්වාමීන් වහන්ස. **ස්වාක්ඛාතෝ භගවතා ධම්මෝ, සන්දිට්ඨිකෝ, අකාලිකෝ, ඒහි පස්සිකෝ, ඕපනයිකෝ, පච්චත්තං වේදිතබ්බෝ විඤ්ඤූහීති.**

ස්වාමීන් වහන්සේ : ඒ පාඨයට අනුව දහම්ගුණ කීයද ?

| | | |
|---|---|---|
| සේපාලිකා | : | භයයි ස්වාමීනි, මට ඒ ගුණ හයේ ම තේරුම කියන්න පුළුවන්. |
| ස්වාමීන් වහන්සේ | : | බොහොම හොඳයි. තේරුම දැන ගත්තට මදි. එම ගුණ ඇසුරින් ඔබ තුළ ගුණ දහම් වර්ධනයක් ඇති කර ගන්නටත් ඕනෑ. පළමු ව අපි සන්දිට්ඨිකෝ ගුණය විමසා බලමු. |
| සේපාලිකා | :- | තමා විසින් ම පිළිපැද ඇස් පනාපිට මෙලොව දී ම ප්‍රතිඵල දැක ගත හැකි බැවින් ධර්මය සන්දිට්ඨිකයි. |
| ස්වාමීන් වහන්සේ | : | එම ගුණය ඇසුරින් ඔබ තුළ ගුණ දහම් වර්ධනය කර ගන්නේ කොහොම ද? |
| තාරක | :- | වැඩිහිටි අවවාද අනුශාසනා පිළිපැදීමෙන්. |
| බුද්ධික | : | හොඳින් පාඩම් කර විභාගයට නිවැරැදි පිළිතුරු ලිවීමෙන්. |
| ධම්මික | :- | නිවැරැදි සිරිත් පිළිපැදීමෙන්. |
| බුද්ධික | : | සාරධර්ම අනුව හැඩ ගැසීමෙන්. |
| ස්වාමීන් වහන්සේ | : | බොහොම හොඳයි දරුවනේ. ඔබ හොඳ බුද්ධිමත් පිරිසක්. නිතිපතා දහම් පාසල් යාමෙන් දහම්ගුණ ජීවිතයට එක් කර ගන්න පුළුවන්. බුදුරජාණන් වහන්සේ පෙන්වා දුන්නේ ආමිසයට වඩා ප්‍රතිපත්තිය උතුම් බවයි. ඔබේ පිළිතුරු සියල්ල ම පිළිපැදිය යුතු කරුණු. හිතට එකඟ ව ඒ අනුව කටයුතු කිරීමෙන් යහපත් ප්‍රතිඵල ලබා ගත හැකි යි. ඔබ යහපතෙහි හැසිරෙනවා නම්, ඔබට යහපත් ප්‍රතිඵල අත් දකින්න පුළුවන්. සඳුන් ගස කපන්න කපන්න සුවඳයි. ඒ වගේ නිවැරැදි දේ පිළිගැනීමෙන් තමාට ම හොඳ ප්‍රතිඵල මෙලොව දී ම ලබා ගන්න පුළුවන්. මීට වසර 2600කට පෙර බුදුරජාණන් වහන්සේ දේශනා කළ ධර්මය නූතන විද්‍යා ඥානයත් අභිබවා ගොස් තිබෙනවා. විමසුම් නුවණින් යුතු ව ධර්මය හදාරන විට අපට ම එය වටහා ගන්න පුළුවන්. |
| කරුණා | : | බුදුගුණ වගේ ම ධර්ම රත්නයේ ගුණත් අනන්තයි නේ ද ස්වාමීන් වහන්ස? |

| | | |
|---|---|---|
| ස්වාමීන් වහන්සේ | : | බොහොම හරි. බුදුරජාණන් වහන්සේ විසින් ම තම ගුරු තනතුරෙහි 'ධර්ම රත්නය' තබා ගැනීමෙන් එහි තිබෙන සුවිශේෂත්වය පැහැදිලි වෙනවා. දහම්ගුණ සිහිපත් කරමින් එම ගුණ ඇසුරින් ඔබේ ගුණ නැණ දියුණු කර ගන්න උත්සාහ කරන්න. එවිට ඔබ සාරධර්ම රකින දරුවෙකු වේවි. |
| තාරක | : | බුද්ධ රත්නය, ධර්ම රත්නය වගේ ම සංඝ රත්නයත් අපට බොහොම වටිනව නේ ද ස්වාමීන් වහන්ස? |
| ස්වාමීන් වහන්සේ | : | තාරකට එහෙම හිතෙන්නේ ඇයි? |
| තාරක | : | සංසාරගත දුකින් එතෙර වීම උදෙසා බුදුරජාණන් වහන්සේ විසින් පෙන්වා දෙනු ලැබූ ශ්‍රේෂ්ඨ ප්‍රතිපත්ති මාර්ගයෙහි ගමන් කරන ආර්ය ශ්‍රාවක වහන්සේලා තමයි මහා සංඝ රත්නය. |



| | | |
|---|---|---|
| සේපාලි | : | ශ්‍රී සද්ධර්මය ආරක්ෂා කොට පවත්වා ගෙන ඒමෙන් මහා සංඝ රත්නය විශාල වගකීමක් ඉටුකර තිබෙනවා. දැනටත් ඒ වගකීම ඉටු කරනවා. |
| ස්වාමීන් වහන්සේ | : | බොහෝම හොඳයි. එහෙම නම් අපි ඊළඟට මහා සංඝ රත්නයේ ගුණ විමසා බලමු. සුපටිපන්නෝ පාඨය ඒ සඳහා උදවු කර ගනිමු. එයට අනුව ගුණ කීයක් තිබෙනවා ද? |
| බුද්ධික | : | සඟගුණ නවයයි අපේ හාමුදුරුවනේ. **සුපටිපන්නෝ, උජුපටිපන්නෝ, ඤායපටිපන්නෝ, සාමීචිපටිපන්නෝ, ආහුනෙයියෝ, පාහුනෙයියෝ, දක්ඛිණෙයියෝ, අංජලිකරණීයෝ, අනුත්තරංපුඤ්ඤක්ඛෙත්තං ලෝකස්ස** |

| | | |
|---|---|---|
| ස්වාමීන් වහන්සේ | : | බොහෝම හොඳයි, සේපාලි කියන්න බලන්න 'සුපටිපන්නෝ' ගුණය කියන්නේ කුමක් ද කියලා. |
| සේපාලි | : | මහා සංඝ රත්නය මනා වූ පිළිවෙත් පුරන නිසා 'සුපටිපන්න' නමින් හඳුන්වනවා. |
| ධම්මික | : | පිළිවෙත් කියන්නේ ප්‍රතිපත්තිනෙ. මනා වූ පිළිවෙත් කියන්නේ අපේ හාමුදුරුවනේ? |
| ස්වාමීන් වහන්සේ | : | දරුවනේ මහා සංඝරත්නය රකින ප්‍රතිපත්ති සියලු දෙවි මිනිසුන් රකින ප්‍රතිපත්තිවලට වඩා උසස්. සඟරුවන සාමණේර කාලයේ දී සාමණේර සීලය රකිනවා; උපසම්පදා වුණාට පස්සේ උපසම්පදා සීලය රකිනවා; බොහෝ විනය ශික්ෂාවන් රකිනවා; භික්ෂූන් වහන්සේලාගේ දෛනික කාර්යයන් සිදු වෙන්නේ විනය ශික්ෂාවන්ට අනුකූල ව. මනා වූ පිළිවෙත් කියන්නේ මෙන්න මේ ප්‍රතිපත්ති මාලාව. නිවන් පසක් කිරීමට අවශ්‍ය වන මනා වූ පිළිවෙත් රකින බැවින් සඟ රුවන සුපටිපන්න නම් වෙනවා. මෙය සංඝ රත්නයට සුවිශේෂී වූ ගුණයක්. |
| කරුණා | : | ඒවා ගිහි අපට සම්බන්ධ වන්නේ කොහොම ද ස්වාමීන් වහන්ස? |
| ස්වාමීන් වහන්සේ | : | පාසල් සිසුන් වන ඔබට රැකිය හැකි ප්‍රතිපත්ති රාශියක් තිබෙනවා. ප්‍රධාන වශයෙන් ගිහියාට අයත් නිත්‍ය සීලය වන පඤ්ච සීලය ආරක්ෂා කිරීමෙන් නිවසේ සතුට සමගිය රැකෙනවා වගේ ම ජීවිත ආරක්ෂාව, දේපළ ආරක්ෂාව, පවුල් ජීවිතයේ ශිෂ්ටත්වය, විශ්වාසය, මනා සිහි බුද්ධිය හා සෞඛ්‍ය ආරක්ෂාව ඇති වන බව ඔබ දන්නවා. එපමණක් ද නොවේ, ආජීව අෂ්ටමක සීලය, ගෘහස්ථ දසසීලය ආදියත් ගිහියෙකුට රැකිය හැකි ප්‍රතිපත්ති. පාසල් දරුවන් වූ ඔබ කුමර බඹසර, කුමරි බඹසර රැකීම ද ඉතා ම හොඳ ප්‍රතිපත්තියක්. මවුපියන්ට, ගුරුවරුන්ට ඒ වගේ ම වැඩිහිටියන්ට කීකරු වීමත් හොඳ පිළිවෙතක්. |
| සුභා | : | සුපටිපන්න වූ සංඝ රත්නය රැක ගැනීමේ වගකීම තිබෙන්නේ ගිහි දායකයින්ට නේ ද ස්වාමීන් වහන්ස? |

ස්වාමීන් වහන්සේ : බොහෝම හරි. ශ්‍රී සද්ධර්මය ආරක්ෂා කොට පවත්වා ගෙන යාමෙන් මහ සඟරුවන විසින් විශාල වගකීමක් ඉටුකරනු ලබනවා. ගිහි පින්වතුන් උන් වහන්සේලා කෙරෙහි මෛත්‍රී සහගත ව ක්‍රියා කළ යුතු යි. සංඝ රත්නය ගෞරවනීය ව, සමීප ව ඇසුරු කරමින් සඟගුණ ඇසුරින් ජීවිතාදර්ශ ලබා ගන්නවා වගේ ම ශාසනික වචන ද භාවිත කරමින් උන් වහන්සේලා ඇසුරු කළ යුතුයි.

කරුණා : තෙරුවනෙහි සූවිසි ගුණ ම අපට චරිතායනය කළ හැකියි නේ ද ස්වාමීන් වහන්ස?

බුද්ධික : සූවිසි ගුණ ආදර්ශයට ගෙන ක්‍රියා කළ හොත් සැබැවින් ම අපට බෝසත් දරුවන් විය හැකියි.

ස්වාමීන් වහන්සේ : ඔව්, පින්වත් දරුවනේ, අවබෝධයෙන් යුතු ව දෛනික ව තෙරුවන වන්දනයෙහි යෙදීමෙන් ඔබේ ශ්‍රද්ධාව තව තවත් වර්ධනය වෙනවා. ජීවිතයත් සාර්ථක වෙනවා. බුද්ධිකගේ අදහසේ හැටියට බෝසත් දරුවන් වීමේ භාග්‍යය එවිට ඔබට ලැබේවි. තෙරුවන ගුණ සඳහන් පාඨ සජ්ඣායනා කිරීම යාඥා කිරීමක් නොවේ. එය ශ්‍රද්ධාවෙන් කළ යුත්තක්. එයින් සරණක් ලැබෙන්නේ, එම පාඨ මගින් පෙන්වා දෙන අර්ථ තේරුම් ගෙන, අනුගමනය කිරීමෙන් බව හොඳට සිහි තබා ගන්න.

ධම්මික : ඉස්සර මිනිස්සු ස්වභාවික වස්තු සරණ ගියේ අනවබෝධය නිසා නේ ද ස්වාමීන් වහන්ස?

ස්වාමීන් වහන්සේ : බොහොම හරි. ඒවා සරණ යාමෙන් පුද්ගලයාට සංසාරගත දුකින් මිදිය නොහැකියි. එබැවින් එම සරණ යාම උතුම් සරණ යාමක් නොවන බව බුදුරජාණන් වහන්සේ දේශනා කළා. ආර්ය සත්‍යය අවබෝධ කර ගෙන සම්පූර්ණයෙන් ම දුකින් එතෙර වීමේ මංපෙත් විවර වනුයේ තෙරුවන සරණ යෑමෙන් පමණයි. එබැවින් තෙරුවන සරණ යෑම උතුම් සරණ යෑමක් බව ධම්මපද ගාථාවකිනුත් පෙන්වා දී තිබෙනවා. අද අපේ බෞද්ධ සංගමයේ බෝසත් දරුදැරියන් වටිනා ධර්ම සාකච්ඡාවක යෙදුණා. තෙරුවනෙහි සූවිසි ගුණ හඳුනා ගත්තා. සාකච්ඡාවට හොඳින් සහභාගි වුණා. උතුම් වෙසක් පුන්පොහෝ දිනය හෙට උදා වෙනවා.

බුදුරජාණන් වහන්සේ අපට පෙන්වා දුන්නේ ආමිසයට වඩා ප්‍රතිපත්තිය උතුම් බවයි. ප්‍රතිපත්තිගරුක සමාජයක් ගොඩනැගීමේ භාර දූර වගකීම ඔබ සතුයි. තෙරුවනෙහි ගුණ සුවඳ සිතෙහි දරා ගෙන හෙට දවස පුරාවට ම ප්‍රතිපත්ති පූජාවෙහි යෙදෙන්න. මියයන තුරාවට තෙරුවන ගුණ අනුව හැඩ ගැසෙන්න. ශ්‍රද්ධාවෙන් යුතු ව එසේ ක්‍රියා කිරීමෙන් ඔබට රත්නත්‍රයේ පිහිට ලැබෙනවා. මේ සෑම දෙයකින් ම අප බලාපොරොත්තු වන්නේ සිත් සතන් පිරිසිදු කර ගැනීමත්, පිං රැස් කර ගැනීමත්, අවසානයේ දී නිවන් සුවය ලබා ගැනීමත් බව ඉගෙන ගන්න. ඒ අනුව ඔබේ ගුරු දෙගුරු පින්වත් සැමටත්, බෝසත් දරුවන්ටත් වෙසක් පුන් පොහෝ දිනයේ ඔබ සිදු කරන කුසලානුභාවයෙන් මෙලොව පරලොව සෙතක් ම වේවා! තමන් ප්‍රාර්ථනා කරන බෝධියකින් නිවන් සැප ලබා ගැනීමට භාග්‍යය උදා වේවා! යි ප්‍රාර්ථනා කරමු.

## සාරාංශය



මෙම පාඩම් ඒකකයෙන් තෙරුවනෙහි සූවිසි ගුණ සමාලෝචනය කොට ඇත. බෞද්ධයකු වීමේ පළමු පියවර වන තෙරුවන සරණ යාම අවබෝධයෙන් කළ යුතු ය. තෙරුවනෙහි ගුණ ජීවිතාදර්ශ බවට පත් කර ගනිමින් පාසල් සිසුන් වන ඔබ ජීවිතය නිවැරැදි ව ගොඩනගා ගත යුතු ය.

## ක්‍රියාකාරකම



ධර්ම රත්නයේ ගුණ ඇසුරෙන් පහත සඳහන් වගුව සම්පූර්ණ කරන්න.

| ගුණය | අර්ථය | ආදර්ශය |
| --- | --- | --- |
| | | |

## පැවරුම



දෛනික වතාවත්හි යෙදෙන විට තෙරුවන් ගුණ පාඨ නිවැරැදි ව සජ්ඣායනා කරන්න.

## පුහුණුවට



පෙරයම බුද්ධං සරණේ ගච්ඡැයි
මැදියම ධම්මං සරණේ ගච්ඡැයි
අලුයම සංඝං සරණේ ගච්ඡැයි
තුන්යමට ම තුන් සරණේ ගච්ඡැයි

බුද්ධං සරණේ සිරස දරාගෙන
ධම්මං සරණේ සිත පහදාගෙන
සංඝං සරණේ සිවුරු දරාගෙන
ඉච්ඡැයි තුන් සරණේ අදහාගෙන

(තුන්සරණය)

# 04 කුසල් සිත් වැඩි දියුණු කරමු

අපගේ සිත ලෝභ, ද්වේශ, මෝහ ආදි සිතිවිලිවලින් අපිරිසිදු වෙයි. වරෙක සංවර වෙයි. වරෙක අසංවර වෙයි. එසේ වන්නේ සිතෙහි හට ගන්නා සිතිවිලි අනුව ය. අපිරිසිදු සිතිවිලි නිසා වචනය හා ක්‍රියාව අයහපත් වන අතර පිරිසිදු සිතිවිලි නිසා වචනය හා ක්‍රියාව යහපත් වෙයි. යහපතට යෙදූ සිත අපගේ මවුපියන් කරන යහපතට වඩා යහපතක් සිදු කරන බවත් නොමගට ගිය සිත සතුරෙකුටත් වඩා අයහපතක් සිදු කරන බවත් බුදුරජාණන් වහන්සේ දේශනා කළේ එබැවිනි. සිත කිලිටි කරන, කුසල් සිත්වලට බාධා කරන සිතිවිලි, නීවරණ නමින් හැඳින්වේ. නීවරණ පහකි. ඒවා සිතෙහි හට ගැනීමෙන් ඇති වන ස්වභාවය පහත දැක්වෙන කතා පුවතින් දැනගත හැකිය.

දිනක් බුදුරජාණන් වහන්සේ වෙත පැමිණි එක්තරා බ්‍රාහ්මණයෙක් ''ස්වාමීනි මම බොහෝ දේ පාඩම් කර ඇත්තෙමි. එහෙත් දැන් ඒවා මතකයට නගා ගත නො හැකි ය. එයට හේතුව කුමක් දැයි'' විමසී ය. එවිට බුදුරජාණන් වහන්සේ යමක් මතකයෙහි රඳවා ගැනීමටත් නැවත සිහියට නගා ගැනීමටත් අපහසු වන අවස්ථා කිහිපයක් ඇති බව උපමා මඟින් මෙසේ පැහැදිලි කළහ.

ජලයට යම් කිසි වර්ණයක් එකතු කළ විට ඒ තුළ කිසිවක් නොපෙනේ. එසේ ම සිතෙහි කාම වස්තු කෙරෙහි ආශාව බහුල ව පවතී නම් යහපත් සිතිවිලි හෝ උගත් දෙය මතකයට නොනැගේ. ඒ **කාමච්ඡන්දය** සිතෙහි ක්‍රියාත්මක වන අවස්ථාවයි.

ජලය රත් වී උතුරන විට බුබුළු නැගෙන ජලයෙහි යමක් දැකිය නොහැකි ය. එසේ ම සිතෙහි තරහව ඇති විට ද යමක් මතකයට නගා ගත නොහැකි ය. **ව්‍යාපාදය** සිත තුළ ක්‍රියාත්මක වන අවස්ථාවයි ඒ.

ජලයෙහි පාසි ඇත්නම් ඒ තුළ කිසිවක් නොපෙනේ. එමෙන් ම සිතෙහි කයෙහි නිදිමත ගතිය, උදාසීනකම පවතී නම් පාඩම් කළ දෙය මතකයට නොඑයි. ඒ නිදිබර බව, උදාසීන කම හැඳින්වෙන්නේ **ථිනමිද්ධ** කියා යි.

ජලය කැළඹී ඇත්නම්, එහි කිසිවක් නොපෙනේ. එමෙන් ම සිත කැළඹුණු විට, නොසන්සුන් වූ විට මතකය අවදි නොවේ. **උද්ධච්ච කුක්කුච්ච** නමින් හැඳින්වෙන්නේ ඒ නොසන්සුන්කම සහ කළ නොකළ දේ පිළිබඳ ඇතිවන පසුතැවිල්ලයි.

බොර ජලයෙහි කිසිවක් පැහැදිලි ව නොපෙනේ. ඉන් අප තුළ උපදින්නේ සැකයයි. එසේ ම විවිධ කරුණු පිළිබඳ සිතෙහි සැකය හෙවත් **විචිකිච්ඡාව** ඇති විට මතකය අවදි

නොවේ. විචිකිච්ඡාව නම් අතීත පැවැත්ම, අනාගත පැවැත්ම, අතීත හා අනාගත පැවැත්ම ආදිය පිළිබඳ සිතේ ඇති සැකයයි. වැනෙනසුලු ගතිය හෙවත් අතීරණාත්මක බව මින් අදහස් කෙරේ. සැකය ඇති තාක් නිවැරැදි අවබෝධයක් නොලැබේ.

මේ සිතිවිලි පහ නිවන ආවරණය කරන, නිවන් මග අවුරා දැමීමට හේතු වන බැවින් **නීවරණ** ලෙස හැඳින්වෙයි. මේවා යටපත් වන ප්‍රමාණයට සිත සංවර වන අතර, සිත සංවර වන ප්‍රමාණයට නීවරණ යටපත් වේ.

සිතෙහි ස්වභාවය හා සිත කිලිටි කරන සිතුවිලි හඳුනා ගත් තැනැත්තා සිත යහපතෙහි යොදවයි. සිතට පව් සිතිවිලි ඇතුළු වීමට ඉඩ නොදෙයි. කුසල් සිතිවිලි වර්ධනය කරයි. ඒ සඳහා පුරුදු කළ යුත්තේ භාවනාවයි. බුදු දහමෙහි ඉගැන්වෙන භාවනාවෙහි පරමාර්ථය වන්නේ යහපත් අරමුණක හෙවත් කුසල් අරමුණක සිත එකඟ කර ගැනීමයි.

භාවනාව සමථ හා විදර්ශනා වශයෙන් දෙවැදෑරුම් ය. සමථය යන වචනයෙහි තේරුම සිත සන්සුන් කිරීම, විසිරී ඇති සිත එක්තැන් කිරීම යනුයි.

''භාවේති කුසල ධම්මේ ආසේවති වඩ්ඪේති ඒතායතාති භාවනා''
කුසල් දම් වැඩි දියුණු කරන මානසික අභ්‍යාසය භාවනාවයි.

''චිත්තං සමේතීති සමථෝ''
සිත සන්සුන් කරන්නේ සමථයයි.

මෙම සමථ භාවනාව සිත දියුණු කෙරෙන නිසා චිත්ත භාවනාව යනුවෙන් ද සිත සමාධිගත කෙරෙන නිසා සමාධි භාවනාව යනුවෙන් ද හැඳින්වෙයි. ඒ සඳහා මුලින් ම අප සිල්වත් විය යුතු ය. ශීලය සිත දියුණු කිරීමේ පදනමයි. ශීලය යනු ආර්ය අෂ්ඨාංගික මාර්ගයේ සම්මා වාචා, සම්මා කම්මන්ත හා සම්මා ආජීව අනුව හික්මීමයි. ශීලයෙන් යුතු ව සමාධි භාවනාව සඳහා යොමු වීමේ දී පහත සඳහන් ගුණාංග ද ඒ පුද්ගලයා තුළ තිබිය යුතු ය.

**ඉන්ද්‍රිය සංවරය** (ඇස, කන, නාසය, දිව, ශරීරය, මනස යන ඉන්ද්‍රිය සංවර කිරීම)

**සති සම්පජඤ්ඤ** (හිඳීම, සිටීම, ඇවිදීම ආදී සියලු ක්‍රියාවන්හි දී අවබෝධයෙන් යුතුවීම)

**සන්තුට්ඨිතා** (ලද දෙයින් සතුටු වීම)

සමථ භාවනාව වඩන පුද්ගලයා ආචාර්යවරයෙකුගෙන් උපදෙස් ලබා ගැනීම ද අවශ්‍ය වේ. එහි දී තමාගේ චරිතයට අනුව කර්මස්ථානයක් තෝරා ගත යුතු ය. ඒ සඳහා තෝරා ගත හැකි අරමුණු හෙවත් කර්මස්ථාන හතළිහකි. ඒ සම සතළිස් කර්මස්ථාන පුද්ගල චරිත ස්වභාවය අනුව තෝරා ගත හැකි ය. පුද්ගල චරිත හයකි. **රාග චරිත, දෝස චරිත, මෝහ චරිත, සද්ධා චරිත, බුද්ධි චරිත, විතක්ක චරිත** යනුවෙනි.

යම් කිසිවෙකු කුමන චරිතයකට අයත් දැයි දැන ගන්නේ කරුණු කීපයක් සලකා බැලීමෙනි. සිතන පතන ආකාරය, රුචි අරුචිකම්, ඇවතුම් පැවතුම් ආදිය අනුව විමසා බැලීමෙන් කෙනෙකු අයත් වන චරිතය තීරණය කළ හැකි ය. ඒ චරිතය අනුව කමටහනක් තෝරා ගැනීමට කර්මස්ථාන ආචාර්යවරයෙකුගේ උදවු ලබා ගත යුතු ය. එවැනි මග පෙන්වීමක් නොලබා තමාගේ අභිමතය පරිදි සාරමසක් මුළුල්ලේ භාවනා කොට ප්‍රතිඵල නොලැබූ, සැරියුත් හිමියන්ගේ ගෝල නමක් වූ, ස්වර්ණකාර නම් හිමි නමක් අවසානයේ බුදුරජාණන් වහන්සේ ළඟට පැමිණවීමෙන් චරිතයට සුදුසු කමටහනක් ලබා නොපමා ව රහත් ඵලයට පත් වූ කථා පුවතක් ඇත.

භාවනාවට පිවිසෙන තැනැත්තා පහත දක්වෙන පූර්ව අවශ්‍යතා ඉටුකර ගත යුතු බව ද බුදු දහමෙහි දක්වා ඇත.

| | |
|---|---|
| කල්‍යාණ මිත්‍ර ආශ්‍රය | - කුසලයට මග පෙන්වන, යහපතට යොමු කරන මිතුරන් ඇසුර |
| සිල්වත් වීම | - කය වචනය දෙකෙහි සංවර බව |
| ධර්ම ශ්‍රවණය | - නිතර නිතර ධර්මය ඇසීම |
| වීර්යය | - උත්සාහයෙන්, කැපවීමෙන් ක්‍රියා කිරීම |
| ප්‍රඥාව | - විනිවිද දකින නුවණ |

යනුවෙනි.

සක්මන් ඉරියව්ව, සිටි ඉරියව්ව, වාඩි වී හිඳීම, වැතිරී සිටීම යන සතර ඉරියව්වෙන් ම භාවනා කළ හැකි වේ. සමථ භාවනාව බුදුරජාණන් වහන්සේ ලොව පහළ වීමට පෙර පටන් භාරතීය යෝගීන් අතර භාවිත වූවකි. කාලදේවල හෙවත් අසිත තවුසා උසස් ධ්‍යාන ලාභියෙකි. සිදුහත් බෝසතාණෝ කිං කුසලගවේසී ව සිටි කාලයේ දී හමු වුණු ආලාර කාලාම තවුසා සප්ත සමාපත්ති ලාභියෙකු වූ අතර උද්දකරාම තවුසා අෂ්ට සමාපත්ති ලාභියෙකු විය. සමථ භාවනාව වැඩීමෙන් පඤ්චාභිඥා අෂ්ට සමාපත්ති ලබා ගත හැකි ය. එසේ ම දෛනික ජීවිතයට ද සමථ භාවනාවෙන් ලැබිය හැකි ප්‍රයෝජන රැසකි.

* ලෝභ, ද්වේශ, මෝහ ආදි කෙලෙස් සිතුවිලි පාලනය වේ
* ධාරණ ශක්තිය වැඩි වේ
* පොත පත පාඩම් කිරීමේදී වෙනදාට වඩා පහසුවක් දැනේ
* සිතෙහි තෘප්තිමත් ස්වභාවයක් ඇති වේ
* අසහනය නැති වී ප්‍රසන්න පෙනුමක් ඇති වේ
* කායික රෝග පීඩා අඩු වීමෙන් නීරෝගී වේ
* සිත විසිරී යාමට නොදී එකඟ කර ගැනීමට උපකාරී වේ

වර්තමාන ලෝකයේ සකල විධ අපචාරයන්ට හේතු වී ඇත්තේ මිනිසුන්ගේ විසුරුණු සිත් ය. සංකීර්ණ වූත්, කාර්යබහුල වූත්, වේගයෙන් වෙනස් වන්නා වූත් ලෝකයේ යන්ත්‍ර සූත්‍ර මෙන් ක්‍රියා කරන මිනිසාට යථාර්ථය තේරුම් ගැනීමට තිබෙන අවස්ථා අඩු ය. මේ නිසා මනස විපරීත වේ. විපරීත මනස මානසික අසහනය උපදවයි. මිනිසා නොමගට

යොමු කරන්නේ විපරීත මනසයි. ඒ මනස සන්සුන් කර ගැනීමට භාවනාව උපකාර වෙයි. දැන් අපි මෙවැනි අනුසස් ඇති සමථ භාවනාවට අදාළ බුද්ධානුස්සතිය හෙවත් බුදුගුණ භාවනාව වැඩීමට සැරසෙමු. අද අප භාවනා කරන්නේ "සුගත" බුදුගුණය අරමුණු කරගෙනයි.



පිවිසීම

බුද්ධ ප්‍රතිමාව ඉදිරිපිට භාවනා ඉරියව්වෙන් වාඩිවෙන්න.
දෑත් නළලෙහි තබා නමස්කාර පාඨය කියා, තෙරුවන සරණ ගොස් පන්සිල් සමාදන් වන්න.
වම් අත්ල මත දකුණු අත්ල සිටින සේ දෑත් තබා ගන්න.
හොඳින් හුස්ම ඉහළට ගෙන එය ක්‍රමයෙන් පහළට හෙලා කය සැහැල්ලු කර ගන්න.

පළමු පියවර

බුද්ධ ප්‍රතිමාව දෙස හොඳින් බලන්න.
"සුගත" බුදුගුණය මෙනෙහි කරන්න.
ක්‍රමයෙන් දෑස් පියාගෙන බුද්ධ ප්‍රතිමාව සිතින් දැකීමට උත්සාහ ගන්න.
සිතෙහි ඇඳුණු බුදුරුව දෙස බලා සිටිමින් සුගත බුදුගුණ අර්ථය සන්සුන් ව නැවත නැවත සිහි කරන්න.

දෙවන පියවර

සිතෙහි ඇඳුණු බුදුරුව දෙස බලා සිටිමින් පහත සඳහන් පරිදි සුගත බුදුගුණය නැවත නැවත සිහි කරන්න.

(අ) මාගේ බුදුරජාණන් වහන්සේ ආර්ය මාර්ගයෙහි ගමන් කළ හෙයින්

සුගත නම් වන සේක
සුගත නම් වන සේක
සුගත නම් වන සේක

(ආ) මාගේ බුදුරජාණන් වහන්සේ සුන්දර වූ නිර්වාණයට සැපත් වූ හෙයින්

සුගත නම් වන සේක
සුගත නම් වන සේක
සුගත නම් වන සේක

(ඇ) මාගේ බුදුරජාණන් වහන්සේ දෙලොවට ම වැඩ ඇති යහපත් වචන පවසන හෙයින්

සුගත නම් වන සේක
සුගත නම් වන සේක
සුගත නම් වන සේක

(ඈ) මාගේ බුදුරජාණන් වහන්සේ ආර්ය මාර්ගය අනුගමනය කළ හෙයින් ද නිර්වාණයට සැපත් වූ හෙයින් ද යහපත් වචන ඇති හෙයින් ද

සුගත නම් වන සේක
සුගත නම් වන සේක
සුගත නම් වන සේක

අවසානයේ,

බුදුගුණ මාගේ සිත තුළ රැඳේවා
මාගේ සිත සන්සුන් වේවා
ගුණ නුවණ දියුණු වේවා

ආදි වශයෙන් අධිෂ්ඨාන කර ගන්න. දෙවියන්ට පින් දී භාවනාව අවසන් කරන්න.

සෑම දිනක ම උදෑසන අවදි වීමෙන් පසු හෝ රාත්‍රි නින්දට යෑමට පෙර හෝ ටික වේලාවක් බුදුගුණ භාවනාව කිරීමට පුරුදු වන්න. මෙහිදී බුදුගුණ නවය පිළිබඳ අර්ථය පියවරෙන් පියවර ඉදිරියට මෙනෙහි කර භාවනා කළ යුතු ය. එසේ භාවනාව ජීවිතයට පුරුදු කර ගැනීමෙන් මානසික සුවය අත්විඳිමින් අපි ජීවිතය සාර්ථක කර ගනිමු.

# සාරාංශය



භාවනාව යනු වැඩීමයි; කුසල් සිත් වැඩීමයි. සමථ හා විදර්ශනා වශයෙන් භාවනාව දෙවදෑරුම් වේ. සමථ භාවනාව, චිත්ත භාවනාව හා සමාධි භාවනාව ලෙස ද හැඳින්වෙයි. සමථ භාවනාව කෙලෙස් යටපත් කර සිත සන්සුන් කරයි. පුද්ගලයෝ චරිත වර්ග හයකට අයත් වෙති. අදාළ චරිතය තේරුම් ගෙන ඊට අදාළ ව කර්මස්ථාන තෝරාගත යුත්තේ කර්මස්ථාන ආචාර්යවරයකුගේ මග පෙන්වීමෙනි. කර්මස්ථාන 40 කි. සීලයෙහි පිහිටා පූර්ව කෘත්‍ය සිදු කිරීමෙන් භාවනාව වැඩීම ආරම්භ කළ හැකි ය. මෙම භාවනාවෙන් පඤ්චාභිඥා අෂ්ට සමාපත්ති උපදවා ගත හැකි අතර මෙලොව ජීවිතය ද සාර්ථක කර ගත හැකි ය.

# ක්‍රියාකාරකම



1. භාවනා යන වචනයෙහි අර්ථ දක්වන්න.
2. සමථ භාවනාව මගින් යටපත් කෙරෙන නීවරණ ධර්ම නම් කර ඊට බුදුරජාණන් වහන්සේ දක්වූ උපමා ඉදිරියෙන් ලියන්න.
3. පුද්ගලයන් අයත් වන චරිත වර්ග හය සඳහන් කරන්න.

# පැවරුම



සෑම දිනක ම සවස සීලයෙහි පිහිටා දෙමාපියන් සමග මල්පහන් පූජා කොට තෙරුවන නැමද සුදුසු භාවනාවක නිරත වන්න. දිනපතා තමා ලබන අත්දැකීම් පොතක සටහන් කර විෂය භාර ගුරුතුමියට පෙන්වන්න.

# 05 විදසුන් වඩන්නෝ ඇති තතු දකින්නෝ

එක් කලෙක අප බුදුරජාණන් වහන්සේ දඹදිව සැවැත් නුවර සමීපයේ ජේතවන නම් වූ අනේපිඬු සිටුතුමාගේ ආරාමයෙහි වැඩ වසන සේක. එකල්හි මනා පැහැපත් වූ පෙනුමක් ඇති එක්තරා දෙවියෙක් මධ්‍යම රාත්‍රියෙහි මුළු මහත් ජේතවනයම බබුළුවා භාග්‍යවතුන් වහන්සේ වෙත එළඹියේ ය. එළඹ භාග්‍යවතුන් වහන්සේ වැඳ එකත්පසෙක සිටි ඒ දෙවිතෙමේ භාග්‍යවතුන් වහන්සේගෙන් ප්‍රශ්නයක් විමසුවේ ය.

''ගෞතමයන් වහන්ස, ඇතුළත අවුල් ය; පිටත ද අවුල් ය. සත්ත්ව ප්‍රජාව අවුලෙන් වෙළී සිටියි. කවරෙක් නම් මේ අවුල් නිරවුල් කරන්නේ ද?''

එවිට බුදුරජාණන් වහන්සේ මෙසේ වදාළහ.

"ශීල සංවරයෙහි පිහිටා සමාධිය හා ප්‍රඥාව ද වඩන, බුද්ධිමත් වූ, දක්ෂ වූ, කෙලෙස් නසන වීර්යය ඇති, විදර්ශනා ප්‍රඥාවෙන් යුක්ත වූ තැනැත්තා මේ අවුල් සියල්ල නිරවුල් කර ගන්නේ ය."

බුදුරජාණන් වහන්සේ විසින් එදා එම දෙවිඳුහට වදාළ ඉහත සඳහන් අදහස ඇති ගාථාවෙන් කියැවෙන සියලු අවුල් නිරවුල් කර ගැනීම නම් **සසර ඉපදීම (ජාති) මහලු ව දිරාපත් වීම (ජරා) රෝග පීඩාවන්ට ලක්වීම (ව්‍යාධි) ජීවිතය අවසන් වීම (මරණය)** ආදි වශයෙන් දැක්වෙන සසර දුකින් එතෙර වීම ය. නිවන් පසක් කරලීම ය. එය බෞද්ධයන් වන අපගේ අවසාන අරමුණයි. ඒ සඳහා පළමු ව අප සිල්වත් විය යුතු ය. බාහිර වූ කායික වාචසික සංවරය ඇති කර ගත යුතු ය. දෙවනු ව ඒ මත පිහිටා සමාධිය වැඩිය යුතු ය. එනම් අප සිත් සතන් තුළ ඇති රාග ද්වේශ මෝහ ආදි කෙලෙස් යටපත් කළ යුතු ය. ඒ සඳහා උපකාරී වන්නේ **සමථ භාවනාවයි.** එමඟින් සිත පිරිසිදු වෙයි; සමාධිගත වෙයි. එහෙත් එය තාවකාලික ය. යටපත් කරන ලද කෙලෙස් නැවත ඉස්මතු වීමෙන් සිතෙහි පිරිසිදු බව ද එකඟ බව ද නැති වී යයි; සමථය, සමාධිය බිඳ වැටෙයි. සමථ භාවනාවෙන් සිදු වන්නේ කෙලෙස් යටපත් කිරීම මිස මුලිනුපුටා දැමීම නොවන බැවිනි. එබැවින් සීලයෙහි පිහිටා සමාධිය වඩන්නා සේ ම සමාධියෙහි පිහිටා ප්‍රඥාව වැඩිය යුතු ය. එනම් සමථ භාවනා මගින් ඇති කර ගන්නා ආධ්‍යාත්මික දියුණුව මත පිහිටා සසර දුකට මුල් වන රාගාදී කෙලෙස් මුල් උදුරා දමන නුවණ ලබා ගත යුතු ය. එය විපස්සනා ඥාණය නම් වේ. ඒ සඳහා **විපස්සනා භාවනාව** වැඩිය යුතු වෙයි. එය අපට සංසාරගත දුකින් මිදී නිවන් දැකීමට උපකාරී වන්නේ ය.

විපස්සනා හෙවත් විදර්ශනා යන්නෙන් අදහස් වන්නේ යථාර්ථය මනා නුවණින් විශේෂයෙන් දැකීමයි. එනම් ඇත්ත ඇති සැටියෙන් දැකීමයි. **විසේසේන පස්සතීති විපස්සනා** විශේෂ වශයෙන් බලයි, දකියි යන තේරුමින් විපස්සනා යයි කියනු ලැබේ.



සිත් සතන්හි කෙලෙස් මල බහුලව තිබිය දී උපදවන සාමාන්‍ය නුවණ ඇත්ත ඇති සැටියෙන් දැක්මට අසමත් ය. කළුපාට උපැස් යුවළකින් ලෝකය දකින්නකු සියල්ල කළු පැහැයෙන් ම දකින්නාක් මෙන් කෙලෙස් සහිත සිත් සතන් තුළින් අපි විකෘතියක් දකිමු. විපරීත වූ ලෝකයක් ම අපට පෙනේ. එබැවින් ඇත්ත ඇති සැටියෙන් දැකීමට නම් සිත් සතන් තුළ මුල්බැස ඇති රාගාදී කෙලෙස් නැවත නූපදිනා පරිදි උදුරා දැමිය යුතු ය. ඒ සඳහා වන උතුම් වූ නුවණ විදසුන් නුවණයි. විකෘතියකින් විපරීතයකින් තොර ව ප්‍රකෘතිය ප්‍රකෘතියක් ලෙස ම දැන දැක පසක් කරන එකී විදසුන් නුවණ ලැබීමට උපකාරී වන භාවනාව විපස්සනා භාවනාවයි.

ඇත්ත ඇති සැටියෙන් දකින නුවණ බුදු දහමෙහි හඳුන්වා ඇත්තේ පඤ්ඤා යනුවෙනි. ප්‍රඥාව යනු පොත පතින් ගුරුවරුන්ගෙන් අප ලබා ගන්නා ලෝකය හා ජීවිතය පිළිබඳ දැනුම නොවේ. නොයෙක් අයුරින් හේතු සාධක දක්වා කරුණු ඉදිරිපත් කරමින් තර්ක විතර්ක කොට එළඹෙන නිගමනය ද නොවේ. ප්‍රඥාව යනු සියලු කෙලෙස් මුළුමනින් ම නැති කොට ලබන නොබිඳෙන චිත්ත පාරිශුද්ධිය තුළින් ම ඇති තතු ඇති සැටියෙන් දැකීමයි. එය සාමාන්‍ය දැක්මක් නොව විශේෂ වූ දැක්මකි. එය විපස්සනාවයි. මෙසේ විපස්සනාව ම ප්‍රඥාව වන බැවින් විපස්සනා භාවනාව ම ප්‍රඥා භාවනාව ලෙස ද හැඳින්විය හැකි ය. සමථ භාවනාව මගින් වවා වඩා ගන්නා ලද කුසල් සිතක් සහිත ස්ථිර වූ සමාධියෙන් යුක්ත තැනැත්තා අනතුරුව ප්‍රඥාව වැඩිය යුතු ය. ප්‍රඥාව යනු කුසල සිත හා එක් වූ

විදර්ශනා ඥානයයි, විශේෂයෙන් ලබා ගත් දැක්මයි, ප්‍රත්‍යක්ෂයයි, විශේෂ අවබෝධයයි, යථාර්ථාවබෝධයයි. එම අවබෝධය ඇති කර ගත හැක්කේ විදර්ශනා භාවනාව වැඩීමෙනි. විදර්ශනා භාවනාවෙන් උපදවා ගන්නා යථාර්ථාවබෝධයට ම හෙවත් ප්‍රඥාවට ම පරමාර්ථ සත්‍යාවබෝධය යයි ද කියනු ලැබේ. ලෝකය හා ජීවිතය පිළිබඳ අපට ඇති කර ගත හැකි අවබෝධය දෙයාකාර ය. එනම් **සම්මුති සත්‍යාවබෝධය** හා **පරමාර්ථ සත්‍යාවබෝධය** යනුවෙනි. සම්මුති සත්‍යය යථාර්ථය නොවේ. පරම සත්‍යය නොවේ. අපි බොහෝ විට එයින් නොමග යන්නෙමු. මුලාවට පත් වන්නෙමු. සම්මුතිය යනු සාමාන්‍ය ලෝක ව්‍යවහාරයයි. මිනිසුන් අතර ඇති එකඟතාවයි. නිදසුන් වශයෙන් 'රථය' යන යෙදුම ගනිමු. ඇත්ත වශයෙන් ම රථය කියා දෙයක් තිබේ ද? රථය යන්නෙන් අප අදහස් කරන වස්තුව සෑදී ඇත්තේ විවිධ අංගෝපාංග එක් වීමෙනි. පියවරින් පියවර එම අංගෝපාංග වෙන් කර බැලූ විට රථය යැයි කිසිවක් නැත. එංජිම, සුක්කානම, ගියර, කණ්ණාඩි, වීදුරු, ටයර් සහ ටියුබ් වශයෙන් ඒවා කොටස් කළ හැකි ය. එම කොටස් ද නැවතත් වීදුරු, ලෝහ, රබර් ආදි වශයෙන් අනුකොටස්වලට බෙදිය හැකි ය. තව දුරටත් එම අංගෝපාංග තද (පඨවි) ගතිය, ද්‍රව (ආපෝ) ගතිය, උෂ්ණ, ශීතල (තේජෝ) ගතිය, සෙලවෙන (වායෝ) ගතිය ආදි වශයෙන් ද බෙදා දැක්විය හැකි ය. මෙසේ අවසාන වශයෙන් තව දුරටත් බෙදා දැක්විය නොහැකි තත්ත්වය අවබෝධ කිරීම විපස්සනාවයි, පරමාර්ථ සත්‍යාවබෝධයයි, ප්‍රඥාව ලබා ගැනීමයි. ඒ සඳහා වන භාවනාව විපස්සනා භාවනාවයි.

ඉහත සඳහන් කළ රථය යන යෙදුම මෙන් ම සත්ත්වයා යන යෙදුම ද සම්මුතියකි. ලෝකයාගේ ව්‍යවහාරයකි. භාෂාවේ එන නාම පදයෙකි. රථය යනු විවිධාකාර වූ අංගෝපාංග සමූහයක් පමණක් වන්නාසේ ම ලෝකය යනු ද සත්ත්වයා යනු ද ස්කන්ධ සමූහයක් පමණි. ස්කන්ධ යනු ගොඩවල් ය. සමූහය, රාශිය යන තේරුම් ද ස්කන්ධ යන්නට දැක්විය හැකි ය. බුදුරජාණන් වහන්සේ විසින් පැහැදිලි කර ඇති පරිදි ස්කන්ධ පහකි.

1. **රූප ස්කන්ධය** - (ශරීරය, කය, භෞතික සැකැස්ම) පඨවි, ආපෝ, තේජෝ, වායෝ යන සතර මහා භූත - ඇස හා රූප, කන හා ශබ්ද, නාසය හා ගඳ සුවඳ, දිව හා රස, සිරුර හා ස්පර්ශය යන සාධකවල එකතුව

2. **වේදනා ස්කන්ධය** - (වින්දනය, විඳීම) සැප, දුක් හා මැදිහත් විඳීම්. ඇස-කන ආදී ඉඳුරන්ට රූප ශබ්දාදී අරමුණු හමු වූ විට සිතෙහි ඇතිවන වින්දනය

3. **සඤ්ඤා ස්කන්ධය** - (සිත් තුළ උපදින සටහන්, නිමිති) රූප සංඥා, ශබ්ද සංඥා, ගන්ධ සංඥා, රස සංඥා, ස්පර්ශ සංඥා, ධර්ම සංඥා යැයි බෙදා දැක්විය හැකි හඳුනා ගැනීම

4. **සංඛාර ස්කන්ධය** - (චේතනා, රැස් කිරීම්) කුසල කර්ම, අකුසල කර්මාදි වශයෙන් හැඳින්වෙන දිගු කලක් නැවත නැවත කිරීමෙන් ප්‍රබලත්වයට පත්වන චේතනාව පෙරටු කොට ගත් ක්‍රියා

5. **විඤ්ඤාණ ස්කන්ධය** - (අරමුණු දැන ගැනීම, විජානනය) ඇස, කන, දිව, නාසය, ශරීරය, සිත යන මෙම ඉන්ද්‍රියයන් මගින් රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධර්ම යන අරමුණු ගැනීමත් සමග ම පහළ වන දැනීම, චක්ඛු විඤ්ඤාණ, සෝත විඤ්ඤාණාදි සය ආකාර විජානනයන්

ලෝකය, සත්ත්වයා යැයි හඳුන්වනු ලබන අනිත්‍ය වූ ස්කන්ධයන් නිත්‍ය යැයි අපි දකිමු. අනිත්‍ය බැවින් දුක් සහිත වූ එම ස්කන්ධයන් සැප යැයි දකිමු. දුක් සහිත බැවින් මගේ ය මම ය, මගේ ආත්මය යැයි නොසැලකිය යුතු වූ එම ස්කන්ධ මගේ ය, මම ය, මගේ ආත්මය යැයි ද දකිමු. අසුභ වූ එම ස්කන්ධයන් සුභ යැයි ද අපි හඳුනා ගනිමු, සිතමු, දකිමු. මෙය විපරීත වූ හැඟීමකි, සිතීමකි, දැකීමකි. විදර්ශනා භාවනාව ඉහත කී විකෘතියෙන් ප්‍රකෘතිය වෙත අපගේ දැක්ම ගෙන එයි. අනිත්‍ය වූ ස්කන්ධාදී ධර්ම අනිත්‍ය යැයි ද දුක් සහිත වූ එම ධර්ම දුක් සහිත යැයි ද අනාත්ම වූ එම ධර්ම අනාත්ම යැයි ද අසුභ වූ එම ධර්ම අසුභ යැයි ද ඇත්ත ඇති සැටියෙන් දැන, දැක ගත හැක්කේ විපස්සනාවෙනි. මෙසේ ලෝකයා සත්ත්වයා යැයි කියනු ලබන ස්කන්ධ ධර්මයන්ගේ යථාර්ථය වන අනිත්‍ය දුක්ඛ අනාත්ම යන ත්‍රිලක්ෂණ ධර්මයන් ප්‍රත්‍යක්ෂ වශයෙන් දැන, දැක ගන්නා භාවනාව වන බැවින් එය **ත්‍රිලක්ෂණ භාවනාව** ලෙස ද හැඳින්වේ. එම යථාර්ථාවබෝධය ම සියලු දුක් නැති කරයි; නිවන් සුවයට පමුණුවයි.

සමථ භාවනා මගින් කුසල ධර්මයන් අරමුණු කොට එකඟ කර ගත් සිත් ඇත්තවුන් විසින් විදර්ශනාව වැඩීමේ දී ස්කන්ධ ධර්මයන් අනුව ත්‍රිලක්ෂණය මෙනෙහි කළ යුත්තේ මෙසේ ය.

රූපය අනිත්‍ය ය. නිත්‍ය, ස්ථිර, සදාකාලික නොවන්නේ ය. බිඳවැටෙන සුලු ය. නැසෙන සුලු ය.

රූපය අනිත්‍ය වන බැවින් දුක් සහිත ය. එහි සැපතක් සුවයක් නොවන්නේ ය. දුක ම උපදවන සුලු ය.

රූපය දුක් සහිත වන බැවින් අනාත්ම ය. මගේ ය, මම ය, මගේ ආත්මය යැයි සැලකිය නොහැකි ය. ආත්ම ස්වරූපයෙන් තොර ය.

ඉහත දක්වන ලද සෙසු ස්කන්ධ පිළිබඳ ව ද මේ ආකාරයෙන් ම වේදනාව අනිත්‍ය ය, අනිත්‍ය වන බැවින් දුක ය, දුක් සහිත වන බැවින් අනාත්මය ආදී වශයෙන් විපස්සනා කළ යුතු ය. දිගු කලක් පුරුදු පුහුණු කළ යුතු ය. ස්කන්ධ ධර්මයන්ගේ යථාර්ථය වන ත්‍රිලක්ෂණ අවබෝධය තහවුරු කර ගත යුතු ය.

යම් කලෙක ආර්ය ශ්‍රාවකයා රූප, වේදනා, සඤ්ඤා, සංඛාර, විඤ්ඤාණ යන සංස්කාර ධර්මයන් අනිත්‍ය යැයි ද, එම ධර්මයන් අනිත්‍ය වන බැවින් දුක් සහිත යැයි ද, දුක් සහිත වන බැවින් අනාත්ම යැයි ද මනා නුවණින් දකියි ද එය ම විශුද්ධිය නම් වූ නිවනට මග යැයි බුදුරජාණන් වහන්සේ වදාළහ. මේ අනුව නැවත නැවතත් අනිත්‍ය, දුක්ඛ, අනාත්ම, යන ත්‍රිලක්ෂණය නම් වූ විශ්ව සාධාරණ සත්‍යය මෙනෙහි කිරීම, සිත්හි ලා වැඩීම,

ප්‍රගුණ කිරීම, විදර්ශනා භාවනාවයි. එසේ මෙනෙහි කොට ඇත්ත ඇති සැටියෙන් දක්නා තැනැත්තා රූප, වේදනා, සඤ්ඤ, සංඛාර, විඤ්ඤණ යන ලෝකය, සත්ත්වයා යැයි කියනු ලබන ස්කන්ධ ධර්මයන් කෙරෙහි කලකිරෙයි. එම ධර්ම අනිත්‍ය ය, දුක ය, අනාත්ම යැයි අවබෝධ වීමෙන් එසේ කලකිරෙන හෙතෙම ඒ කලකිරීම නිසා ම එම ධර්මයන් කෙරෙහි නොඇලෙයි. ඔහු තුළ ඇති ඇල්ම දුරු වේ. නොඇල්ම ඇති බැවින් හෙතෙම රාග, ද්වේශ, මෝහ ආදී කෙලෙසුන්ගෙන් මිදෙයි. මිදුණු කල්හි මිදුණේ යැයි, නුවණ පහළ වෙයි. එයින් ම සසර ඉපදීම අවසන් කොට නිවන් සුවය ලබා ගනියි. ප්‍රඥාව උපදවන බැවින් ප්‍රඥා භාවනාව යැයි ද, ත්‍රිලක්ෂණ අවබෝධ කරවන බැවින් ත්‍රිලක්ෂණ භාවනාව යැයි ද හැඳින්වෙන විපස්සනා භාවනාව අපගේ සාමාන්‍ය සම්මුති නුවණ ඉක්මවා ඇත්ත ඇති සැටියෙන් දැකීම (යථාභූතඤාණ දස්සනය) නම් වූ පරමාර්ථ සත්‍යාවබෝධය ඇති කරන්නේ ය. එමඟින් නිවන් සාදා දෙන්නේ ය.

තිලකුණු දැකීම, නිවන් අවබෝධයෙන් මෙපිට මෙලොව පරලොව සසර ජීවිතයේ දී ද නොයෙක් අයුරින් ඵලදායක වෙයි. තිලකුණු පිළිබඳ මනා අවදිකමින් යුත් පුද්ගලයා ගත කරන්නේ චාම් අල්පේච්ඡ ජීවිතයකි. හෙතෙම යථාර්ථය දක්නා බැවින් අසීමිත ආශාවෙන් හෙවත් මහිච්ඡතාවෙන් තොර වෙයි. අවම බලාපොරොත්තු ඇත්තේ වෙයි. කවර සම්පතෙක කුමන සුවයෙක වුව ද ගිජු වීමෙහි අරුතක් නැතැයි හෙතෙම දකියි. ලද පමණින් සතුටු වෙයි. පහසුවෙන් පෝෂණය කළ හැක්කෙකු වෙයි. බොහෝ වැඩ කටයුතුවලින් තොර වෙයි, විවේකී වෙයි.

තිලකුණු දන්නා තැනැත්තා අකම්පිත ය. අටලෝ දහමින් නොසැලෙයි. සියල්ල අනිත්‍ය බවත්, දුක් සහිත බවත්, අනාත්ම බවත් දන්නා හෙතෙම ලාභ අලාභාදී කිසිවක් නිසා උද්දාමයට, සතුටට මෙන් ම කම්පනයට ද දුකට ද පත් නොවේ. සිව් දිගින් හමනා සුළඟිනුදු කම්පා නොවන ඉන්ද්‍රඛීලයක් සේ දිවි ගෙවයි. හෙතෙම උපේක්ෂා සහගත ය. මැදිහත් ව සිතන්නේ ය. අන්තගාමී නොවේ; අන්තවාදී නොවේ. දර්ශනයෙන් මෙන් ම චරණයෙන් ද මැදිහත් අයකු වෙයි. දෘෂ්ඨියකට නොවැටෙයි. හෙතෙම අනතිමානී ය. අතිමානයෙන් තොර වන්නේ ය. අතිමානයෙහි අරුතක් නැතැයි දනී. හෙතෙම අනතිමානී වන බැවින් ම ආචාරශීලි ය. සමාජශීලි ය. මෙසේ ඉතා දියුණු පෞරුෂයක් ඇති චරිතවත් ජීවිතයක් ගත කිරීමට ද ත්‍රිලක්ෂණ භාවනාව හෙවත් විදර්ශනා භාවනාව තුළින් හැකියාව ලැබෙන්නේ ය.

## සාරාංශය

විදර්ශනා යනු විශේෂ අවබෝධයයි. ඒ සඳහා බුදු දහමෙහි ඉගැන්වෙන භාවනාව විදර්ශනා භාවනාව ය. එම භාවනාව ත්‍රිලක්ෂණය මෙනෙහි කිරීමට උගන්වන බැවින් ත්‍රිලක්ෂණ භාවනාව ලෙස ද එමඟින් සසර දුකින් මුදාලන ප්‍රඥාව ලබා දෙන බැවින් ප්‍රඥා භාවනාව ලෙස ද හැඳින්වේ. සමථ භාවනා මඟින් යටපත් කරන ලද කෙලෙස් නැවත මතුවීම වළකාලමින් එම කෙලෙස් මුලිනුපුටා දමන මෙම භාවනාව උසස් චරිත සංවර්ධනයක් ඇති කරන අතර නිවන් සැප ලබා ගැනීමට ද උපකාරී වේ.

## ක්‍රියාකාරකම



01. විපස්සනා භාවනාව එනමින් හැඳින්වෙන්නේ ඇයි? පැහැදිලි කරන්න.

02. ප්‍රඥා භාවනා ලෙස ද විපස්සනා භාවනාව හඳුන්වනු ලැබීමට හේතු දක්වන්න.

## පැවරුම



ඔබේ පවුලේ අය සමග සාකච්ඡා කොට භාවනා මධ්‍යස්ථානයකට ගොස් එක් දිනක් හෝ භාවනා පුහුණුවක යෙදෙන්න.

# 06 සසුන් කෙත සරු කළ, උතුමෝ ගුණැති පෙර කල

ලක්වැසියන් වන අප සතු ව ඇත්තේ අභිමානවත් දීර්ඝ ඉතිහාසයකි. එම ඉතිහාසය තුළ මෙරට පහළ වූ ශ්‍රේෂ්ඨ පැවිදි උතුමන් රාශියක් ගැන අපි අසා ඇත්තෙමු. උන් වහන්සේලා නොයෙක් ආකාරයෙන් නොමැකෙන මෙහෙවරක් ඉටු කළ නිසා ම කිසි කලෙකත් අපට අමතක කළ නොහැකි ය.

මේ අතර එබඳු මෙහෙවරක් අප වෙනුවෙන් ඉටු කළ ගිහි උතුමන් ගැන ද ඉතිහාසයේ සඳහන් වේ. නොයෙක් පැතිවලින් සිදු කර ඇති මහ මෙහෙවර නිසා ම එම ගිහි උතුමෝ ද අමරණීයත්වයට පත් ව සිටිති. එසේ රට දැය සමය වෙනුවෙන් මහත් කැපවීමකින් මහ මෙහෙවරක් කළ ශ්‍රේෂ්ඨ සංඝ පිතෘවරයෙකු හා නරපතියකු ගැන සාකච්ඡා කිරීම මෙම පාඩමෙහි අරමුණයි. පාසල් සිසුන් වන අපට එම උතුමන්ගේ ජීවන චරිත තුළින් ගත හැකි ආදර්ශ බොහෝ ය. අප එම චරිත නිරතුරු ව ම සිහිපත් කළ යුතු ය. එම උතුම් මග ආදර්ශයට ගත යුතු ය.

## වැලිවිට අසරණ සරණ සිරි සරණංකර සංඝරාජ මාහිමිපාණන් වහන්සේ

මහනුවර යුගය (ව්‍ය.ව. 1480 - ව්‍ය.ව. 1815) ලක් ඉතිහාසයේ සුවිශේෂ සන්ධිස්ථානයකි. ඈත අනුරාධපුර යුගයෙන් ඇරඹෙන අපේ ලක් ඉතිහාසයේ යුග ගණනාවක් පසු කළ විට මෑත මහනුවර යුගය හමු වේ. එම යුගය තුළ විවිධ අර්බුද ඇති වූ බව ඓතිහාසික තොරතුරුවලින් අනාවරණය වේ. පෘතුගීසි, ලන්දේසි ආදී බටහිර ජාතීන් මුහුදුබඩ ප්‍රදේශ අල්ලා ගැනීම මේ අර්බුදවල එක් අවස්ථාවකි. කන්ද උඩරට රාජධානිය නායක්කර් වංශික අබෞද්ධ රජවරුන්ගේ පාලනයට යටත් වීමෙන් දාහත් වන සියවසේ මැද භාගය වන විට දේශීය බෞද්ධ සංස්කෘතිය ක්‍රමයෙන් පරිහානියට පත් වන්නට විය. ශාසනික පරිහානිය ද එහිලා කැපී පෙනුණි. එක් උපසම්පදා භික්ෂුවක් හෝ සොයා ගැනීම අසීරු විය. වැලිවිට සරණංකර සඟරජ හිමිපාණන් පහළ වූයේ මෙබඳු පරිහානි යුගයකයි.

උන් වහන්සේ උඩරට තුම්පනේ ප්‍රදේශයේ වැලිවිට නම් ගමේ ව්‍ය.ව. 1698 ජූනි 18 වැනිදා සැඳැහැවත් හෙළ බොදු කුලයක උපත ලැබූහ. ඒ පින්වත් කුල කුමරුගේ ගිහි නම කුලතුංග බණ්ඩාරයි. වයස අවුරුදු 16 දී මහනුවර සූරියගොඩ විහාරයේ වැලිවිට සරණංකර නමින් පැවිදි බව ලැබූ මේ පින්වත් කුල කුමරුවා තුළ උපතින් ම බොහෝ වාසනා ගුණ ඇති බව ගුරු දෙගුරුන්ට පෙනී ගියේ ය.

ඇති වී තිබූ සංස්කෘතික පරිහානිය නිසා පොත්පත් මෙන් ම ගුරුවරුන් ද සොයා ගැනීම ඉතා ම දුෂ්කර වූ මේ යුගයේ සරණංකර හිමිපාණන් වහන්සේට අවශ්‍ය අධ්‍යාපනය ලබා ගැනීම ගැටලුවක් විය. උන් වහන්සේට සිදු වූයේ ගුරුවරුන් සොයා දුර බැහැර ප්‍රදේශවලට ගොස් බොහෝ දුෂ්කරතා මැද පාලි භාෂාව හා ධර්ම විනය ඉගෙනීමටයි. උත්සාහය හා කැපවීම අත් නොහළ සරණංකර හිමිපාණන් බොහෝ දේ උගත්තේ ස්වෝත්සාහයෙනි. සිංහල, පාලි, සංස්කෘත, බුද්ධ ධර්මය, කාව්‍ය ශාස්ත්‍රය හා තවත් බොහෝ විෂයයන් පිළිබඳ ව හසළ දැනුමක් ලබා ගැනීමට උන් වහන්සේට හැකි විය.

ශික්ෂාකාමී අල්පේච්ඡ ජීවිතයක් ගත කිරීමට කැමැති වූ වැලිවිට සරණංකර ස්වාමීන් වහන්සේ පැවිදි වූ දා සිට ම යැපුණේ පිඬුසිඟා වැඩීමෙන් ය. එබැවින් පිණ්ඩපාතික සරණංකර හිමි යනුවෙන් ද ගමින් ගමට වඩිමින් දහම් දෙසමින් අසරණයන්ට පිහිට වූ බැවින් අසරණ සරණ සරණංකර හිමි යන නමින් ද උන් වහන්සේ ප්‍රසිද්ධ වූහ. බුද්ධ ශාසනය මෙන් ම බෞද්ධ සමාජය ද මේ වන විට මුහුණ දී තිබූ කනගාටුදායක තත්ත්වය ශාසනමාමක බොහෝ දෙනාගේ අවධානයට ලක් වූවකි. භික්ෂු නමින් පෙනී සිටි ඇතැම්හු අඹු දරුවන් පෝෂණය කළහ; ධනවත් රදල පවුල්වලට පණිවිඩ ගෙන යාම් ආදී මෙහෙවර ඉටු කළහ.



*කීර්ති ශ්‍රී රාජසිංහ රජතුමා විසින් වැලිවිට ශ්‍රී සරණංකර නාහිමියන්ට සංඝරාජ පදවිය පිරිනැමීම*

ඔවුහු ධර්ම විනය පිළිබඳ ව දැනුමෙන් මෙන් ම ශික්ෂණයෙන් ද පිරිහී සිටියෝ ය. උගත් භික්ෂූන් හා ගිහියන් සිටියේ අතලොස්සකි. ඔවුන් ද විටෙක චරිතයෙන් පිරිහී සිටි බව සඳහන් වේ. කලින් පැවති අධ්‍යාපන ආයතන අභාවයට ම ගොස් තිබිණ. උපසම්පදාවකට අවශ්‍ය භික්ෂූන් වහන්සේලා සොයා ගැනීමට නොහැකි තරමට ශාසනික තත්ත්වය පහත වැටී තිබුණි.

මේ කාලයේ දී සරණංකර මාහිමිපාණෝ මෙම පරිහානියෙන් සසුන නඟා සිටුවිය යුතු යැයි අධිෂ්ඨාන කර ශාසනමාමක පිරිස් සංවිධානය කර ගත්හ. ඒ අනුව **සිල්වත් සමාගම** නමින් සංවිධානයක් පිහිටුවා ගන්නා ලදී. දුසිල්වතුන්ගේ බාධක හිරිහැර මැද පා ගමනින් ගම් දනව් සිසාරා වඩිමින් ධර්මය දේශනා කරමින්, පැවිදි වීමට කැමැති බොහෝ පිරිසක් සිල්වත් සමාගමට එක් කර ගැනීමට අප හිමිපාණන්ට හැකි විය. එසේ ම සරණංකර මාහිමියෝ බොදු දරුවන්ගේ ශාසනමාමක බව ද දියුණු කිරීමට ක්‍රියා කළහ; ධර්මඥානය මෙන් ම වත් පිළිවෙත් ද ප්‍රගුණ කර සසුනේ චිර පැවැත්ම කැමැති භික්ෂූන් වහන්සේලා බිහි කිරීමට කටයුතු කළහ.

උපතින් වයස අවුරුදු පනහ ඉක්මවුව ද සරණංකර සාමණේර හිමිපාණන් වහන්සේට උපසම්පදාව ලබා ගත නොහැකි විය. ඊට හේතුව උපසම්පන්න භික්ෂූන් එකල මෙරට නොසිටීමයි. සරණංකර හිමිපාණෝ කීර්ති ශ්‍රී රාජසිංහ රජතුමාගේ උදවු ඇතිව උපසම්පදා භික්ෂූන් වහන්සේලා පිරිසක් මෙරටට වැඩම කර ගැනීම සඳහා දූත පිරිසක් සියම් (තායිලන්තය) රටට යැවීමට කටයුතු කළහ. සියම් රජතෙමේ උපාලි මහ තෙරුන් වහන්සේ ප්‍රමුඛ උපසම්පදාලාභී භික්ෂූන් වහන්සේලා විසි නමක් ලක්දිවට එවී ය. ව්‍ය.ව. 1753 දී සියම් රටින් පැමිණි මේ භික්ෂූන් වහන්සේ වෙතින් සරණංකර මාහිමිපාණන් ඇතුළු හය නමක් උපසම්පදාව ලබා ගැනීමෙන් ලක්දිව ශාසනික පුනරුදයක් ඇති විය. එහි දී සරණංකර මාහිමියන් වහන්සේ මුලින් ම උපසම්පදාව ලබා නොගෙන සිල්වත් සමාගමේ අනෙක් සිල්වතුන්ට මුල්තැන දුන් බව සඳහන් වේ. ඒ උන් වහන්සේ තුළ පැවති අනතිමානි ගුණය නිසා ය. සියම් මහා නිකාය නමින් හැඳින්වෙන භික්ෂූ පරපුර ශ්‍රී ලංකාවේ ඇති වූයේ මෙම උපසම්පදාවෙන් පසු ව ය. උගත්කමින් හා ශික්ෂාකාමිත්වයෙන් අගතැන්පත් සරණංකර ස්වාමීන් වහන්සේ විසින් ලක්දිව බුදු සසුන නඟා සිටුවීමට කරන ලද සුවිශාල මෙහෙවරට උපහාර වශයෙන් කීර්ති ශ්‍රී රාජසිංහ රජතුමා විසින් සඟරජ පදවිය පිරිනමන ලදී. එහෙත් එම පදවිය නිසා උන් වහන්සේ උද්දාමයට පත් වූයේ නැත. සිය ආරාමයට වැඩි වහා ම තල් පතක් ගෙන තමාට ම අවවාද වශයෙන් **උඩඟු නොව මහණ** යන වචන තුන ලියා පිවිසුම් දොරටුවෙහි අලවා තැබූහ.

උඩුනුවර නියම කන්දේ පිරිවෙනක් පිහිටුවීමෙන් හා අනුරාධපුර, දඹුල්ල, පොලොන්නරුව ආදී බෞද්ධ සිද්ධස්ථාන ප්‍රතිසංස්කරණය කරවා නිසි පරිදි පුද පූජා පැවැත්වීමට උන් වහන්සේ කටයුතු කළහ. මෙසේ බෞද්ධ පුනර්ජීවනය සඳහා විශාල මෙහෙවරක් වැලිවිට සරණංකර සංඝරාජ මාහිමිපාණන් විසින් ඉටු කරන ලදි. මහනුවර පැවැත්වූ දේවාල පෙරහැරට ශ්‍රී දන්ත ධාතූන් වහන්සේට උපහාර දැක්වීමේ මාලිගාවේ මහ පෙරහැර ද එක් කරන ලද්දේ උන් වහන්සේගේ උපදෙස් අනුව ය.

ධර්ම විනය පිළිබඳ විශාරද භික්ෂූන් වහනසේ නමක් වූ වැලිවිට අසරණ සරණ සිරි සරණංකර සංඝරාජයාණන් වහන්සේ විසින් රචිත ධර්ම ශාස්ත්‍රීය ග්‍රන්ථ රැසකි.

1. මුණිගුණාලංකාරය
2. සාරාර්ථ සංග්‍රහය
3. රතනත්‍රය ප්‍රණාම ගාථා සන්නය
4. සතර බණවර සන්නය යනාදිය ඒවායින් කිහිපයකි.

අවුරුදු අසූවක් ලෝක ශාසන සේවයේ යෙදුණු උන් වහන්සේ ව්‍ය.ව. 1778 ඇසළ පුර පසළොස්වක පොහෝ දින අපවත් වී වදාළහ. මෙසේ මෙරට ගිහි පැවිදි බෞද්ධ ජනතාව වෙනුවෙන් මෑත යුගයේ අසමසම මෙහෙවරක් ඉටු කරමින් පරිහානියට පත් සම්බුද්ධ ශාසනය නැවත ප්‍රතිෂ්ඨාපනය කිරීමට වැලිවිට අසරණ සරණ සිරි සරණංකර සංඝරාජ මාහිමියන් වහන්සේ ක්‍රියා කළහ. උන් වහන්සේගේ චරිතයෙන් අපට ලබා ගත හැකි ආදර්ශ කීපයක් මෙසේ ය.

- ★ ත්‍රිවිධ රත්නය පිළිබඳ ව අපරිමිත ශ්‍රද්ධාවෙන් යුක්ත වීම
- ★ ශික්ෂාකාමී ව හා අල්පේච්ඡ ව ජීවත් වීම
- ★ විවිධ දුෂ්කරතා මැද වුවද අධ්‍යාපනය පිළිබඳ දැඩි ඇල්මක් දැක්වීම
- ★ සිසු දරුවන්ට උදවු කිරීමට තිබූ කැමැත්ත
- ★ නිරහංකාර බව
- ★ ස්ථිර අධිෂ්ඨානය

## දුටුගැමුණු මහ රජතුමා

**"මාගේ මේ ව්‍යායාමය බුද්ධ ශාසනයේ චිරස්ථිතිය පිණිස මිස කිසි කලෙකත් රජ සැප පිණිස නොවන්නේ ය."** යනු දුටුගැමුණු රජතුමාගේ අභීත සටන් පාඨයයි. එහි පරමාර්ථය වූයේ දශක ගණනාවක සිට විනාශ මුඛයට යමින් පැවැති දේශීය ස්වාධීනත්වය ආරක්ෂා කර ගනිමින් විදේශ පාලනයෙන් රට, ජාතිය, ආගම මුදා ගැනීමයි. විදේශීය පාලනයෙන් රට මුදා ගෙන එක්සේසත් කිරීම නිසා එතුමා ඓතිහාසික යුග පුරුෂයෙකු වූ බව ප්‍රකට ය. එසේ ම එතුමන් විසින් සම්බුද්ධ ශාසනයේ චිරස්ථිතියත් සංවර්ධනයත් උදෙසා දැවැන්ත මෙහෙවරක් ඉමහත් ශ්‍රද්ධාවෙන් හා ඕනෑකමින් ඉටු කරන ලදි. එතුමා රුහුණු රජ පෙළපතට අයත් කාවන්තිස්ස රජතුමාගේ හා විහාර මහා දේවියගේ වැඩිමහල් පුත්‍රයා ය. හෙතෙම තම බාල සොහොයුරු තිස්ස කුමරු සමග දෙමාපියන්ගේ මග පෙන්වීම යටතේ මහා සංඝරත්නයේ අවවාද අනුශාසනා ලබා හැදී වැඩුණේ ය.

මේ වකවානුවේ අනුරාධපුරය අගනගරය කොට ලක්දිව පාලනය කළේ එළාර නම් ද්‍රවිඩ රජ කෙනෙකි. මහාවංශයේ සඳහන් පරිදි එළාර රජු සාධාරණ දැහැමි පාලකයෙකි. ඔහුට පෙර මෙරට බලය අල්ලාගෙන සිටියේ සේන, ගුත්තික යන දකුණු ඉන්දියානු ආක්‍රමණිකයන් ය. මේ අවාසනාවන්ත තත්ත්වයෙන් රට බේරා ගෙන බුදු සසුන ආරක්ෂා කිරීම යුගයේ අවශ්‍යතාවක් වූයේ ය.

විදේශ බලවේග හමුවේ සටන් කොට රට දය සමය බේරා ගැනීමට ගැමුණු කුමරු ඉමහත් කැපවීමෙන් හා උනන්දුවෙන් ක්‍රියා කළේ ය. කුමරුගේ මේ අපේක්ෂාවන්ට පිය රජතුමා මුලින් අකැමැති වූයේ ඒ සඳහා සුදුසු කාලය නොවන බව ප්‍රකාශ කරමිනි. පියතුමාගේ එකඟ නොවීම නිවටකමකැයි ගැමුණු කුමරා සිතුවේ ය. මේ පිය පුතු ගැටුමෙහි ප්‍රතිඵලයක් ලෙස ගැමුණු කුමරු කාලයක් පියාගෙන් ඈත් ව කොත්මලේ ප්‍රදේශයෙහි විසුවේ ය.

පිය රජුගේ අභාවයෙන් පසු රුහුණේ පාලකයා වූ දුටුගැමුණු කුමරුවාණෝ තම මවගේ ද, භික්ෂූන් වහන්සේගේ ද ආශිර්වාද ලබා සේනා සන්නද්ධ ව ගොස් ප්‍රාදේශීය නායකයන් පරාජය කරමින් ක්‍රමයෙන් අනුරාධපුරයට සමීප වූහ. විජිතපුර නම් ස්ථානයේ දී කරන ලද තීරණාත්මක සටනෙන් ජය ගත් දුටුගැමුණු කුමරුවාණෝ ත්‍රිසිංහලය එක් සේසත් කොට රජු බවට පත් වූහ. හෙතෙම සටනෙහි දී මිය ගිය එළාර රජු රාජකීය ගෞරව සහිත ව ආදාහනය කොට සෑයක් ද තනවා නිශ්ශබ්දතාව දක්වා එයට ගරු කරන ලෙස ජනතාවගෙන් ඉල්ලා සිටියේ ය. යුද්ධයේ දී ප්‍රතිවාදියෙකු වූ මොහුට කරන ලද මෙම ගෞරවය විශිෂ්ට ආදර්ශයකි.

මෙතුමාගේ ප්‍රධානතම ශාසනික මෙහෙවර වූයේ බෞද්ධ ලෝකයේ මුදුන් මල්කඩක් බඳු රුවන්වැලිසෑය ඉදි කිරීම ය. **මහාසෑය** යනුවෙන් හැඳින්වෙන එම සුවිසල් චෛත්‍යයට මුල් ගල තැබීමේ මංගල අවස්ථාව සඳහා ලෝකයේ නන්දෙසින් රහතන් වහන්සේලා දසදහස් ගණනක් වැඩිය බව සඳහන් වේ. ඉන් පැහැදිලි වනුයේ සමස්ත බෞද්ධ ලෝකයට ම මේ සිද්ධිය වැදගත් වූ බව ය. මේ දාගැබ ගොඩනැගීමේ යෙදුණු සියලු ම කාර්මිකයන්ට ආහාරපාන, ඇඳුම් පැලඳුම්, වැටුප් පිරිනැමූ බව මහාවංශයේ සඳහන් වේ. මහා සංඝරත්නය කෙරෙහි අතිමහත් ගෞරවයකින් යුක්ත ව හැදුණු වැඩුණු රජු කිසි විටෙක භික්ෂූන් වහන්සේලාට නොපිළිගන්වා ආහාර නොගත් බව සඳහන් වේ. මිරිස් ව්‍යංජනයක් සඟරුවනට පූජා නොකර ආහාරයට ගැනීම ගැන තමාට ම දඬුවම් දෙනු පිණිස රජතුමා සෑදවූ චෛත්‍යය මිරිසවැටිය නම් වේ. මීට අමතර ව තවත් වෙහෙර විහාර හැට අටක් දිවයිනේ විවිධ ප්‍රදේශවල කර වූ බව සඳහන් වෙයි.

දුටුගැමුණු රජුගේ අනුස්මරණීය ශාසනික ඉදිකිරීම් අතර **ලෝවාමහා ප්‍රාසාදය** යනුවෙන් හැඳින්වෙන අසිරිමත් ගොඩනැඟිල්ල මහා සෑයට පමණක් දෙවෙනි වන්නකි. අනුරාධපුර මහමෙවුනා උයනෙහි මිහිඳු මාහිමියන් දවස දේවානම් පියතිස්ස මහ රජතුමාගෙන් ඇරඹුණු මහා විහාරය වඩාත් අංග සම්පූර්ණ ලෙස විවිධ ගොඩනැගිලිවලින් යුක්ත ව දැකුම්කලු සුවිසල් බෞද්ධ මධ්‍යස්ථානයක් බවට පත් කරන ලද්දේ ද මෙම රජතුමා විසිනි.

රජතුමා ධර්ම ශ්‍රවණයට දැඩි කැමැත්තක් දැක්වී ය. එබැවින් සෑම ගමක ම ධර්ම දේශකයන් වහන්සේලා ලවා ධර්ම දේශනා පැවැත්වීමට සලස්වා උන් වහන්සේලාට ධර්ම පූජා සිදු කිරීමට ද කටයුතු සැලසී ය. එතුමා රාජ්‍යය කළ සූවිසි අවුරුද්ද තුළ වෙසක් උත්සව විසි හතරක් පැවැත් වූ බව මහා වංශයේ සඳහන් වේ. ආරෝග්‍යශාලා පිහිටුවා ගිලන්හල් සේවාවක් ආරම්භ කිරීම ද දුටුගැමුණු රජතුමාගේ තවත් මෙහෙවරකි. **තමා විසින් කරන ලද සියලු යහපත් ක්‍රියා සිය පින් පොතෙහි** සටහන් කිරීමට එතුමා අමතක නොකළේ ය. එබඳු පුණ්‍ය ක්‍රියා අතර පිරිස් බලයෙන් තොර ව හුදකලාව සිටි අවස්ථාවක තමන් සතු ව

තිබුණු එක ම ආහාර වේල භික්ෂූන් වහන්සේලාට පූජා කිරීම විශේෂයෙන් සඳහන් කළ හැකි ය.

මෙසේ ලෝ සසුන් කෙරෙහි අනුපමේය සේවයක් කළ රජතෙමේ හදිසියේ රෝගාතුර විය. ඒ වන විටත් නිම නොවූ රුවන්වැලි දාගැබේ කටයුතු සම්පූර්ණ කිරීමට සොහොයුරු සද්ධාතිස්ස රජතුමාට පවරන ලදි. එතුමා කොත්කැරැල්ල හුණුදඬුවලින් සාදා සුදු රෙදිවලින් ආවරණය කොට චෛත්‍යයේ වැඩ අවසන් වූ ලෙසට, මරණ මඤ්චකයේ හුන් දුටුගැමුණු රජතුමාට පෙන්වීය. ස්වකීය පින් පොතට සවන් දෙමින් රුවන්වැලිසෑය දෙස සතුටින් බලා සිටිය දී කාලක්‍රියා කළ දුටුගැමුණු රජතුමාගේ නාමය ශ්‍රී ලංකා බෞද්ධ ඉතිහාසයේ රන් අකුරින් ලියැවී ඇත්තේ ය.

## සාරාංශය

වැලිවිට අසරණ සරණ සිරි සරණංකර සංඝරාජ මාහිමිපාණෝ ලක්දිව ශාසනික, සාමාජික අධ්‍යාපන හා ශාස්ත්‍රීය දියුණුවට විශාල සේවයක් කළ ශ්‍රේෂ්ඨ සංඝ පිතෘවරයෙක් වූහ. උන් වහන්සේ විදේශීය ආක්‍රමණ නිසා, විනාශ වී ගිය බුදු සසුන ප්‍රතිෂ්ඨාපනය කිරීමෙහි ලා පුරෝගාමී ව ක්‍රියා කළහ. සිල්වත් සමාගම පිහිටුවීම, උපසම්පදාව යළි ආරම්භ කිරීම, බෞද්ධ සිද්ධස්ථාන ප්‍රතිසංස්කරණය කිරීම මෙන් ම වටිනා ධර්ම ග්‍රන්ථ රචනා කිරීම තුළින් උන් වහන්සේ බුදු සසුනේ චිර පැවැත්ම සඳහා විශාල සේවයක් කළහ.

දුටුගැමුණු රජතුමා විදේශීය ආක්‍රමණිකයන්ගෙන් රට ජාතිය බේරා බුදු සසුන නොයෙක් අයුරින් නගා සිටවූ ශ්‍රේෂ්ඨ පාලකයෙකි. රුවන්වැලි සෑය, ලෝවාමහාපාය හා මිරිසවැටිය නිර්මාණය කිරීම ද මහා විහාර සංවර්ධනය ද රජතුමාගේ ශාසනික කාර්යයන් අතර ප්‍රධාන වෙයි. "මාගේ මේ ව්‍යායාමය බුද්ධ ශාසනයේ චිරස්ථිතිය පිණිස මිස කිසි කලෙකත් රජ සැප පිණිස නොවන්නේ ය." යන ප්‍රකාශයෙන් යුද වැදීමේ පරමාර්ථය ජනතාවට පැහැදිලි කළේ ය.

## ක්‍රියාකාරකම



1) වැලිවිට අසරණ සරණ සිරි සරණංකර සංඝරාජ මාහිමිපාණන් වහන්සේ ශාසනික දියුණුව උදෙසා සිදුකළ කාර්යයන් පිළිබඳ ලැයිස්තුවක් සකස් කරන්න.

2) වැලිවිට අසරණ සරණ සිරි සරණංකර සංඝරාජ මාහිමිපාණන් වහන්සේගේ හා දුටුගැමුණු රජුගේ චරිතයෙන් ඔබේ ජීවිතයට ගත හැකි ආදර්ශ දෙක බැගින් ලියන්න.

## පැවරුම



වෙනත් පැවිදි උතුමෙකුගේ හා ගිහි උතුමෙකුගේ චරිත කථා දෙකක් වැඩිහිටියන්ගෙන් අසා ලියා තබන්න.

# 07 මහලු වියෙහි දුක් නොවන්න තුරුණු දිවිය ගොඩනගන්න

"මහ වැසි වැස පොකුණ පිරී තිබිණ. එහි මත්ස්‍යයෝ රංචු ගැසී පිහිනමින් සිටියහ. පොකුණ ඇසුරු කොට ජීවත් වූයේ මහලු කොස්වා ලිහිණියෙකි.අලසයෙකු වූ හෙතෙම පොකුණෙහි සිටි මසුන් දෙස නොබැලුවේ ය. ඔවුන් ගොදුරු කොට නොගත්තේ ය. මහ වැසි නිමවිය. නියගය උදා විය. සැඩ හිරු රැස් පොකුණ මත පතිත වූයේ ය. දින දෙක තුනකින් ම පොකුණ සිඳී ගියේ ය. එහි විසූ මත්ස්‍යයෝ ද මියැදුණෝ ය. මහලු කොස්වා ලිහිණි තෙමේ පොකුණු තෙර සිට එහි සිඳුණු පතුල දෙස බැලුවේ ය. මසුන් කිසිවෙකුත් නැත. ඔහුට ඇති වූයේ බලවත් පසුතැවිල්ලකි. දිය පිරී තිබූ බැවින් මසුන්ගෙන් හිඟ නොවූ පසු ගිය දිනවල තමා අලස ව නිදා සිටි බව ඔහුට සිහි විය. දැන් කෙසේ නම් කුස පුරවන්නේ ද? ප්‍රමාද වූවා වැඩි ය. හෙතෙම සිඳී ගිය පොකුණ දෙස බලා සුසුම් හෙළන්නට වූයේ ය. "

මෙය බුදුරජාණන් වහන්සේ වදාළ උපමාවක් ඇසුරින් නිර්මාණය කරන ලද කතාවකි. එම උපමාව හමුවන්නේ ධම්ම පදයේ ය. එම දේශනාවට ම එක් කරන ලද තවත් උපමාවක් මෙසේ ය.

"තරුණ දක්ෂ දුනුවායෙක් සිය දුන්නෙහි ශක්තිමත් තියුණු ඊතලයක් රඳවා ගත්තේ ය. හෙතෙම මහත් වූ වෙර යොදා දුනු දිය ඇද මහ වනය දෙසට විද්දේ ය. මහ හඬ නගමින් වා ගැබ ද බිඳගෙන අතු, කොළ ද දෙපලු කොට වේගයෙන් ගමන් කළ ඊතලය පතිත වූයේ බොහෝ දුර ය. එය සොයා ගැන්මට දුනුවායාට නොහැකි විය. මහ වනයෙහි දිරා ගිය කොළ රොඩු අතර පතිත වූ එය කිසි දිනෙක කිසිවෙකුගේ නෙත නොගැටී එහි ම දිරාපත් ව ගියේ ය."

මෙම සිදුවීම් දෙක එදා මෙන් ම අද ද අප අතරේ ජීවත් වන ඇතැම් අනුවණයන්ගේ ජීවිත කතාවට උපමා කරන බුදුරජාණන් වහන්සේ එමගින් සැපවත් අනාගතයක් ගොඩනැඟීමට වෙර දරන අපට කරන්නේ මහගු මග පෙන්වීමකි. සිඳී ගිය පොකුණු තෙර පසුතැවුණු මහලු කොස්වා ලිහිණියා මෙන් ජීවිතයේ මගහැරී ගිය දේ පිළිබඳ සිතමින් පසු ව පසුතැවිලි වීමට ඉඩ තබා නොගන්නා ලෙස අවවාද කරන මෙම දේශනාව ඊතලය මහ වනයෙහි ඇද වැටුණු තැන ම දිරාපත් ව යන්නාක් මෙන් අධිවේගී තරුණකම ද නිෂ්ඵල ව විනාශ වන බව පෙන්වා දෙයි. මෙය වෙසෙසින් ම පාප මිත්‍ර ආශ්‍රය හා පාපතර නුසුදුසු පුරුදු ද නිසා පිරිහීමට පත් වූ සමකාලීන තරුණයෙකු නිමිති කොට දේශනා කරන ලද්දකි. එහෙත් ඊට සමාන හැසිරීම් නිසා නොයෙක් අයුරින් පිරිහීමට පත් වන වර්තමාන ඇතැම් තරුණ ජීවිතවලට ද මෙයින් ආදර්ශ ලබා ගත හැකි ය.

අචරිත්වා බ්‍රහ්ම චරියං
අලද්ධා යොබ්බනේ ධනං
ජිණ්ණ කොඤ්චාව ඣායන්ති
ඛීණ මච්චේව පල්ලලේ

මෙලොව පරලොව සැපවත් බව මෙන් ම කෙළවර දුකින් මිදී ලබන නිවන් සුවය ද උදා කරන උතුම් සීලාදී පිළිවෙත්හි ද නොයෙදී තරුණ වියේ දී උපන් ධනය රැක ගැන්මෙන් හා නූපන් ධනය ඉපදවීමෙන් ද තොර ව ජීවත් වන්නෝ වැසි සමයෙහි මසුන් අල්ලා නොගෙන පසු ව සිඳී ගිය පොකුණ දෙස බලා පසුතැවිලි වන මහලු කොස්වා ළිහිණියන් මෙන් පසු තැවෙන්නෝ ය. සුසුම් ලන්නෝ ය.

අචරිත්වා බ්‍රහ්ම චරියං
අලද්ධා යොබ්බනේ ධනං
සෙන්ති චාපාති ඛීණාව
පුරාණානි අනුත්ථුනං

උතුම් වූ, ශීලාදී ගුණධර්මයන් සම්පූර්ණ කිරීම ද නොකොට තරුණයෙකු ලෙස තම හැකියාව යොදවා ධනය උපයා ගැනීමෙහි ද නිරත නොවී කෙළිදෙලෙන් ජීවත් වන්නෝ දුන්නෙන් විදින ලද ඊතලය වේගයෙන් ගොස් වනයේ වැටී දිරාපත් ව යන්නාක් මෙන් වැඩිහිටි වයසට පත්වූ විට පෙර (තරුණ වියෙහි) කළ කී දෑ සිහි කරමින් සුසුම් ලති. ශෝක වෙති. ජීවිතයේ පලක් නොලබති.

ඉහත සඳහන් බුද්ධාවවාදය අනුව පිළිවෙතින් ද, සදාචාරයෙන් ද, ධනයෙන් ද, භෝග සම්පත්තියෙන් ද පිරිහීමට පත් වූ මිනිස්සු තරුණ විය ඉක්ම ගොස් මහලු වියට පත් වූ විට පසුතැවිලි වෙති. සිඳුණු පොකුණ දෙස බලා පසුතැවෙන මහලු කොස්වා ළිහිණියා මෙන් ජීවිතයේ ගෙවී ගිය තරුණ විය ගැන සිතා පසුතැවිලි වෙති. ''**මා තරුණ වියේ පිළිවෙත් රැක්කේ ද නැත, ධනය රැස් කළේ ද නැත. දැන් මහලු වූයෙමි. ඒ කිසිවක් කරන්නට ශක්තියක් නැත්තේ වෙමි**'' යි තැවෙයි. මෙසේ තැවෙන දුක් වෙන මිනිසුන් වර්තමාන සමාජයේ ද සිටිනු දැකිය හැකි ය. ඉහත දක්වන ලද දෙවැනි බුද්ධාවවාදය අනුව යොවුන් වියේ දී පිළිවෙත් ද නොපුරා ධනය ද රැස්කර නොගත්තෝ මහලු වියට පත් ව පෙර කළ කී දෑ සිතමින් තැවෙති. යොවුන් අවදියේ කාය ශක්තිය ද චිත්ත ශක්තිය ද අඩුවක් නැත. වේගවත් ය. දුන්නෙන් යවන ඊතලය මෙනි. එසේ ම පිළිවෙත් ද නොපුරා ධනය ද රැස් නොකොට තරුණ කල කමින් බොමින් නටමින් ගයමින් වයමින් කෙළිදෙලෙන් ම ගෙවා දමූ මිනිස්සු ඒ තරුණ ජවය සිඳී ගිය විට මහලු ව දිරාපත් ව පෙර කළ කී දෑ ගැන සිත සිතා සුසම් ලති, තැවෙති. යොවුන් මදයෙන් මත් ව කයින් වදනින් හා සිතින් නොකළ යුත්ත ම කරමින් කළ යුත්ත නොකර මහලු වියේ දී පසුතැවිලි වන්නෝ අප අතර ද සිටිති. ඒ කාය ශක්තිය ද, චිත්ත ශක්තිය ද ඇති තරුණ අවදියෙන් නිසි ප්‍රයෝජන නොගැනීම නිසා ය. ජීවිතයක බාල, තරුණ, මහලු යැයි අවස්ථා තුනක් ඇත. එයින් අධ්‍යාපනය ලබන බාලවියේ දී ද රැකී රක්ෂාදිය කරන තරුණ වියේ දී ද තැන්පත් මහලු වියේ දී ද ශීලාදී ගුණ දහම් පුරමින් සම්පත් උපයා ගන්නා මිනිස්සු මහලු වියේ දී පසුතැවිලි නොවෙති. ගෙවී ගිය ළමා විය හා තරුණ විය දෙස බලා සතුටු වෙති. ඒ හේතුවෙන් ම දීර්ඝායුෂ ද ලබති.

ජීවිතය සාර්ථකත්වයට පත් වීමට අත්වැලක් සපයන තවත් අගනා උපදේශයක් ධම්ම පදයෙන් හමුවෙයි.

උට්ඨානවතෝ සතිමතෝ
සුචිකම්මස්ස නිසම්මකාරිනෝ
සඤ්ඤතස්සච ධම්ම ජීවිනෝ
අප්පමත්තස්ස යසෝභි වඩ්ඪති

උත්සාහවන්ත වූ, මනා සිහිය ඇති, නිවැරැදි දෙය පරීක්ෂාකාරී ව කරන හික්මීමෙන් යුත් දැහැමි ව ජීවත් වන තැනැත්තාගේ යසස වැඩෙන්නේ ය. මෙය උත්සාහය පෙරටු කොට ගෙන ගුණ නුවණින් ක්‍රියා කොට ජීවිතය ජය ගත් සමකාලීන තරුණයෙකුට බුදුරජාණන් වහන්සේ විසින් කරන ලද දේශනයකි. මෙම දේශනාවෙහි සඳහන් යසස් වර්ධනය යනු ධනධාන්‍යාදි භෝග සම්පත් වැඩි දියුණු වීම හා කීර්ති ප්‍රශංසාවන් ද වැඩි දියුණු වීමයි. එසේ මෙලොව දී ම යසස් වැඩි දියුණු වීම ප්‍රීතිමත් සාර්ථක ජීවිතයක් ගත කිරීමට උපකාරී වේ. එහෙත් එය සිදු වන්නේ දේව බලයකින් නොවේ. පෙර කළ කර්මය අනුව ම ද නොවේ. හේතුවක් යුක්තියක් නැතුව ද නොවේ. ඒ සඳහා තිබිය යුතු හැකියාවන් හා ගුණ ධර්ම සත් ආකාර බව මෙම ගාථාව උගන්වයි.

1. උට්ඨානවතෝ - උත්සාහවන්ත බව, නොපසුබස්නා වීර්යය, නොමැලි ව කාර්යක්ෂම ව ක්‍රියා කිරීම, කාය ශක්තිය හා චිත්ත ශක්තිය නොමඳ ව යොදවා වැඩ කිරීම
2. සතිමතෝ - එළඹ සිටි සිහිය, යහපත් කල්පනාව, සතිය, හරි වැරැදි දැක කටයුතු කිරීම, මතක ශක්තිය
3. සුචිකම්ම - පිරිසිදු ව කටයුතු කිරීම, කයින් වචනයෙන් හා සිතින් නිදොස් දේ කිරීම, පව්කම් අකුසල් නොකොට පින්කම් කුසල් කිරීම
4. නිසම්මකාරී - නුවණින් පිරික්සා, සිතා විමසා කටයුතු කිරීම, රෝග නිදානය විමසා පිළියම් කරන වෙදදුරෙකු මෙන් ක්‍රියා කිරීම, දොස් නිදොස් සොයා බලා නිදොස් දේ කිරීම
5. සඤ්ඤත - දමනය වීම, සංයත බව, හික්මීම, ශීලයෙන් කය වචනය හික්ම වීම, සමාධියෙන් සිත හික්මවීම, එම ගුණ ධර්මයන්හි පිහිටා කටයුතු කිරීම
6. ධම්මජීවි - දැහැමි ව ජීවත් වීම, සම්මා ආජීවය, මිත්‍යා දිවි පැවැත්මෙන් තොර ව ගොවිතැන්, වෙළෙඳාම් ආදී යහපත් ජීවිකාවෙන් යුක්ත වීම, නීති විරෝධී අයුරින් උපයාගෙන දිවි නොගෙවීම
7. අප්පමත්ත - අප්‍රමාදය, ප්‍රමාද නොවීම, ජීවිතයේ අභිවෘද්ධියට දියුණුවට හානිකර දේ නොකිරීම, ජීවිතය ආපස්සට ගෙන යන ක්‍රියාවලින් වැළකී, ජීවිතය ඉදිරියට ගෙන යන ක්‍රියාවන්හි නිරත වීම

පළමු ව සඳහන් කළ පරිදි උසස් පිළිවෙතින් පිරිහී ධනය ද උපයා නොගෙන පසුතැවිලි වන්නවුන් මෙන් ම දෙවනු ව සඳහන් කළ පරිදි උත්සාහය පෙරටු කර ගත් යහපත් හැසිරීම් නිසා පසු ව ජීවිතය දෙස ආපසු හැරී බලා උපයා ගත් ධනයත් කීර්ති ප්‍රශංසාවනුත් දැන දැක සතුටට පත්වන්නෝ ද අප අතර සිටිති. මේ දෙයාකාරයේ ම පුද්ගලයන් ගැන ඔබ අසා ඇතුවාට සැක නැත.

මෙහි මුල් ගාථා යුගලයෙන් පිරිහීමට පත් ව දුක් වන්නකු ගැන කියයි. දෙවැන්න දියුණුවට පත් ව සතුටු වන්නෙකු ගැන කියයි. යහපත් අනාගතයකට පියමන් කරන දරුවන් වශයෙන් අප සිහි තබා ගත යුත්තේ අපගේ ජීවිතයේ පරාජයන් මෙන් ම ජයග්‍රහණයන් ද අපගේ ම ක්‍රියාකාරකම් මත රැඳී පවතින බව ය. මතු පසුතැවිල්ල මෙන් ම සතුටුවීම ද අපගේ ම හැසිරීම් අනුව සිදු වන බව ය.

## සාරාංශය



උසස් ගුණ දහම් ද නොපුරා, ධනය ද උපයා නොගන්නා තරුණයාට සිදු වන්නේ පසු ව පසුතැවිලි වීමට ය. තමාගේ ම නුසුදුසු පැවතුම් ගැන සිතමින් දුක් වීමට ය. උසස් ගුණ දහම් ද සපුරන, උත්සාහය පෙරටු කොට ගෙන ක්‍රියා කරන්නා තුළ ධනධාන්‍යාදී සම්පත් වැඩෙයි. ඔහුගේ කීර්තිය ද පැතිරේ.

## ක්‍රියාකාරකම



1. **"අචරිත්වා බ්‍රහ්ම චරියං ..."** යනාදී ගාථාවෙහි එන උපදේශය කෙටියෙන් ලියන්න.

2. **"උට්ඨානවතෝ..."** යනාදී ගාථාවට අනුව යසස වැඩෙන තැනැත්තාගේ ලක්ෂණ හඳුන්වා දෙන්න.

## පැවරුම



* දිය සිඳී ගිය පොකුණක් සමීපයෙහි පසුතැවිල්ලෙන් සිටින කොස්වා ළිහිණියෙකු දක්වෙන චිත්‍රයක් ඇඳ ඊට යටින් අදාළ ගාථාව හා එහි අර්ථය ද ලියා පන්ති කාමරයේ ප්‍රදර්ශනය කරන්න.

# 08 අනුසස් දැක සිල්වත් වෙමු

අප විද්‍යාලයේ පැවති වාර්ෂික ක්‍රීඩා උත්සවයේ සංවිධාන කටයුතු භාර වූයේ පාසලේ ප්‍රධාන ශිෂ්‍ය නායකත්වය දරූ සුනිල්ට ය. දින කිහිපයක් ඒ වෙනුවෙන් අධික ලෙස වෙහෙස වීම නිසා උත්සවය අවසන් ව නිවසට ගිය සුනිල්ට උණ රෝගය වැළඳිණ. අම්මා වහා ම ඔහු වෛද්‍යවරයකු හමුවට කැඳවාගෙන ගියා ය. රෝගී තත්ත්වය විමසා බැලූ වෛද්‍යවරයා බෙහෙත් නියම කරමින් සුනිල්ට දෙයාකාරයකින් උපදෙස් දුන්නේ ය. එනම් නොකළ යුතු අගුණ දේ නොකර සිටීමට හා කළ යුතු ගුණ දේ කිරීමටයි. ඇල් ජලය පරිහරණය කිරීම, සිසිල් කළ බර ආහාර ගැනීම, අධික ලෙස වෙහෙසීම ආදිය නොකළ යුතු යැයි ඔහුට උපදෙස් දෙන ලදී. එසේ ම නිසි පරිදි බෙහෙත් ගැනීම ද උණු ජලය පාවිච්චිය ද විවේක ගැනීම ද කළ යුතු යැයි ඔහුට උපදෙස් ලැබුණි. නොකළ යුතු අගුණ දේ නොකර කළ යුතු ගුණ දේ කළ ඔහුට ඉක්මනින් සුවය ලැබුණේ ය.

බුදුරජාණන් වහන්සේ අප විසින් කළ යුතු දේ ද නොකළ යුතු දේ ද ඉගැන් වූ සේක. නොකළ යුතු දේ **විරිත්** හෙවත් **විරමණ** නමින් ද කළ යුතු දේ **සිරිත්** හෙවත් **සමාදාන** නමින් ද හැඳින්වේ. ඒ අනුව සතුන් මැරීම, නොදුන් දේ ගැනීම ආදී නොකළ යුතු ක්‍රියාවලින් වැළකී, සතුන්ට කරුණාව මෛත්‍රිය දක්වීම, දුන් දේ පමණක් ගැනීම ආදී කළ යුතු ක්‍රියාවන්හි නිරත විය යුතු ය. බුදු දහමෙහි **සීලය** උගන්වා ඇත්තේ එලෙස ය. එමගින් පුද්ගලයාගේ චරිතය සංවර්ධනය වන්නේ ය.

සිල් රැකීමෙන් ලැබෙන ආනිසංස පහක් පිළිබඳ ව බුදුරජාණන් වහන්සේ දේශනා කළ සේක. එම ආනිසංස මොනවා දැයි විමසා බලමු.

1. මහත් වූ භෝග සම්පත් අත්පත් කර ගැනීම
2. කීර්තිය පැතිරීම
3. ඕනෑ ම පිරිසක් මැදට නිර්භය ව එළඹීමට හැකි වීම
4. සිහි මුලා නොවී කලුරිය කිරීම
5. මරණින් මතු සුගතියෙහි උපත ලැබීම

## 1. මහත් වූ භෝග සම්පත් අත්පත් කර ගැනීම

සිල්වත් ජීවිතයක් ගත කරන පුද්ගලයා නිරන්තරයෙන් උද්‍යෝගවත් ය. අප්‍රමාදී ව ක්‍රියා කරයි. සීලයෙහි පිහිටා අප්‍රමාදී ව ප්‍රබෝධවත් මනසින් ධනෝපායනයෙහි යෙදෙන හෙතෙම එහි ප්‍රතිඵලයක් ලෙස මහත් වූ ධනයක හිමිකරුවෙකු බවට පත් වේ. සිල්වත් තැනැත්තාට ධනය ඉපයිය නොහැකි බවත් සීලයෙහි පිහිටීම ධනය ඉපයීමට බාධාවක් බවත් සිතීම වරදකි. ධනය ඉපයීමේ දී මෙන් ම උපයා ගත් ධනය සුරක්ෂිත කර ගැනීමේ දී ද ශීලය පුද්ගලයාට මහෝපකාරී වේ.

බුදුරජාණන් වහන්සේ ජීවමාන කාලයේ සිටි මහධන සිටුපුත්‍රයා උපයා ගත් සියලු ධනය අහිමි කොට ගෙන ඉණ ඇඳි වතට පමණක් සීමා වූයේ සීලයෙහි පිහිටා කටයුතු නොකළ නිසා ය. පාපමිත්‍ර සේවනයට හා නොමනා පුරුදුවලට ද ඇබ්බැහි වී උපයා ගත් සියලු ධනය ඒ වෙනුවෙන් වියදම් කොට දිළින්දන් බවට පත් වූවන් වර්තමාන සමාජයේ ද දක ගත හැකි ය. සිල්වත් පුද්ගලයා එළඹ සිටි සිහියෙන් යුතු ව කටයුතු කරයි. සිගාලෝවාද සූත්‍රයේ දැක්වෙන ආකාරයට භෝග විනාශයට හේතු වන කරුණු හයක් ඇත.

1. මදයට හා ප්‍රමාදයට හේතු වන මද්‍යසාර ගැනීම
2. නුසුදුසු වේලාවන්හි මංමාවත්වල සැරිසැරීම
3. නැටුම් ගැයුම් වැයුම් හි ලොල් බව
4. සූදුවෙහි යෙදීම
5. පව්ටු මිතුරන් ඇසුර
6. අලසකමින් කල් ගෙවීම

සිල්වත් පුද්ගලයා කය වචනය ඔස්සේ ඇති කර ගන්නා සංවරකම නිසා මෙම වැරදි කිසිවක් ඔහුගෙන් සිදු නොවේ. වැරදි සහගත හැසිරීම් නිසා බොහෝ ගැටලු ඇති වන අතර මානසික අසහනය ද වැඩි වේ. දිළිඳුකමද ඇති වෙයි. සිල්වත් තැනැත්තාගේ ධනය වැඩෙනුයේ දුසිරිතෙන් වැළකී සුසිරිතෙහි යෙදෙන බැවිනි.

## 2. කීර්තිය පැතිරීම

කීර්තිය හා අපකීර්තිය අටලෝ දහමට අයත් අංග දෙකකි. කිසි යම් පුද්ගලයෙකුගේ කීර්තියට මෙන් ම අපකීර්තියට ද බලපාන මූලික සාධකය ඔහුගේ හොඳ නරක ක්‍රියාකාරකම් ය. කුලවත්කම, රූමත්කම තිබූ පමණින් කීර්තිය උපයා ගත නොහැකි ය. ශීලයෙහි පිහිටා කටයුතු නොකරන පුද්ගලයාට හිමි වන්නේ අපකීර්තියයි. පරපණ නොනසන, සොරකමින් වැළකුණු, වැරදි කාම සේවනයෙන් වැළකුණු, බොරුවෙන් තොර, මද්‍යසාරයෙන් වැළකුණු පුද්ගලයාට කීර්තිය ම හිමිවෙයි. දුසිල්වත් පුද්ගලයා වුව ද සීලයෙහි පිහිටා කටයුතු කරන්නාගේ ගුණ කියයි. එවැනි පුද්ගලයා පිළිබඳ ව දනන් තුඩ තුඩ රැව් පිළිරැව් දෙන්නේ ප්‍රශංසාත්මක වදන් ය. සිල් සුවඳ අනෙකුත් සියලු සුවඳ වර්ග අභිභවා පැතිරෙන බව බුදුරජාණන් වහන්සේ වදාළහ.

සිල්වතා යමක් කරන්නට පෙර මා මේ කරන දෙයින් මට යහපතක් වේ ද අයහපතක් වේ ද යනුවෙන් විමසිලි සහගත වෙයි. තමා කරන කියන දෙයින් සිය මවුපියන්ට, තමා ඉගෙන ගන්නා පාසලට, සමාජයට, සංස්කෘතියට හානියක් වරදක් වනවා ද යන්න සිතා බලයි. එසේ සිතා නිවැරැදි ක්‍රියාවන්හි නියැලේ. ඒ නිසා තමා අවට සමාජයේ, විශේෂයෙන් ගුරු දෙගුරුන්ගේ ප්‍රශංසාව හිමි පුද්ගලයෙකු බවට පත් වේ. සිල්වත් ව කටයුතු කරන පුද්ගලයා සමාජයේ පවතින සිරිත් විරිත්වලට ද, සාර ධර්මයන්ට ද ගරු කරන අතර ඒවා රැක ගැනීමට උත්සාහ කරයි. නින්දා අපහාසවලට ලක් වන ක්‍රියාවන්ගෙන් වැළකී සිටී. කරණීයමෙත්ත සූත්‍රයේ පෙන්වා දෙන ආකාරයට, යම් ක්‍රියාවකට නුවණැති අය නින්දා කරත් නම් එබඳු කුඩා වූ වරදකින් පවා වැළකීමට උත්සාහ කළ යුතු ය. මෙසේ හොඳ නරක නිවැරැදි ව තෝරා බේරා ගෙන ජීවත් වන විට සමාජය තුළ සිල්වතාගේ කීර්තිය පැතිරෙන්නේ නිරායාසයෙනි.

## 3. ඕනෑ ම පිරිසක් මැදට නිර්භය ව එළඹීමට හැකි වීම

අන් අයගේ ජීවිත උදුරා ගත් පුද්ගලයා සිය ජීවිතය කවර මොහොතේ අහිමි වේ ද යන බියෙන් ජීවත් වේ. අන් අයගේ සම්පත් පැහැරගත් පුද්ගලයාට නිරායාසයෙන් ඇතිවන්නේ කවර මොහොතේ තමා නීතියේ රැහැනට හසුවේ ද සොරකම හෙළිවේ ද යන සිතයි. වැරැදි කාම සේවනයේ යෙදෙන තැනැත්තා ශිෂ්ට සම්පන්න සමාජ පැවැත්මට හානි පමුණුවයි. බොරු කියන තැනැත්තා අන් අයගේ සන්නිවේදන අයිතිය කඩ කරයි. මද්‍යසාරය භාවිත කරන්නා කායික මෙන් ම මානසික සෞඛ්‍යයෙන් ද පිරිහුණු පුද්ගලයකු වෙයි. හෙතෙම සාමකාමී සමාජයට අභියෝගයකි. මේ ආකාරයට පඤ්ච දුශ්චරිතයෙහි යෙදෙන්නාට නිරන්තරයෙන් ජීවත් වීමට සිදු වන්නේ බියෙන් හා සැකයෙනි. සමාජයට හොර රහසේ අප්‍රසිද්ධ ව ය. වැරැදි කරන්නා පසුපස නීතිය ලුහුබඳින අතර ඔහුගේ ජීවිතය අනාරක්ෂිත ය. සිදු කළ වැරැදි නීතිය අභිමුව සඟවාගෙන සිටිය ද හෘදය සාක්ෂ්‍යයට සඟවා තැබිය නොහැකි බැවින් සභාවක් ඉදිරියේ ඍජු ව පෙනී සිටීමේ ආත්ම විශ්වාසය ද ඔහු තුළ නොමැත.

පඤ්ච ශීලය ආරක්ෂා කරන්නා අන් අයගේ ජීවත් වීමේ අයිතිය සුරකී. ඔහු අනුනට හිංසා නොකරයි. එබැවින් ඝාතකයකු, හිංසකයකු ලෙස සමාජයෙන් අවමන් ලබන්නේ නැත. අන් අයගේ දේපළ සැප සම්පත් පැහැර නොගනී. නුදුන් දේ නොගනී. එබැවින් ඔහු සොරෙකු ලෙස ගැරහුම් නොලබයි. වැරැදි කාම සේවනයෙන් වළකින තැනැත්තා සමාජ සම්මතයන්ට ගරු කරන්නෙකි. පවුල් ජීවිතයේ සදාචාර සම්පන්න බව ආරක්ෂා කරන්නෙකි. සත්‍යගරුක පුද්ගලයා අන් අයගේ සන්නිවේදන අයිතිය සුරකියි. බොරු නොකියයි. අනුන් නොරවටයි. එබැවින් ඔහු විශ්වාසවන්තයෙකු වේ. මද්‍යසාරය පරිභරණය නොකරන්නා සමාජයේ සාමකාමී බව හා සුහදතාව ආරක්ෂා කරයි. ඔහු මනා සිහි නුවණින් යුතු අයෙකි. සාමකාමී හා සුහද පුද්ගලයෙකි.

මෙසේ සිල්වතා සමාජයට යහපතක් මිස අයහපතක් නොකරන බැවින් සමාජය ඔහු ප්‍රිය කරයි. එනිසා ම ඔහුට ඕනෑ ම පිරිසක් මැදට නිර්භය ව පිවිසිය හැකි ය.

## 4. සිහි මුලා නොවී කලුරිය කිරීම

දුසිල්වත් ව කටයුතු කරන්නාගේ මරණාසන්න මොහොත අතිශය බියකරු ය. තමා සිදු කළ සියලු වැරැදි සිතුවම් පටයක් දිගහැරි කලක මෙන් ඔහුට මැවී පෙනේ. පරලොව පිළිබඳ බිය ඇති වේ. පසුතැවිල්ල ද ඇති වේ. මරණින් මතු අපායගාමී වන බවට පෙර නිමිති පහළ වේ. චුන්ද සූකරික මරණාසන්න මොහොතේ ඌරකු මෙන් කෑගසා දැඩි වේදනාවක් විඳ මිය පරලොව ගොස් අපාගත වූ පුවත අප අසා තිබේ. වර්තමානයේ ද ප්‍රාණඝාතාදී පඤ්ච දුශ්චරිතයේ නියැලී ජීවිකාව ගත කළවුන් මරණාසන්නයේ දැඩි වේදනාවටත් පසුතැවීමටත් පත් වන අවස්ථා ඇත. සීලයේ පිහිටා කටයුතු කළ තැනැත්තාට මරණය බියකරු අත්දැකීමක් නොවේ. තමා සුගතියක ම උපදන බව හෙතෙම හොඳින් දනියි. තම ජීවිතය ගැන පසුතැවිලි නොවන හෙතෙම මරණයට නොසැලී මුහුණ දෙයි. තමා කළ හොඳ ක්‍රියා ඔහුට සිහිපත් වෙයි. ධම්මික නම් උපාසකතුමා මරණාසන්න මොහොතේ දී සුගතිය ම දැක සිහියෙන් යුතුව කලුරිය කළ බව අපි අසා ඇත්තෙමු.

## 5. මරණින් මතු සුගතියෙහි උපත ලැබීම

බුදු දහම අනුව දුගතියේ හෝ සුගතියේ උපත ලැබීම සිදු වන්නේ අප විසින් සිදු කරනු ලබන කුසලාකුසල කර්මානුරූපවයි. අකුසල කර්ම කළ තැනැත්තා මරණින් මතු දුගතියේ උපදින අතර අකුසලයෙන් වැළකී කුසල කර්ම කළ තැනැත්තා මරණින් මතු සුගතිගාමී වේ. සිල්වතා යනු පාපකර්මයන්ගෙන් අකුසල ක්‍රියාවන්ගෙන් තොර ව ජීවත් වන තැනැත්තා ය. පව අකුසලය පිළිකුල් කරමින් එම ක්‍රියාවලට උපන් බිය ඇති ව ජීවත් වන බැවින් ද පින කුසලය උතුම් කොට සලකමින් එම ක්‍රියාවන්ට යොමු වී සිටින බැවින් ද සිල්වතා දුගතියට නොයයි. සුගතියක ම උපදී. තමා සිල්වත් නොවේ යැයි ද පව් කම් කළේ යැයි ද මෙලොව තැවෙන තැනැත්තා එනිසා ම පරලොව ද තැවෙයි. දුගතිගාමී ව තව තවත් තැවෙයි. තමා සිල්වත් යැයි ද පවුකම් නොකෙළේ යැයි ද මෙලොව සතුටු වන තැනැත්තා එනිසා ම පරලොව ද සතුටු වේ. සුගතියේ ඉපිද සතුටු වේ. පව්කම් කළ දුසිල්වත් පුද්ගලයා තුළ උපදනා අවසන් සිතුවිලි පරපුර අයහපත් ය. එතැනින් ඔහු දුගතියක උපදී. පවුකම් නොකළ සිල්වතා තුළ උපදනා අවසන් සිතුවිලි පරපුර යහපත් ය. එබැවින් ඔහු සුගතියක ම උපදී.

සීලයෙහි ආනිසංස පහෙන් මුල් සතර ජීවත් ව සිටිය දී ම හෙවත් මෙලොව දී ම සිල්වතාට අත්දැකීම් වශයෙන් ලබා ගත හැකි ඒවා ය. එම අනුසස් කිසිසේත් ම විශ්වාස මාත්‍ර නොවන බව අප තරයේ සිහි තබා ගත යුතු ය.

## සාරාංශය



සීලය සිරිත් විරිත් වශයෙන් දෙකොටසකි. කළ යුතු දේ සිරිත් වන අතර නොකළ යුතු දේ විරිත් වේ. සිල් රැකීමෙන් සැලසෙන ප්‍රධාන ආනිසංස පහක් ඇත. ඒවා නම් මහත් වූ භෝග සම්පත් හිමි වීම, කීර්තිය පැතිරීම, ඕනෑ ම පිරිසක් මැදට නිර්භය ව එළඹීමට හැකි වීම, නොබිය ව මරණයට මුහුණ දීමට හැකි වීම, මරණින් පසු සුගතියෙහි උපත ලැබීම වශයෙනි. සිල්වත්කමින් පුද්ගල සංවර්ධනය මෙන් ම සමාජ සංවර්ධනය ද සිදු වේ.

## ක්‍රියාකාරකම



1. සීලයෙන් ලැබෙන ආනිසංස පහ නම් කරන්න.
2. ශිෂ්‍ය ජීවිතය සාර්ථක කර ගැනීමට උපකාරී වන යහපත් ගුණාංග 10 ක් ලියන්න.
3. සිල්වත් වීම ධනෝපායනයට උපකාරයකි. මේ පිළිබඳ ඔබේ අදහස් දක්වන්න.

## පැවරුම



සීලයෙහි ආනිසංශ දක්වෙන පාලි පාඨය සොයා බිත්ති පුවත්පතක පලකරන්න.

## පුහුණුවට



යෝ චේ වස්සසතං ජීවේ
දුස්සීලෝ අසමාහිතෝ
ඒකාහං ජීවිතං සෙය්‍යෝ
සීල වන්තස්ස ඣායිනෝ

(ධම්ම පදය - සහස්ස වග්ගය)

දුශ්ශීල ව නොසන්සුන් සිත් ඇති ව අවුරුදු සීයක් ජීවත් වීමට වඩා සිල්වත්ව සන්සුන් සිත් ඇති ව එක දවසක් ජීවත් වීම ශ්‍රේෂ්ඨ ය.

# 09 සබඳතා රකින මිනිස් යුතුකම්

කිසිවෙකුට මිනිස් සමාජය තුළ තනි ව, හුදකලා ව ජීවත් විය නොහැකි ය. වඩාත් ප්‍රීතිමත් සහනශීලී ජීවිතයක් ගත කිරීම සඳහා සමාජයේ ජීවත් වන පුද්ගලයින් අතර සුහද සම්බන්ධතාවක් පවත්වා ගැනීම අත්‍යවශ්‍ය බව බුදුරජාණන් වහන්සේ වදාළහ. ඒ සඳහා දේශනා කරන ලද සූත්‍ර ධර්ම රාශියකි. සිගාලෝවාද සූත්‍රය එවැනි එක් දේශනාවකි. සදිසා නමින් සමාජය කොටස් හයකට බෙදා දක්වෙන එහි ඒ ඒ සමාජ කණ්ඩායම් අතර අන්‍යෝන්‍ය වශයෙන් පැවතිය යුතු සාරධර්ම පැහැදිලි ව දක්වා ඇත. එය බුදු දහම අනුව දෙලොව දිනන පිළිවෙතක් වශයෙන් ද බුදුරජාණන් වහන්සේ හැඳින් වූ සේක. එම සූත්‍රයට අනුව මූලික සමාජ කණ්ඩායම් හඳුනා ගනිමින් ඔවුනොවුන් අතර සබඳතා පවත්වා ගත යුතු අන්දම මේ පාඩමෙන් අපි ඉගෙන ගනිමු.

උදෑසන හය දිශාවකට නමස්කාර කරමින් සිටි සිගාල නම් තරුණයකුහට නිවැරැදි දිසා නමස්කාරය පැහැදිලි කරමින් බුදුරජාණන් වහන්සේ විසින් සිගාලෝවාද සූත්‍රය දේශනා කරන ලදි. එම සූත්‍රයට අනුව සමාජය සය ආකාර වේ.

| | | |
|---|---|---|
| නැගෙනහිර දිසාව | - | මවු - පියන් |
| දකුණු දිසාව | - | ගුරුවරුන් |
| බටහිර දිසාව | - | ස්වාමි භාර්යාවන් |
| උතුරු දිසාව | - | හිත මිතුරන් |
| යට දිසාව | - | සේව්‍ය සේවකයන් |
| උඩ දිසාව | - | පැවිදි උතුමන් |



ඉහත කී සදිසාවන්ගෙන් අදහස් වන සමාජ කොටස් කිසිවක් හුදකලා නොවේ. ඔවුහු නිසැක ව ම අදාළ සමාජ කොටස් සමග බැඳී සිටිති. මවුපියන් සහ දරුවන්, ගුරුවරුන් සහ ශිෂ්‍යයන්, ස්වාමි පුරුෂයන් සහ භාර්යාවන්, කුල පුත්‍රයන් සහ මිතුරන්, ස්වාමිවරුන් හා සේවකයන්, ගිහියන් සහ පැවිදි උතුමන් යනුවෙනි. මෙකී සමාජ කොටස් විසින් එකිනෙකාට යුතුකම් ඉටුකළ යුතු ය. ධාර්මික වූ නොබිඳෙන සමාජ සබඳතා ගොඩනැගෙනුයේ එවිටයි. යුතුකම් ඉටු කිරීම යනු එකිනෙකාට නොයෙක් අයුරින් සංග්‍රහ කිරීම ය. එය සමාජ ආචාර ධර්මයකි; යහපත් සමාජ වාතාවරණයක් ඇති වීමට බෙහෙවින් ඉවහල් වන්නකි. එයින් ඒ ඒ සමාජ කොටස් අතර විශ්වාසය තහවුරු වන අතර ඔවුන්ගේ අභිවෘද්ධිය ද සැලසෙයි.

## මවුපිය - දූදරු සබඳතා

දෙමාපියන් හා දරුවන් අතර යහපත් සබඳතාවක් පවත්වා ගැනීම දෙපක්ෂයේ ම හිත සුව පිණිස හේතු වේ. මවුපියන් පූර්ව දිශාවට (හිරු නැගෙන දිසාවට) උපමා කොට දක්වා ඇත. මවු කුස පිළිසිඳ ගත් දිනයේ පටන් දරුවෙකු ඇති දැඩි කරනු ලබන්නේ දෙමවුපියන් විසිනි. දරුවන් පාසලට ගොස් අකුරු ඉගෙනීමට පෙර දැනගත යුතු බොහෝ දේ උගන්වනු ලබන්නේ ද දෙමවුපියන් විසින් ය. දරුවෙකුට නිවසේ දී මුණ ගැසෙන දෙවිවරු මවුපියෝ ය. බ්‍රහ්මයන් තුළ පවතින මෙත්තා, කරුණා, මුදිතා, උපේක්ඛා යන සතර බ්‍රහ්ම විහරණයන්ගෙන් ද මවුපියෝ යුක්ත වෙති. එබැවින් මවුපියෝ පුබ්බාචරිය, පුබ්බදේව, බ්‍රහ්ම යන විශේෂණ පදවලින් ද හැඳින්වෙති.

දරුවන්ගෙන් දෙමාපියන්ට ඉටු විය යුතු යුතුකම් පහක් සිගාලෝවාද සූත්‍රයේ දක්වා ඇත.

1. මවුපියන් පෝෂණය කිරීම
2. ඔවුන්ගේ කටයුතු සොයා බලා ඉටු කර දීම
3. දෙමාපියන් රැක ගෙන ආ කුල පරපුර හා ඊට සම්බන්ධ සිරිත් විරිත් ආරක්ෂා කිරීම
4. දෙමාපියන්ගෙන් හිමි වූ දේ රැක ගැනීම
5. මවුපියන් පරලොව ගිය පසු පින් අනුමෝදන් කරවීම

දෙමාපියන් වෙතින් ද මෙවැනි ම අගනා යුතුකම් පහක් දරුවන් වෙනුවෙන් ඉටුවිය යුතු ව තිබේ. එනම්,

1. දරුවන් වරදින් මුදවා ගැනීම
2. ඔවුන් යහපත් කටයුතුවල යෙදවීම
3. ඉගෙනීමේ කටයුතුවල යෙදවීම
4. ගැළපෙන ආවාහ විවාහ කර දීම
5. සුදුසු කල්හි සම්පත් පවරා දීම

මෙම යුතුකම් දෙපිරිස ම අතින් ඉටු නොවන අවස්ථා සමාජයේ දක්නට ලැබේ. ඒ නිසා ම දෙමවුපියන් හා දරුවන් අතර නොමනාපකම් ඇති වී ඒ දෙපිරිස අතර සබඳතා බිඳවැටී දුකට කනගාටුවට පත් ව සිටින අවස්ථා බොහෝ ය. එමෙන් ම තම යුතුකම් නිසි පරිදි ඉටු කිරීමෙන් සාමයෙන් හා සමගියෙන් ජීවත් වන මවුපියන් මෙන් ම දූ දරුවෝ ද සමාජයේ සැනසිලිදායක ජීවිත ගත කරති. ඒ නිසා දෙමාපියන් හා දරුවන් තම යුතුකම් නිසි කල නිසි ලෙස ඉටු කිරීමට වග බලා ගැනීම දෙපක්ෂයේ ම යහපත පිණිස හේතු වේ.

## ගුරු - සිසු සබඳතා

සමාජයේ දක්නට ලැබෙන තවත් ප්‍රධාන සමාජ කණ්ඩායම් දෙකක් වන්නේ ගුරුවරුන් හා ශිෂ්‍යයන් ය. ඔවුන් අතර සබඳතාව මනා ව ගොඩනගා ගැනීමට උපකාරී වන අන්‍යෝන්‍ය යුතුකම් ඉටු කිරීම දෙපක්ෂයේ ම වගකීමකි. ශිෂ්‍යයෙකු තම දෙමාපියන් හැරුණු විට ගරු කළ යුතු පිරිස හැටියට ධර්මයෙහි සඳහන් වන්නේ ගුරුවරුන් ය. සමාජයේ යහපත් පුරවැසියෙකු වශයෙන් ජීවත් වීමට අවශ්‍ය ගුණ ධර්ම හා චරිත ශක්තිය ජීවිතයට එක් කරන්නේ ගුරුවරයායි. සිගාලෝවාද සූත්‍රයේ දී ගුරුවරුන් දක්ෂිණ දිසාවට සමාන කොට දක්වා ඇත්තේ ද ශිෂ්‍යයන්ගේ (දක්ෂිණාව) පුද සැලකිලි ලැබීමට සුදුසු වන බැවිනි. එසේ ම ශිෂ්‍යන්ගේ අභිවෘද්ධියට අවශ්‍ය හුරුපුරුදුකම් මනා සේ ප්‍රදානය කරන්නේ ගුරු උතුමන් වන බැවිනි.

ශිෂ්‍යයකු විසින් ගුරුවරයාට පස් අයුරකින් සැලකිය යුතු බව බුදුරජාණන් වහන්සේ වදාළහ. එනම්

1. දුටු විට හුනස්නෙන් නැගිටීම
2. අවශ්‍ය උපස්ථාන කිරීම
3. අවවාද අනුශාසනාවලට මැනැවින් ඇහුම්කන් දීම
4. අවශ්‍ය කටයුතු ඉටු කර දීම
5. මැනැවින් ඉගෙන ගැනීම

ගුරුවරයා විසින් ද ශිෂ්‍යයන්ට කරුණු පහකින් සංග්‍රහ කළ යුතු බව බුදුරජාණන් වහන්සේ පෙන්වා දුන්හ.

1. මැනැවින් හික්මවීම
2. මැනැවින් ඉගැන්වීම
3. දන්නා සියලු ශිල්ප ශාස්ත්‍ර ඉගැන්වීම
4. තම මිත්‍රයන්ට ශිෂ්‍යයා හඳුන්වා දීම
5. ශිෂ්‍යයා ආරක්ෂා කර ගැනීම

ඉහත දක්වූ ගුරු-ශිෂ්‍ය අන්‍යෝන්‍ය යුතුකම් ඉටු කිරීමෙන් පරමාදර්ශී යහපත් සමාජයක් බිහි වීමට මග පෑදෙයි. ශිෂ්‍යයින් තම ගුරුවරුන්ට නිසි ගරු සැලකිලි දැක්විය යුතු ය. තම ගුරුවරුන් පිළිබඳ විශ්වාසයකින්, ඇල්මකින් ක්‍රියා කළ යුතු ය. ගුරුවරයා දෙන උපදෙස් පිළිපදිමින් තම දියුණුව සලසා ගත යුතු ය. ඉගෙනීම ඉතා ඕනෑකමින් උනන්දුවෙන් කළ යුතු ය. එසේ කරන ශිෂ්‍යයන් කෙරෙහි ගුරුවරයා දයාවෙන් කරුණාවෙන් ක්‍රියා කළ යුතු ය. ශිෂ්‍යයාගේ සුළු වරදක් දුටු විට කලකිරීමට පත් නොවී ඔවුන්ගේ යහපත සඳහා මග පෙන්වමින් ආදර්ශවත් වීම අගනේ ය. මෙසේ ක්‍රියා කරන විට අන්‍යෝන්‍ය සබඳතාව වර්ධනය වී දෙපිරිසේ ම දියුණුව සැලසේ. සමාජයට ද ඉන් යහපතක් වෙයි.

## අඹු - සැමි සබඳතා

සමාජයක වැදගත් ම ඒකකය වන පවුලේ ප්‍රධාන ම සාමාජිකයන් වන්නේ බිරිය සහ සැමියායි. පවුල් සංස්ථාවේ පැවැත්ම රඳා පවතින්නේ බිරියත් සැමියාත් අතර ඇති සම්බන්ධය මත ය. පවුලේ සාමයත් සතුටත් දියුණුවත් දූ දරුවන්ගේ යහපතත් සැලසෙන්නේ පවුල් සංස්ථාවේ යහපැවැත්ම මත ය. බටහිර දිසාව ලෙස දැක්වෙන අඹුසැමි යුතුකම් දහයකි.

සැමියා බිරියට,

1. ගරු කිරීම
2. අවමන් නොකිරීම
3. පරදාර සේවනයේ නොයෙදීම
4. ගෙදර වගකීම් පැවරීම
5. ඇඳුම් පැළඳුම් සපයා දීම

යන කරුණු ඉටු කළ යුතු ය.

බිරිය සැමියාට,

1. ගෙදර කටයුතු මැනැවින් සංවිධානය කිරීම
2. ඇසුරු කරන පිරිසට මැනැවින් සංග්‍රහ කිරීම
3. පරපුරුෂ සේවනය නොකිරීම
4. උපයන ලද ධනය ආරක්ෂා කිරීම
5. සෑම කටයුත්තක ම දක්ෂ වීම හා අනලස් වීම

යන කරුණු ඉටු කළ යුතු ය.

අඹු සැමි සබඳතා බිඳ වැටීම නිසා පවුල් සංස්ථාව මුහුණ දෙන්නේ විශාල අර්බුදයකට ය. එම නිසා පවුලේ සාමය ද ප්‍රීතිය ද නැතිවී යයි. විශ්වාසය පළුදු වේ. මෙයින් දූ දරුවෝ ද අසරණ වෙති. නිතර අඬ දබර ඇතිවේ. පවුලේ දියුණුව ඇණ හිටියි. දෙවියකු හා දෙවඟනක මෙන් අඹු සැමියන් ජීවත් වනු දැකීම බුදු දහමේ අපේක්ෂාවයි. ඉහත දක්වන ලද සාරධර්ම මත පිහිටා කටයුතු කිරීම සැබැවින් ම ඒ සඳහා උපකාරයකි. විශ්වාසය ද සතුට ද සාමදානය ද තුළින් අඹු සැමියන්ගේ මෙන් ම දූ දරුවන්ගේ ද දියුණුව ඇති කර ගැනීමට ඒ ඔස්සේ අවස්ථාව සැලසෙයි.

## යහළු - මිත්‍ර සබඳතා

පෞද්ගලික කටයුතුවල දී මෙන් ම පොදු කටයුතුවල දීත් මිත්‍රයින්ගේ සහාය අපට අවශ්‍ය ය. මිත්‍රයෝ දෙයාකාර වෙති. සුහදත්වය ඇති මිත්‍රයන් මෙන් ම ව්‍යාජ මිතුරෝ ද වෙති. යහපත් මිත්‍රයන් කල්‍යාණ මිත්‍රයන් ලෙසත් ව්‍යාජ මිත්‍රයන් මිත්‍ර ප්‍රතිරූපකයන් ලෙසත් බුදු දහම

හඳුන්වා ඇත. කල්‍යාණ මිත්‍රයින් ඇසුරත් මිත්‍ර ප්‍රතිරූපකයන්ගෙන් දුරස් වීමත් මෙලොව පරලොව යහපතට හේතු වේ. මිත්‍රයින් අතර මනා සබඳතාවක් ඇති වීමට ඉවහල් වන ප්‍රතිපත්ති දහයක් බුදුරජාණන් වහන්සේ දේශනා කර ඇත. යහපත් මිතුරන් උතුරු දිසාව ලෙස හඳුන්වා ඇත්තේ උවදුරුවලින් එතෙර කරනවාය යන අර්ථයෙනි. මිතුරන්ට පස් අයුරකින් කුල පුත්‍රයන් විසින් සංග්‍රහ කළ යුතු බව සිගාලෝවාද සූත්‍රයේ දක්වා ඇත්තේ මෙසේ ය.

1. මිතුරාට අවශ්‍ය දේ දීම
2. ප්‍රිය වචනයෙන් කථා කිරීම
3. දියුණුව සඳහා කටයුතු කිරීම
4. සමානාත්මතාව දැක්වීම
5. නොරැවටීම

කුල පුත්‍රයකු විසින් මිතුරන් වෙනුවෙන් ඉටු කරනු ලබන මෙම යුතුකම් දෙපක්ෂය අතර සම්බන්ධය තහවරු කරයි. තම යහපත් මිත්‍රයින්ට ඉහත අයුරින් සංග්‍රහ කළ විට ඒ මිතුරෝ කරුණු පහකින් මෙසේ සංග්‍රහ කරති.

1. දුසිරිතෙහි වැටී ප්‍රමාද වූ මිතුරා ආරක්ෂා කර ගැනීම
2. එබඳු මිතුරාගේ වස්තුව ආරක්ෂා කර දීම
3. බියට පත් මිතුරා ඉන් මුදා ගැනීම
4. විපතට පත් මිතුරා අත් නොහැරීම
5. මිතුරාගේ අඹුදරුවන්ට සැලකීම

මෙසේ මිතුරා විසින් ඉටු කරනු ලබන යුතුකම් කුල පුත්‍රයාගේ යහපත පිණිස ම වේ. කල්‍යාණ මිත්‍ර ඇසුර ආධ්‍යාත්මික දියුණුවට මෙන් ම බාහිර දියුණුවට ද හේතු වෙයි. ඉහත දැක්වූ අයුරින් අන්‍යෝන්‍ය යුතුකම් ඉටු වීමෙන් ඔවුනොවුන් අතර සුහදතාව වර්ධනය වේ. එමෙන් ම මිත්‍ර ප්‍රතිරූපකයන් හඳුනා ගෙන ඔවුන්ගෙන් ඈත් ව විසීම ද අපගේ ජීවිතයේ දියුණුවට හේතු වෙයි. බොහෝ දෙනෙකු දුකට පත් වන්නේ පාප මිත්‍ර සේවනය නිසා ය. කල්‍යාණ මිත්‍රයා සැම විට ම තම මිත්‍රයාගේ දියුණුව, සතුට, යහපත ම අපේක්ෂා කරයි.

## සේව්‍ය - සේවක සබඳතා

සිගාලෝවාද සූත්‍රයේ සේව්‍ය - සේවක සම්බන්ධය පවත්වා ගැනීමේ ප්‍රධාන වගකීම පවරා ඇත්තේ සේව්‍ය පක්ෂයට ය. එම සූත්‍රයේ සේවක පක්ෂය හඳුන්වා දී ඇත්තේ යට දිශාව ලෙස ය. එයින් අදහස් කරන්නේ කර්මාන්ත ව්‍යාපාර ආදියේ දියුණුව රඳා පවතින්නේ ඇප කැප වී ක්‍රියා කරන කාර්යශූර සේවක ශක්තිය මතය යන්නයි. සේවකයන් තෘප්තිමත් වන අයුරින් ක්‍රියා කිරීම සේව්‍යයන්ගේ හෙවත් හාම්පුතුන්ගේ යුතුකම බව බුදුරජාණන් වහන්සේ දේශනා කර ඇත.

සේව්‍යයා විසින් සේවකයාට කළ යුතු සංග්‍රහය පස් ආකාර වේ.

1. සේවකයාගේ ශක්ති ප්‍රමාණයට වැඩ පැවරීම
2. සුදුසු පරිදි ආහාර හා වැටුප් ලබා දීම
3. සෞඛ්‍ය පහසුකම් සපයා දීම
4. මිහිරි ආහාරපාන ආදිය නිසි ලෙස බෙදා දීම
5. සුදුසු අවස්ථාවන්හි විවේක දීම

මෙසේ සේව්‍යයා විසින් ඉටු කරනු ලබන මෙම කරුණු සේවකයාගේ දියුණුව පිණිස ය.

සේවකයින් ස්වාමියා කෙරෙහි පිළිපැදිය යුතු අන්දම කරුණු පහකින් මෙසේ දක්වා ඇත.

1. ස්වාමියාට පළමු ව පිබිදීම
2. ස්වාමියාට පසු ව නිදා ගැනීම
3. ස්වාමියා දුන් දේ පමණක් ගැනීම
4. වැඩ කටයුතු ඉතා හොඳින් කිරීම
5. ස්වාමියාගේ ගුණ වර්ණනා කිරීම

සේවකයාගේ මේ යුතුකම් ස්වාමියාගේ දියුණුව පිණිස ය.

සේව්‍ය සේවක දෙපක්ෂය අතර අන්‍යෝන්‍ය විශ්වාසය, කැපවීම හා උපකාරීත්වය ආයතනයක දියුණුවට මහත් සේ බලපාන්නකි. හාම්පුතුන් හා සේවකයන් මෙසේ එකිනෙකාට යුතුකම් ඉටු කිරීම වර්තමානයේ බොහෝ ආයතනවල පවතින සේව්‍ය සේවක ගැටුම් වළක්වා ගැනීමට උපකාරී වන්නේ ය. දෙපක්ෂයට ම සේවා ස්ථානය ප්‍රසන්න තැනක් බවට පත්වේ. සේව්‍යයාගේ නිසි සංග්‍රහය ලැබෙන විට සේවකයා මහත් කැපවීමෙන් තම යුතුකම් ඉටු කිරීමට පෙළඹේ. වංචනික ක්‍රියා අඩු වේ. ආයතනයේ දියුණුව, සේව්‍ය සේවක දියුණුවට මෙන් ම සමාජයේ දියුණුවට ද රුකුලක් වේ.

## ගිහි - පැවිදි සබඳතා

දැහැමි සමාජයක පදනම වන්නේ මනා ගිහි-පැවිදි සබඳතාවයි. ගිහියන් අතර පැවතිය යුතු අන්‍යෝන්‍ය සබඳතාව පවත්වන අන්දම බුදුරජාණන් වහන්සේ සිගාලෝවාද සූත්‍රයේ දී දේශනා කර ඇත. බුදු දහමේ ගිහි පක්ෂය උපාසක උපාසිකා ලෙස ද පැවිදි පක්ෂය භික්ෂු භික්ෂුණී ලෙස ද හඳුන්වයි. ගිහි පැවිදි දෙපිරිස අතර සබඳතාව පෙර කී පරිදි සෙසු සමාජ කණ්ඩායම් අතර පවත්නා සබඳතාවන්ට වඩා උත්තරීතර තත්ත්වයක් මත ගොඩ නැගී ඇත. ඒ නිසා ම පූජ්‍ය පක්ෂය උඩ දිශාව ලෙස හැඳින්වී ඇත. මිනිස් වර්ගයාගේ උත්තරීතර බවට ඉවහල් වන දහම් මග පෙන්වා දෙන, පැවිදි උතුමන් ආරක්ෂා කිරීම මෙන් ම පෝෂණය ද ගිහි පක්ෂය විසින් කළ යුතු ය. පැවිදි උතුමන් තමන්ට ආමිසයෙන් සංග්‍රහ කරන, තමන් ආරක්ෂා කරන, පෝෂණය කරන ගිහියාට ධර්ම දානයෙන් සංග්‍රහ කළ යුතු ය. ගිහියන් පැවිද්දන්ට කළ යුතු සංග්‍රහය සදිසා නමස්කාරයෙහි මෙසේ දක්වා ඇත.

1. මෛත්‍රී සහගත ව ක්‍රියා කිරීම
2. මෛත්‍රී සහගත ව කථා කිරීම
3. මෛත්‍රී සහගත සිත් පහළ කර ගැනීම
4. නිවසට පැමිණි විට සතුටින් පිළිගැනීම
5. ආමිසයෙන් සංග්‍රහ කිරීම

ගිහියා ඉටු කරන මෙම යුතුකම් පැවිදි උතුමන්ගේ යහ පැවැත්මට හේතු වෙයි. ගිහි පක්ෂයෙන් මෙසේ සංග්‍රහ කෙරෙන විට පැවිදි පක්ෂය හය ආකාරයකින් ගිහියන්ට සංග්‍රහ කළ යුතු ය.

1. පවින් වැළැක්වීම
2. යහපත් ක්‍රියාවල යෙදවීම
3. හොඳ හිතින් ම අනුකම්පා කිරීම
4. අසා නොමැති දෙය කියා දීම
5. අසා ඇති දෙය වඩාත් පැහැදිලි කර දීම
6. සුගතියට මග පෙන්වීම

මෙම කරුණු සයින් පැවිදි පක්ෂය ගිහියා වෙත තම යුතුකම් ඉටු කිරීම ගිහියාගේ යහපත පිණිස වේ.

භික්ෂූන් වහන්සේලාගෙන් හා භික්ෂුණීන් වහන්සේලාගෙන් සමන්විත වූ බෞද්ධ පැවිදි සමාජය ද උපාසක උපාසිකාවන්ගෙන් යුත් ගිහි සමාජය ද අතර ඇති සම්බන්ධය සම්බුද්ධ ශාසනයේ මෙන් ම ගිහි සමාජයේ ද පිරිහීම වළකාලන්නකි; දියුණුව උදාකරවන්නකි. පරමාදර්ශී පැවිදි උතුමන් ගිහියන් විසින් රක්ෂණය, පෝෂණය කළ යුතු ය. එය දෙපක්ෂයට ම ඵලදායක වෙයි. එසේ ම පැවිදි උතුමන් විසින් ද සිය දායකකාරකාදීන් වන ගිහි සමාජයට අවශ්‍ය යහපත් මග පෙන්වීම් කළ යුතු ය.

මෙසේ ඉහත දක්වන ලද දිසා වශයෙන් සය ආකාර වූත් පිරිස් වශයෙන් දොළොස් ආකාර වූත් සමාජ කොට්ඨාස අතර එකිනෙකාට ඉටු කළ යුතු යුතුකම් හෙවත් සංග්‍රහයන් නිසි පරිදි ඉටු කිරීම සමාජ යහපතට විවිධාකාරයෙන් බලපායි. එකිනෙක සමාජ කණ්ඩායම් අතර අන්‍යෝන්‍ය විශ්වාසය, බැඳීම ඇති වේ. හුදකලා බව පහව යයි. මිත්‍රත්වය ගොඩ නැගේ. දුක - සැප බෙදා හදාගෙන ජීවත් වෙයි. අන්‍යෝන්‍ය විරසක වීම්, ගැටුම්, බිඳ වැටීම් සමාජයෙන් තුරන් වේ. සාමය සමගිය තහවුරු වෙයි. ලොව අභිවෘද්ධියට ද සැපවත් වීමට ද හේතුවක් වේ. මෙසේ සමස්ත සමාජයේ ම දියුණුවට අන්‍යෝන්‍ය යුතුකම් ඉටු කිරීම උගන්වන සදිසා නමස්කාරය, ඉමහත් පිටිවහලක් වන බව කිව හැකි ය.

## සාරාංශය



සමාජ කණ්ඩායම් අතර අන්‍යෝන්‍ය සම්බන්ධය සමාජයක යහපැවැත්මේ පදනමයි. ඒ සඳහා සදිසා නමස්කාරය තුළින් සිගාලෝවාද සූත්‍රයේ සිදු කර ඇති මග පෙන්වීම ඉතා වැදගත් ය. බුදුරජාණන් වහන්සේ ඒ ඒ සමාජ කොටස් අතර ඉටු විය යුතු යුතුකම් සවිස්තර ව සිගාලෝවාද සූත්‍රයේ දී දේශනා කර ඇත. ඒවා නිසි ලෙස ඉටු කිරීමෙන් සමාජ සහයෝගය සාමය මෙන් ම දියුණුව හා සතුට ද ළඟා කර ගත හැකි බව නිසැක ව ම කිව හැකි ය.

## ක්‍රියාකාරකම



1. පංතිය කණ්ඩායම් හයකට බෙදී සදිසාවෙන් දක්වන යුතුකම් වෙන වෙනම ලියා දක්වන්න.

2. යුතුකම් ඉටු නොකිරීමෙන් පුද්ගල දියුණුව මෙන් ම සමාජ දියුණුව ද බිඳ වැටෙන ආකාරය කුමන හෝ සමාජ කණ්ඩායමක් නිදසුනක් ලෙස ගෙන පැහැදිලි කරන්න.

## පැවරුම



මාතා පිතා දිසා පුබ්බා
ආචරියා දක්ඛිණා දිසා
පුත්තදාරා දිසා පච්ඡා
මිත්තාමච්චා ච උත්තරා

දාස කම්මකරා හෙට්ඨා
උද්ධං සමණ බ්‍රාහ්මණා
ඒතා දිසා නමස්සෙය්‍ය
අලමත්ථෝ කුලේ ගිහි

(සිගාලෝවාද සූත්‍රය)

යන ගාථාව කට පාඩම් කර එහි ඇතුළත් කරුණු ඊ සටහනකින් පෙන්වා දෙන්න.

# 10 රුදුරු මිනිසුන් අතර වෙමු අපි සොඳුරු මිනිසුන්

නෙළුම හෙවත් පියුම යනු සුන්දර පුෂ්පයකි. බුදු දහමෙහි නොයෙක් තැන නෙළුම උපමා කොට දහම් දෙසා තිබේ. නෙළුම් අලය පැළ වී නෙළුම් ගස වැඩෙන්නේ මඩ සහිත අපිරිසිදු ජලයෙහි ය. එහෙත් එහි හට ගන්නා නෙළුම පිරිසිදු ය. නොපැහැපත් මඩ දියෙහි පැහැපත් නෙළුම විකසිත වේ. මෙසේ මඩෙහි හට ගෙන එයින් ම පෝෂණය ලැබුව ද එහි නොගැවී ඉන් උඩට මතුවී සුසිනිඳු ව සුවඳවත් ව ප්‍රසන්න ව නෙළුම් මල විකසිත වේ. නෙළුම දකින අප සිත්වල උපදින්නේ පහන් සිතුවිලි ය. බුදුරජාණන් වහන්සේ පැහැපත්, සුසිනිඳු නෙළුම් මලක් වැනි යැයි බුදු දහම පැහැදිලි කරයි. උන් වහන්සේ අපිරිසිදු මඩ ගොහොරුව ඇසුරු කර ගත් ජලකඳක් මෙන් රාගාදී කෙලෙස් මල නිසා දූෂිත ව සිටින මිනිසුන් සහිත වූ මේ ලෝකයෙහි වැඩ සිටියහ. එහෙත් ඒ කෙලෙස් මඩ වගුරෙහි නොගිලුණහ. රාගාදී සියලු කෙලෙස් මලින් තොර ව උන් වහන්සේ බැබළුණේ මඩ සහිත ජලයේ නොතැවරී ඉහළට මතු වූ නෙළුම් මලක් සේ ය.

ද්‍රෝණ යනු බමුණෙකි. මිනිසුන්ගේ අංග ලක්ෂණ බලා ඔවුන් හඳුනා ගත හැකි ශාස්ත්‍රයක් හෙතෙම දැන සිටියේ ය. දිනක් මහ මග සලකුණු වී තිබූ පියසටහනක් දැක හෙතෙම විමසිලිමත් විය. එහෙත් ගමන් කොට ඇත්තේ කවරෙකු දැයි දැන ගැනීමට ද්‍රෝණ බමුණාට නොහැකි විය. හෙතෙම පියසටහන් අනුව පියවර තැබූ තැනැත්තා සොයමින් ගමන් කළේ ය. අවසන ඔහුට හමු වූයේ ප්‍රබෝධවත් ව හා සන්සුන් ව ගසක් මුල වැඩ සිටි බුදුරජාණන් වහන්සේ ය. උන් වහන්සේ කවරෙක් දැයි දැන ගනු කැමති වූ ද්‍රෝණ ඔබ දෙවියෙක් ද, ගාන්ධර්වයෙක් ද, යක්ෂයෙක් ද, මනුෂ්‍යයෙක් දැයි පිළිවෙළින් විමසා සිටි නමුත් උන් වහන්සේ වදාළේ තමා ඒ කිසිවෙකු නොවන බව ය. බුද්ධ නම් වන බව ය.

දෙවියෝ ද, ගාන්ධර්වයෝ ද, යක්ෂයෝ ද, මනුෂයෝ ද රාගාදී කෙලෙස් සහිත සිත් ඇත්තෝ ය. එහෙත් බුදුරජාණන් වහන්සේ රාගාදී කෙලෙස් මලින් තොර වූ පිරිසිදු සිත් ඇති උතුමකු වන සේක. විලෙහි හට ගන්නා නෙළුම් වුව ද විවිධාකාර ය. සමහර නෙළුම් මඩෙහි ම හට ගෙන මඩෙහි ම වැතිරී මඩ දිය සමග එක් ව පොකුණු පතුලෙහි ම රැඳී සිටී. සමහර නෙළුම් මඩ ජලය සමග සම ව සිටී. මඩ සහිත පොකුණු පත්ලෙන් ඉහළට නැගුණු මඩ දිය ඉක්මවා යාමට එම නෙළුම් අසමත් ව ඇත. මේ අතර මඩෙහි හට ගෙන එයින් ම යැපෙන සමහර නෙළුම් එය ඉක්මවා ඉහළට මතු වී සිටී. විකසිත ව ප්‍රබෝධවත් ව බබළයි. මඩ දියෙහි නොගැවේ. කෙලෙස් මල ඇති විවිධාකාර වූ සත්ත්වයින් වසන මේ ලෝකය ද මඩ ජලය පිරුණු පොකුණක් වැනි ය. එහි සමහර නෙළුම් මල් මෙන් සමහර මිනිස්සු කෙලෙස් මඩ වගුරෙහි ම ඇලී ගැලී සිටිති. එයින් ගැලවී ඉස්මතු වීමට අසමත් වෙති. තවත් සමහරු මඩ දිය හා සම ව සිටින නෙළුම් මෙන් කෙලෙස් හා සම ව සිටී. එයින් ඉහළට ඒ කෙලෙස් මල ඉක්මවා යාමට අසමත් වෙති. එහෙත් මඩ වතුරෙන් ඉහළට මතුවී එහි

නොගැවී සිටින නෙළුම් මල් මෙන් බුද්ධාදී උතුමෝ කෙලෙස් මඩ වතුරෙන් ඉහළට නැගී එහි නොගැවී වැඩ වසති. එම ජීවිතය හැඳින්වෙන්නේ පද්මාකාර ජීවිතය යනුවෙනි.

සමාජයේ සමහරු ඉතා නොදියුණු අවම පෞරුෂ ඇත්තෝ ය. ඔවුන් මඩෙහි ම ගැලී සිටින නෙළුම් පොහොට්ටු වැනි ය. තවත් සමහරු මධ්‍යම වර්ධනය සහිත පෞරුෂ ඇත්තෝ ය. ඔවුන් මඩ ජලය හා සම ව සිටින නෙළුම් පොහොට්ටු වැනි ය. බුද්ධාදී උතුමෝ උත්තම පෞරුෂ ඇත්තෝ ය. උන් වහන්සේලා ගත කරන්නේ පද්මාකාර ජීවිතයකි. කෙලෙස් සහිත පුහුදුන් මිනිස් සමාජය තුළ ම ඉපිද එයින් ම යැපී එය ඉක්මවා එහි නොගැටී වැඩ සිටීමට උන් වහන්සේලා සමත් ව ඇති බව අමුතුවෙන් කිව යුතු නොවේ. බුද්ධ ශ්‍රාවකයෝ ද ඒ අනුව ගියෝ ය. අන්ධ වූ පුහුදුන් මිනිසුන් අතර බුද්ධ ශ්‍රාවකයා මහ මග අසල කැලි කසල මත්තෙහි ඇති සුවඳවත් සුන්දර නෙළුමක් සේ නුවණින් බබළන්නේ ය.

බෞද්ධයන් වන අපගේ පරමාදර්ශය වන්නේ බුදුරජාණන් වහන්සේත්, නික්ලේශී වූ ශ්‍රාවකයින් වහන්සේලාත් ය. එම ආදර්ශය අනුව අපගේ සිතුම්, පැතුම් හා හැසිරීම් සකස් කර ගත යුතු වෙයි. පුද්ගලයා නැමැති නෙළුම විකසිත වන්නේ මිනිස් සමාජය නැමැති පොකුණේ ය. අපි සැම එම පොකුණෙහි හැදී වැඩුණු මිනිසුන් වෙමු. අපගේ උපත, පිළිසිඳ ගැනීම හා බිහි වීම අපිරිසිදු ය. අප හැදී වැඩෙන්නේ ද, වියපත් වන්නේ ද, අධ්‍යාපනය ලබන්නේ ද, දිනුම් - පැරදුම්, වාසි - අවාසි, නින්දා - ප්‍රශංසාදිය විඳින්නේ ද, සතුටින් මෙන් ම අසතුටින් වසන්නේ ද මේ සමාජය තුළ ම ය. අවිද්‍යාවෙන් අන්ධ වූ රාගාදී කෙලෙස්වලින් දූෂිත වූ ලෝකය තුළ ය. එහෙත් බෞද්ධයන් වශයෙන් අප එම ලෝකයේ ම ඇලී ගැලී සිටීම අඳුරින් අඳුරට යාමකි. දුකින් දුකට ම පත් වීමකි. වරදින් වරදට ම පෙළඹීමකි. බුද්ධාදී උතුමන්ගේ ආදර්ශය අනුව සමාජයේ සිටින අපි අපිරිසිදු මඩ ජලය ඉක්මවා ගිය නෙළුමක් මෙන් සමාජය ඉක්මවා යා යුතු ය. අවිද්‍යා තෘෂ්ණාදියෙහි ම ඇලීගැලී නොසිට ඉන් ඔබ්බට යා යුතු ය. සසර දුකෙහි ම නොගැලී ඉහළට මතු විය යුතු ය. අවම හා මධ්‍යම පෞරුෂ ඇත්තවුන් නොවී උපරිම පෞරුෂය වෙත ළඟා විය යුතු ය.

ලෝකය **අනුසෝතගාමී ය.** ගඟ පහළට ම ඇදීයන්නේ ය. මිනිස්සු රාගයෙන් රාගයට ම යති. ද්වේශයෙන් ද්වේශයට ම යති. මෝහයෙන් මෝහයට ම යති. කාමයෙන් කාමයට ම යති. වෛරයෙන් වෛරයට ම යති. බුදු දහම **පටිසෝතගාමී ය.** එනම් අප යටිගම් බලා යාම හැරපියා උඩුගම් බලා යාමට පොළඹවන්නේ ය. දූෂිත සමාජය තුළ ම රැඳී එයට ම අනුගත වීම අනුවණකමකි. නුවණැත්තා දූෂිත සමාජයේ අදූෂිත තැනැත්තෙකි. දුසිරිත් කරන මිනිසුන් සහිත සමාජයේ සුසිරිත් වඩන තැනැත්තෙකු වේ. අකුසල් කරන මිනිසුන් අතර කුසල් කරන්නකු වෙයි. පව්කම් කරන්නවුන් අතර පිංකම් කරන්නකු වෙයි. එය පද්මාකාර ජීවිතය අනුගමනය කිරීමකි. බුදුරජාණන් වහන්සේ හා උන් වහන්සේගේ ශ්‍රාවකයින් ආදර්ශයට ගැනීමකි. "**වෛර කරන්නවුන් අතර වෛර නොකර අපි සුවසේ වසන්නෙමු. අවෛරී ව ජීවත් වන්නෙමු. රාගාදී කෙලෙස් නිසා රෝගී වූ මිනිසුන් අතර අපි කෙලෙස් ලෙඩ නොමැති ව සුවසේ වසන්නෙමු. නීරෝගී ව ජීවත් වන්නෙමු. පස්කම් සැප සෙවීමෙහි ම උනන්දු වන්නන් අතර අපි එබඳු උනන්දුවකින් තොර ව සුවසේ ජීවත් වන්නෙමු. උත්සුක මිනිසුන් අතර අනුත්සුක ව වාසය කරන්නෙමු**" යැයි බුදුරජාණන් වහන්සේ වදාළහ.

පාසල් සිසුන් වන අපි ද සමාජයේ කොටස්කරුවෝ වෙමු. සමාජය තුළ නොයෙක් ආකාරයේ දුසිරිත් අපරාධ බහුල ව ඇති බව අපි දනිමු. එහෙත් එසේ දුසිරිත් කරන මිනිසුන් අතර සුසිරිත් වඩමින් දිවි ගෙවන්නට අප සමත් විය යුතු ය. අපට සමාජයෙන් පලා ගොස් හුදකලාව සිටිය නොහැකි ය. විවිධ දුබලතා සහිත විවිධ නොපනත්කම් බහුල වැරැදි ක්‍රියාවලින් යුක්ත වූ විවිධාකාර මිනිස් චරිත ඇති සමාජයේ ම අප ද ජීවත් විය යුතු ය. එහෙත් බෞද්ධ දරුවන් වශයෙන් එබඳු සමාජයක ජීවත් වන අප වග බලා ගත යුත්තේ එය ඉක්මවා යාමටයි. සමාජ විරෝධී, විනය විරෝධී හා නීති විරෝධී ක්‍රියාවන් අප වටා සිදු වෙද්දීත් ඒ කිසිවෙක නොගැටී නොඇලී ඒ සියල්ල ම ඉක්මවා ගිය පෞරුෂයක් ගොඩනගා ගැනීමට අප සමත් විය යුතු ය. එමෙන් ම අප සමග ජීවත් වන නොයෙකුත් වැරැදිවලට පෙළඹෙන අපගේ හිතමිතුරන් ද ඉන් මුදවා ගැනීමට අප ක්‍රියා කළ යුතු ය. පවතින අවිධිමත් අපිරිසිදු සමාජ ප්‍රවාහයට ම හසු නොවී එය ඉක්මවා යාම, මඩ ගොහොරු සමාජ ක්‍රමයේ ම තවත් සමාජිකයකු නොවීම අපගේ වගකීමයි. එසේ ක්‍රියා කරන්නා පද්මාකාර ජීවිතයක් ගත කරන්නෙකි.

## සාරාංශය



බුද්ධාදී උතුමෝ මඩ දියෙහි ඉපිද ඉන් මතු වූ විකසිත පියුම් වැන්නෝ ය. එම පද්මාකාර ජීවිතය අප ද ආදර්ශයට ගත යුතු ය. මිනිස්සු පවට නැඹුරු වී ලෝභ, දෝස, මෝහ ආදී සිතුවිලිවලින් යුක්ත ව විවිධ දූෂණ, අපරාධ ආදී අක්‍රමිකතාවල නිරත වෙති. අපගේ වගකීම වන්නේ එබඳු වැරැදි කරන්නවුන් අතර නිවැරැදි දේ කිරීමයි. වැරැදි බහුල සමාජයක නිවැරැදි ජීවිතයක් ගත කිරීමයි. අපිරිසිදු සිත් සතන් ඇති මිනිසුන් අතර පිරිසිදු සිත් සතන් ඇති ව විසීමයි. එය බුද්ධාදී උතුමන්ගේ ආදර්ශයයි. පද්මාකාර ජීවිතයයි.

## ක්‍රියාකාරකම



1. පද්ම උපමාව අනුව බුදුරදුන් වදාළ ත්‍රිවිධ පුද්ගලයින් නම් කරන්න.

2. පද්මාකාර ජීවිතය බුදු සිරිතේ උදාහරණ දෙකක් ඇසුරින් පැහැදිලි කරන්න.

3 ශිෂ්‍යයකු වශයෙන් ඔබ ද පද්මාකාර ජීවිතයක් ගත කළ යුත්තේ කෙසේ දැයි පහදන්න.

## පුහුණුවට



සුසුඛං වත ජීවාම - වේරිනේසු අවේරිනෝ
වේරිනේසු මනුස්සේසු - විහරාම අවේරිනෝ

(ධම්ම පදය - සුඛ වග්ගය)

අපි වෛර කරන්නවුන් අතර අවෛරී ව සුවසේ වාසය කරමු.

# 11 අපේක්ෂම සහ සහජීවනය

සහජීවනය නම් සාමයෙන්, සමගියෙන්, සහයෝගයෙන් ජීවත් වීමයි. එකමුතු ව කටයුතු කිරීමයි. එය මිනිස් සමාජයක තිබිය යුතු උසස් ලක්ෂණයක් ලෙස බුදුදහම සලකයි. "සමවායෝ එව සාධූ" **සමගිය ම යහපති**. "සමග්ගා හෝථ මා විවදථ" **සමගි වන්න විවාද නොකරන්න** මේ බුදුරජාණන් වහන්සේ දී ඇති උපදෙස් ය. අසමගියේ ආදීනව මෙන් ම සමගියේ ආනිශංස ද බුද්ධ දේශනාවලත් බෞද්ධ කථා වස්තුවලත් උගන්වා තිබේ. සමගියෙන් හා සතුටින් විවාද නොකර කිරි සහ ජලය මෙන් පැහී එකමුතු ව එකිනෙකා දෙස ප්‍රිය ඇසින් බලමින් ජීවත් වීම බුදුරජාණන් වහන්සේ විසින් නොයෙක් විට අගය කර තිබේ.

බෞද්ධ ඉගැන්වීම් අනුව එබඳු සාමයක්, සමගියක්, සහජීවනයක් ඇති වීමට නම් අප ඇතැම් හානිකර ආකල්පවලින් බැහැර විය යුතු ය. එසේ ම බොහෝ යහපත් ආකල්ප වැඩි දියුණු කරගත යුතු ය. ආගම, ජාතිය, කුලය වැනි කරුණු මුල් කොට ගෙන එකිනෙකා දෙස වෛරයෙන්, නොසතුටින් බැලීම බුදු දහම අනුමත නොකරයි. බුදුරජාණන් වහන්සේ අවවාදයෙන් මෙන් ම ආදර්ශයෙන් ද විවිධ ආගම් සහ ජාති නියෝජනය කරන මිනිසුන් සමග සහජීවනයෙන් කටයුතු කිරීමට මග පෙන්වූහ. තමන් වෙත පැමිණි වෙනත් මතධාරීන් සුහද ව පිළිගෙන දීර්ඝ ලෙස සාකච්ඡා කළහ. ඇතැම් විට ඔවුන් දරුං මතවල අඩුපාඩු පෙන්වා දුන් නමුදු සුහදත්වය නැති කර නොගත්හ. එසේ ම ඇතැම් විට වෙනත් ජන කොටස් අතර සම්භාවනාවට ලක් වූ හොඳ දේ පිළිගත්හ. එබඳු දේ බෞද්ධයන් විසින් ද අනුගමනය කළ යුතු යැයි වදාළ අවස්ථා තිබේ. එසේ ම උන් වහන්සේ වෙනත් මතවාද ඉවසූහ. නිරතුරු ව ම මැදුම් පිළිවෙත ගරු කරමින් ක්‍රියා කළහ. අන්‍ය ආගමික ආරාමවලට පවා වැඩම කරමින් වෙනත් ආගමික උතුමන් සමග සුහද සාකච්ඡා සිදු කළහ. සමහර ආගමික උතුමන් බුදුරජාණන් වහන්සේ හමුවට පැමිණි සැටි ද, ඉතා උණුසුම් ලෙස ගරු සිරිත් පෙරදැරි ව උන් වහන්සේ පිළිගත් සැටි ද සූත්‍ර දේශනාවල විස්තර වේ.

බෞද්ධ ඉගැන්වීම් අනුව සසර දුකට ජාතියක්, ආගමක් හෝ කුලයක් නැත. සියලු ජාති ආගම් කුලවලට අයත් ව මිනිස්සු උපදිති. ලෙඩ රෝග ආදියෙන් පීඩා විඳිති. මහලු වී මිය යති. අප්‍රියයන් හා එක් වීමටත්, ප්‍රියයන්ගෙන් වෙන් වීමටත් ඔවුන් සැමට සිදු වේ. කැමැති දේ නොලැබීමත් සියලු මිනිසුන්ට උරුම ය. බුදුදහමේ මූලික අවධානය යොමු වී ඇත්තේ මෙකී සසර දුක ගැනයි. ජාතිය, ආගම, කුලය, කුමක් වුව ද මිනිස් වර්ගයා ඉදිරියේ ඇති මූලික මහා ගැටලුව නම් සසර දුක ය. දුක, දුක ඇති වීම, දුක නැති කිරීම, දුක නැති කිරීමේ මග ඉගැන්වෙන චතුරාර්ය සත්‍ය ධර්මය තුළ ජාතියක්, ආගමක් ගැන කියවෙන්නේ නැත. ත්‍රිලක්ෂණය ද එසේ ය. සියල්ල අනිත්‍ය ය, එබැවින් දුක් සහිත ය. අනාත්ම ය. එහි දී ද ජාති ආගම් ආදී වෙනස්කම් අදාළ නොවේ. පටිච්ච සමුප්පාදය හෙවත් හේතුඵල

ධර්මය ද සියලු ජාතීන්ට ආගමිකයන්ට පොදු ය. මෙසේ මූලික බෞද්ධ ඉගැන්වීම් කිසිවක ජාති ආගම් කුල හෝ වෙනත් විශේෂත්වයන් ගැන අවධානය යොමු කර නැත. බෞද්ධ ප්‍රතිපදාව ද එලෙසින් ම ජාතික ආගමික විෂමතාවලින් තොර වූවකි. පංචශීලය එක් නිදසුනක් වේ. පරපණ නැසීම පාපයක්, වරදක් ලෙස උගන්වන බුදු දහම ජාතිය ආගම හෝ සත්ත්ව කොට්ඨාසය කුමක් වුව ද එය සසර දුක් ඇති කරන, අප විසින් නොකළ යුතු, අත්හළ යුතු පාපයක් ලෙස පෙන්වා දී ඇත. හිංසනය ද එයට ම ඇතුළත් ය. මේ අයුරින් අන් සතු දේ ගැනීමෙන්, කාමමිත්‍යාචාරයේ යෙදීමෙන්, රැවටීමෙන්, කවර තැනැත්තෙකුට හෝ හානි කිරීම බුදු දහම අනුමත නොකරයි. එහි දී කුමන ආගමකට හෝ ජාතියකට හෝ අයත් වුව ද මිනිසෙකුට එබඳු අවැඩක් කිරීමෙන් වළකින ලෙස උගන්වයි.

බුදු දහමෙහි ඉගැන්වෙන දානය, ජාතිය, ආගම සැලකිල්ලට ගෙන කළ යුත්තක් නොවේ. කවර ජාතියකට, ආගමකට අයත් වුව ද මිනිසෙකුට හොඳ හිතින් සතුටින් දන් දීම, පරිත්‍යාග කිරීම පින්කමකි. ප්‍රිය වචන කථා කිරීමේ දී ද ආගම් ජාති ආදී වෙනස්කම් නොසැලකේ. කවර ජාතිකයෙකු, ආගමිකයෙකු වුව ද බොරුවෙන් රැවටීම, කේලමින් බිඳවීම, හිස් වදනින් මුලා කිරීම, රළු වදනින් වෙහෙසට පත් කිරීම වරදකි; පාපයකි. අර්ථචර්යාව යනු අනුන්ගේ දියුණුවට උදවු කිරීමයි. එහි දී ජාති, ආගම් සලකා බැලිය යුතු යැයි කියා නැත. සමානාත්මතාවෙන් සංග්‍රහ කරමින් ජාතික ආගමික සමගිය, සහජීවනය ගොඩනගා ගැනීමට ඉහත කී සිවු සඟරාවත මග පෙන්වයි.

සිවු බඹ විහරණ ද එලෙසින් ම ජාතික, ආගමික වෙනස්කම්වලින් තොර ය. බුදුරජාණන් වහන්සේ වදාළ මෛත්‍රිය සියලු සත්ත්වයන්ටයි. හිතවත් අයට මෙන් ම අහිතවත් අයට ද බෞද්ධයෝ මෙත් වඩති; සෙත සැපත ශාන්තිය ලැබේවායි සිතති; කරුණාව දක්වති; කවර ජාතියකට ආගමකට අයත් වුව ද මිනිසෙකුගේ දුකක දී කම්පනය වෙති; අනුකම්පා කරති; දයාව දක්වති; කාගේ වුව ද දියුණුවේ දී සතුටු වෙති; ඊර්ෂ්‍යා නොකරති; අකුල් නොහෙලති. ජාතික ආගමික විවිධත්වය තුළ බෞද්ධයෝ උපේක්ෂා සහගත වෙති; මධ්‍යස්ථ ව සිතති. අත්තූපනායික ධර්ම පර්යාය හෙවත් තමා උපමා කොට අනුන් ගැන සිතන්නට උගන්වා ඇති බුදු දහමට ජාතිය, ආගම පිළිබඳ විෂමතා අදාළ වන්නේ නැත.

බුදුරජාණන් වහන්සේ කිසි විටකත් සමකාලීන ව පැවති ආගමික අදහස්වලට එරෙහි නොවූහ. දාර්ශනික ව ඒවා විවේචනය කිරීම එරෙහි වීමක් නොවේ. උපේක්ෂාවෙන් හා සමානාත්මතාවෙන් යුතු ව මැදුම් පිළිවෙත මත පිහිටා ක්‍රියා කළ උන් වහන්සේ වෙනත් ආගම්වලට අවශ්‍ය ගෞරවය දැක්වූහ. බෞද්ධයන් වන අප එම ආදර්ශය මත කටයුතු කිරීම අගනේ ය. වෙනත් ආගම්වලට මෙන් ම ආගමික සිද්ධස්ථානවලට ද ගරු කිරීමත් හානි නොකිරීමත් අපගේ යුතුකමක් වෙයි. අපට අප පිළිගන්නා ආගම දහම අනුව කටයුතු කිරීමට නිදහස ඇත්තා සේ ම අන් ආගමිකයන්ට ද එම නිදහස ඇති බව සිහි තබා ගත යුත්තකි. ඒ අනුව වෙනත් ජාතිවලට ආගම්වලට අයත් ජන කොටස් සමග සුහද ව මිත්‍රශීලී ව කටයුතු කිරීමට බුදු සිරිතෙන් ද බුදු දහමින් ද අපට මග පෙන්වා තිබේ. මෙම ඉගැන්වීම් ඇසුරින් පෝෂණය වුණු අතීත ශ්‍රී ලාංකේය බෞද්ධයෝ, අන්‍යාගමිකයන්, අන්‍ය ජාතිකයන් සමග සුහද ව ජීවත් වූහ. ආගමික සමගිය යනු සියලු ආගම් ඇදහීම නොවේ. සෑම ආගමකින් ම උගන්වන්නේ එක ම දෙයකි යන සරල හා වැරැදි පිළිගැනීම ද නොවේ.

ඒ බව හොඳින් දැන සිටි ශ්‍රී ලාංකේය බෞද්ධයා කළේ අන්‍යාගමික උත්සව තමන් විසින් පවත්වනු ලැබීම නොවේ; අන්‍යාගමිකයන්ට තම ආගමික කටයුතු නිදහසේ කර ගැනීමට බාධා නොකරමින් තම බෞද්ධ පිළිවෙත් මනා ව පිළිපැදීමයි. අනන්‍යතාව සුරැකීම යනු එයයි. සමගිය වෙනුවෙන් තමන්ගේකම, අපේකම පාවා දීම ශ්‍රී ලාංකේය බෞද්ධයාගේ සිරිත නොවේ.

බෞද්ධයන් වශයෙන් අප කළ යුත්තේ දැහැමි රැකියාවන් ය. අදැහැමි ධනෝපායනය අත්හැර දැහැමි ධනෝපායනයෙන් (සම්මා ආජීවයෙන්) ජීවත් වීමට බුදු දහම උගන්වයි. එනම් තමාට මෙන් ම අනුන්ට ද අවැඩක් නොවන දිවි පැවැත්මයි. මෙම ඉගැන්වීම මත සිය ජීවන රටාව ගොඩනගා ගත් ශ්‍රී ලාංකික බෞද්ධයා මුල් තැන දුන්නේ කෘෂිකර්මය, වෙළෙඳාම වැනි දැහැමි රැකියාවන්ට ය. දෑත දෙපය වෙහෙසවා දහදිය වගුරවා හරි හම්බ කර ගැනීම මදි පුංචි කමක් ලෙස නොසැලකී ය. කුඹුරේ, හේනේ අස්වැන්න සියල්ල ම නෙළා ගත්තේ නැත. කුරුල්ලන්ට ද කොටසක් ඉතිරි කිරීම සිරිත විය. වගා පාලු කරන සතුන් මරා දැමීම වෙනුවට කළේ ඔවුන්ගෙන් වගාව ආරක්ෂා කර ගැනීමට වෙනත් උපක්‍රම භාවිත කිරීමයි. ගවයන් ඇති කරන්නේ මස් පිණිස නොව කෘෂි කාර්මික කටයුතු සඳහා සහ කිරි ලබා ගැනීමට ය. මසට සතුන් ඇති නොකිරීම අපේ අනන්‍යතාවයි.

අලුත් අවුරුදු උත්සවය හැඳින්වෙන්නේ සිංහල දෙමළ යන විශේෂණ පද සහිත ව ය. එහි දී අප මුල් තැන දෙන්නේ සිංහල හා බෞද්ධ සිරිත් විරිත්වලට ය. පුණ්‍ය කාලය ගත කරන්නේ තෙරුවන වන්දනා කරමින් මවුපියන් වැඩිහිටියන් කමා කර ගනිමින් ය. නෑදෑයන් අතර, අසල්වාසීන් අතර අසමගිකම් නැති කර ගැනීමට, සුහදතාව වැඩි කර



ගැනීමට අවුරුදු චාරිත්‍ර යොදා ගැනීම අපේ සිරිත ය. සුරාවට සූදුවට මුල් තැන දීම අපේ අනන්‍යතාව නැති කර ගැනීමකි.

ගංවතුර, සුළි සුළං, නාය යෑම්, නියගය ආදි ස්වාභාවික විපත්වලට ජාතියක් නැත, ආගමක් නැත, කුලයක් නැත. සුනාමි ව්‍යසනය මීට හොඳ ම නිදසුනකි. එහි දී ලෝකයේ රටවල් රාශියක ද ශ්‍රී ලංකාවේ දිස්ත්‍රික්ක ගණනාවක ද විසූ විවිධ ආගම් ඇදහූ විවිධ ජාතීන්ට අයත් මිනිස්සු විපතට පත් වූහ; අංගවිකල වූහ; සියලු සම්පත් අහිමි වූහ. අසරණ වූහ; විවිධ ආගම්වලට හා නොයෙක් ජාතීන්ට ඇතුළත් පවුල්වල බොහෝ දරුවෝ ද විවිධ විපත්වලට මුහුණ දුන්හ. මෙබඳු ආපදාපන්න අවස්ථාවක දී අප ක්‍රියා කළ යුත්තේ නිසැකව ම සහජීවනයෙනි, සමානාත්මතාවෙනි, සමගියෙනි. ජාතිය, ආගම සැලකිල්ලට ගෙන නොවේ. එබඳු ආපදා වළක්වා ගත හැක්කේ ද එබඳු විපතකින් මිදිය හැක්කේ ද අප එසේ ක්‍රියා කිරීමෙනි. එකාවන් ව කැප වීමෙන් කටයුතු කරමින් එකිනෙකාට උපකාර කරමින් වාද භේද අත්හැර එකමුතු ව කටයුතු කිරීමයි, අප කළ යුත්තේ. මෙම අනන්‍යතාව මනා ව ප්‍රකට කරමින් ශ්‍රී ලාංකේය බෞද්ධ ජනතාව ක්‍රියා කළ අයුරු සුනාමි ව්‍යසනයේ දී දක්නට ලැබිණි. ස්වේච්ඡාවෙන් ම සංවිධානය වී ආපදාපන්න ප්‍රදේශවලට ගොස් ජාතිකත්වය, ආගමික භාවය නොවිමසා අසරණයන්ට උපකාර කළ අතර එහි දී මුල් තැන ගත්තේ පන්සල ය.

පාසල, රෝහල, බස් නැවතුම හා එහි ඇති සියලු දේ මෙන් ම මං මාවත් ආදිය ද අප කාටත් පොදු ය. ඒවා තනා ඇත්තේ එක් ජාතියකට අයත් හෝ එක් ආගමක් අදහන මිනිසුන් සඳහා හෝ නොවේ. අප සියලු දෙනා සඳහා ය. ඒවායින් සේවය සැලසෙන්නේ ද අප සියලු දෙනාට ම ය. එබඳු පොදු දේපළ හා සේවා ස්ථානවලට ජාතියක් ආගමක් නැත. එබැවින් ඒවාට හානි නොකිරීමත්, ඒවා රැක ගැනීමත් සියලු ජාතීන්ට, සියලු ආගමිකයන්ට අයත් යුතුකමකි. එබඳු කටයුතුවල දී ද අපට ජාතික ආගමික සහජීවනය අවශ්‍ය වෙයි. අප බෙදී සිටිය හොත් ඒවා රැක ගත නොහැකි ය. ඒවායින් නිසි ප්‍රයෝජන ගැනීමට ද ඉඩක් නොලැබේ.

මෙසේ බුදු දහම ද බුදු සිරිත ද අනුව අප ජාතික ආගමික සහජීවනයෙන් ක්‍රියා කරන අතර ම අපගේ අනන්‍යතාව ද රැක ගැනීමට වග බලා ගත යුතු ය. අපට අපේකමක් ඇත. අනෙක් ආගමිකයන්ට හා ජාතිකයන්ට ද ඔවුන්ගේකමක් ඇත. ඔවුන් විසින් ද ඔවුන්ගේ ආගම, ජාතිය, සිරිත්-විරිත්, පූජනීය ස්ථාන ආදිය රැක ගත යුතුවාක් මෙන් ම අප විසින් අපගේ ආගම, ජාතිය, සිරිත්-විරිත් හා සිද්ධස්ථාන ආරක්ෂා කර ගත යුතු ය. අපට ම අයත් සංස්කෘතියක් තිබේ. එය රැක ගනිමින් එයට අනුගත ව ක්‍රියා කිරීමේ යුතුකමක් අපට ඇත. පාසල් සිසුන් වශයෙන් අප සියලු ආගමිකයන් හා ජාතිකයන් සමග සහජීවනයෙන් කටයුතු කරන අතර ම අපගේ අනන්‍යතාව හෙවත් අපේකම රැක ගැනීමට ද කටයුතු කළ යුතු ය.

## සාරාංශය



ජාතික ආගමික සහජීවනය බුදු දහම කිසිසේත් ම බැහැර නොකරයි. මිනිසුන් වශයෙන් අප සියලු දෙනා එක් ව ජීවත් විය යුතු ය. චතුරාර්ය සත්‍යය, පටිච්ච සමුප්පාදය, ත්‍රිලක්ෂණය වැනි මූලික බෞද්ධ ඉගැන්වීම්වලට ජාතියක් නැත. ආගමක් ද නැත. බුදු දහමෙහි ඉගැන්වෙන පංචශීලය, සිවු සඟරාවත, සිව් බඹ විහරණ වැනි ඉගැන්වීම් තුළ ද ජාතික ආගමික වෙනසක් නොදැක්වේ. බුදුරජාණන් වහන්සේ විසින් ද ජාතික ආගමික සහජීවනයේ වැදගත්කම ආදර්ශයෙන් පෙන්වා දී ඇත. එබැවින් ජාතික ආගමික වෙනස්කම් නොසලකා මිනිසුන් වශයෙන් ආපදාපන්න අවස්ථාවල දී ද පොදු දේපළ පරිහරණයේ දී ද සහජීවනයෙන් කටයුතු කරමින් වෙනත් ආගම්වලට හා සිද්ධස්ථානවලට ගරු කරමින් ක්‍රියා කිරීම බොදු දරුවන් වන අපගේ යුතුකමයි.

## ක්‍රියාකාරකම



1.) බහුජාතික බහුආගමික සමාජයක සහජීවනයෙන් කටයුතු කිරීමට මග පෙන්වන බෞද්ධ ඉගැන්වීම් දෙකක් හඳුන්වා දෙන්න.

2.) බහුජාතික බහුආගමික පරිසරයක් තුළ පොදු දේපළ රැක ගැනීමට අදාළ වැඩ පිළිවෙළක් සඳහා යෝජනා ඉදිරිපත් කරන්න.

3.) රැකියාවක් තෝරා ගැනීමේ දී ශ්‍රී ලාංකික බෞද්ධ අනන්‍යතාව සුරැකීම සඳහා ඔබගේ අවධානය යොමු කෙරෙන්නේ කුමන කරුණු කෙරෙහි දැයි පැහැදිලි කරන්න.

## පැවරුම



අන්‍ය ආගමික ස්ථානයක් නැරඹීමට ගොස් එහි දී ඔවුන් ඔබ පිළිගත් ආකාරය, ඔබ සමග ඔවුන් කටයුතු කළ ආකාරය සහ ඔබ ජීවිතයට අලුතින් එක් කර ගත් දේ ඇසුරින් චිත්‍රයක්, කවි පංතියක්, ලිපියක් හෝ චිත්‍ර කථාවක් නිර්මාණය කර බිත්ති පුවත්පතේ ප්‍රදර්ශනය කරන්න.




# කර්මය සහ එහි ප්‍රභේද හැඳින ගනිමු

බුදුරජාණන් වහන්සේ සැවැත් නුවර දෙව්රම් වෙහෙර වැඩ වසන සමයෙහි දිනෙක සුභ නම් මානවයෙක් උන් වහන්සේ හමුවට පැමිණියේ ය. බුදුරජාණන් වහන්සේ සමග සතුටින් කතාබස් කොට එකත්පස් ව සිටි සුභ මෙසේ විමසී ය.

"භවත් ගෞතමයන් වහන්ස, මේ මිනිස් ලෝකයේ ජීවත් වන හැම දෙනා ම එක සමාන නැහැ. සමහරුන්ට ආයුෂ අඩුයි. සමහරුන්ට වැඩියි. සමහරුන්ට ලෙඩ දුක් අඩුයි. සමහරුන්ට වැඩියි. සමහරු නොපැහැපත්, සමහරු පැහැපත්. මේ විදියට අල්පේශාඛ්‍ය හා මහේශාඛ්‍ය, දුප්පත් හා පොහොසත්, සමාජ සම්මතයෙන් පහත් හා උසස්, නුවණ අඩු හා වැඩි, මිනිස්සු ඉන්නවා. මේ විදිහට ලෝකේ මිනිසුන් අතර වෙනස්කම් ඇති වෙන්න හේතුව මොකක් ද?"

බුදුරජාණන් වහන්සේ සුභ මානවකයාට දේශනා කළේ සත්ත්වයන් උස් පහත් වශයෙන් බෙදනු ලබන්නේ **කර්මය** විසින් බවයි. **කර්මය යනු ක්‍රියාව ය.** සිතා මතා කරනු ලබන ක්‍රියාව ය. **මහණෙනි, මම චේතනාව ම කර්මය යැයි කියමි** යි බුදුරජාණන් වහන්සේ තවත් විටෙක වදාළහ. මේ අනුව සත්ත්වයින් පහත් හෝ උසස් යැයි බෙදනු ලබන්නේ සිත යොමු කිරීමෙන් තොර ව කරනු ලබන ක්‍රියාව නොවේ. සචේතනික ක්‍රියාව ය. මිනිස්සු එසේ කරනු ලබන ක්‍රියාවන්හි හිමිකරුවෝ වෙති. ඔවුහු එය ම දායාද කොට ඇත්තෝ ය. එය ම කරණකොට ඇත්තෝ ය. එය ම ඥාති කොට, පිළිසරණ කොට ඇත්තෝ ය. සිතාමතා කරනු ලබන ඒ ඒ ක්‍රියාවන් අනුව ම මිනිස්සු ඉහත කී පරිදි උසස් පහත් තත්ත්වයන් ලබන්නෝ ය.

බුදු දහම අනුව මිනිසුන්ගේ සචේතනික ක්‍රියාවන් ප්‍රකට වන, ක්‍රියාත්මක වන දොරටු තුනකි. පළමු වැන්න **කයයි**, එනම් දෑත්, දෙපා හා කායික අඟපසඟයි. ශරීරයයි. දෙවැන්න **වචන** භාවිතයයි. හෙවත් කථා බහයි. තෙවැන්න **මනසයි.** චේතනාවයි. මේ අනුව කර්මය තුන් ආකාර ය.

1. කාය කම්ම (කයින් සිදු වන සචේතනික ක්‍රියා)
2. වචී කම්ම (වචනයෙන් සිදු වන සචේතනික ක්‍රියා)
3. මනෝ කම්ම (මනසින් සිදු වන සචේතනික ක්‍රියා)

මෙසේ තිදොරින් කරන කර්ම නැවත දෙයාකාර වෙයි. එනම් අකුසල කර්ම හා කුසල කර්ම යනුවෙනි. සුභ මානවකයාට එදා බුදුරදුන් වදාළ පරිදි අකුසල කර්ම හෙවත් සසර දුක් උපදවන නරක අවැඩදායක සචේතනික ක්‍රියා දස වැදෑරුම් ය.

දස අකුසල කර්ම නමින් හැඳින්වෙන එම සචේතනික ක්‍රියාවන් සිත කය වචනය යන තිදොරින් ප්‍රකට වන්නේ මෙසේ ය.

1. ප්‍රාණඝාත (සත්ව ඝාතනය, හිංසාව)
2. අදත්තාදානය (සොරකම, අනුන්ගේ දේ ගැනීම) } කාය කම්ම
3. කාමමිත්‍යාචාරය (වැරදි කාම සේවනය, පරදාර සේවනය)

4. මුසාවාද (බොරුකීම, අනුන් රැවටීම)
5. පිසුනාවාච (කේලාම් කීම, අනුන් බිඳුවීම) } වචී කම්ම
6. පරුසාවාච (පරුෂ වචන කීම, රළු වචන කීම)
7. සම්පප්පලාප (හිස් වචන කීම, නිසරු වදන් දෙඩීම)

8. අභිධ්‍යාව (දැඩි ලෝභය, මසුරු බව)
9. ව්‍යාපාදය (තරහව) } මනෝ කම්ම
10. මිත්‍යාදෘෂ්ටිය (වැරැදි දැකීම, වැරැදි වැටහීම)

සසර සැප උපදවන වැඩදායක ක්‍රියා කුසල කර්ම නම් වේ. ඉහත දක්වන ලද ප්‍රාණඝාත අදත්තාදානාදී දස වැදෑරුම් අකුසල ක්‍රියාවන්ගෙන් වැළකීම දස කුසලකර්ම නමින් උගන්වනු ලැබේ. අකුසල් නොවන්නේ කුසල් ය.

ඉහත දක්වන ලද කුසලාකුසල කර්ම කිරීමට පුද්ගලයා පොළඹවන ප්‍රධාන මානසික මූලයන් ගැන ද බුදු දහමෙහි ඉගැන්වේ. ඒ අනුව අකුසල මූල තුනක් හා කුසල මූල තුනක් ද දක්වා තිබේ.

අකුසල මූල

1. ලෝභය (සම්පත් පිළිබඳ ඇති ඇල්ම)
2. ද්වේශය (අන් අය පිළිබඳ ඇති විරුද්ධවාදී බව)
3. මෝහය (පින් පවු විපාකාදිය නැතැයි සිතීම, මුලාව)

කුසල මූල

1. අලෝභය (නිර්ලෝභී බව, නොමසුරු බව)
2. අද්වේශය (ද්වේශයෙන් තොර බව, මෙත්තා කරුණා ඇති බව)
3. අමෝහය (මුලාවෙන් තොර බව, පින් පවු විපාකාදිය පිළිගැනීම)

කර්මය පිළිබඳ ප්‍රභේද රාශියක් බුදු දහමෙහි දක්වා තිබේ. විපාක දෙන කාලය අනුව කර්මය සතරාකාර ය.

1. දිට්ඨධම්මවේදනීය කර්ම
2. උපපජ්ජවේදනීය කර්ම
3. අපරාපරියවේදනීය කර්ම
4. අහෝසි කර්ම

## 1. දිට්ඨධම්මවේදනීය කර්ම

මෙලොව දී ම විපාක දෙන කුසලාකුසල කර්ම දිට්ඨධම්මවේදනීය කර්ම නමින් හැඳින්වේ. මෙම කර්මය මගින් ප්‍රවෘත්ති විපාක ලැබෙන අතර ප්‍රතිසන්ධි විපාක නොලැබේ. ප්‍රවෘත්ති විපාක යනු උපතේ සිට මරණය දක්වා වූ කර්මානුරූප විපාක ය. ප්‍රතිසන්ධි විපාක යනු මරණින් මතු නැවත උපතක් ලබා දීමට අදාළ කර්මානුරූප වූ බලපෑමයි.

## 2. උපපජ්ජවේදනීය කර්ම

මරණින් මතු පළමු ආත්මභාවයේ දී විපාක දෙන කර්මය උපපජ්ජවේදනීය කර්මය නම් වේ. මෙම කර්ම ප්‍රවෘත්ති විපාක මෙන් ම ප්‍රතිසන්ධි විපාක ද ලබා දීමට සමත් වෙයි. අකුසල පක්ෂයෙන් මව මැරීම, පියා මැරීම, බුදුවරයෙකුගේ ලේ සෙලවීම, රහතුන් මැරීම, සංඝ භේදය යන පඤ්චානන්තරිය පාපකර්ම සිදු කළ අය ද කුසල පක්ෂයෙන් පඤ්ච අභිඥා, අෂ්ටසමාපත්ති ආදී ධ්‍යාන උපදවා ගත් අය ද කර්මයට අනුරූපී ව දෙවන භවයෙහි සැප හෝ දුක් විපාක ලබති.

## 3. අපරාපරියවේදනීය කර්ම

අපරාපරියවේදනීය කර්ම යනු දෙවන ආත්මභාවයෙන් පසු කවර හෝ ආත්මභාවයක දී විපාක දෙන කර්ම ය. සසර දුකින් නිදහස් ව නිවන් දක්නා ජාති දක්වා කිසි යම් භවයක දී විපාක ලබා දීමට එම කර්ම සමත් වෙයි.

## 4. අහෝසි කර්ම

විපාක නො දී අහෝසි වී යන කර්ම අහෝසි කර්ම නම් වේ. කිසි යම් පුද්ගලයකු සියලු කෙලෙසුන් නසා රහත් භාවයට පැමිණ පිරිනිවන් පෑ විට පෙර කරන ලද කර්ම විපාක දීමට අවස්ථාවක් නොලැබේ. නිශ්චිත අවස්ථාවෙහි විපාක දීමට ඉඩ නොලැබීමෙන් අවිපාක බවට පත් වන කර්ම මෙ නමින් හැඳින්වෙයි.

විපාක දෙන ආකාරය අනුව ද කර්මය සතරාකාර ය.

1. ගරුක කර්ම
2. ආසන්න කර්ම
3. ආචිණ්ණ කර්ම
4. කටත්තා කර්ම

## 1. ගරුක කර්ම

වෙනත් කර්මයකින් වළකාලිය නොහැකි වඩාත් ශක්තිමත් බලසම්පන්න කුසලාකුසල කර්මයෝ ගරුක කර්ම නාමයෙන් හැඳින්වෙති. පඤ්චානන්තරිය පාපකර්ම හා නියත මිථ්‍යාදෘෂ්ටිය ද ගරුක අකුසල කර්ම වේ. මෙම අකුසල කර්මයන්හි නියත

ප්‍රතිඵලය වන්නේ අපාගත වීමයි. පඤ්ච අභිඥා, අෂ්ට සමාපත්ති වශයෙන් ඉගැන්වෙන ධ්‍යාන උපදවාගෙන ඉන් නොපිරිහී මිය ගිය විට බ්‍රහ්ම ලෝකවල උපත ලබන්නේ එම ගරුක කර්මයෙහි ප්‍රතිඵල වශයෙනි. සෝවාන් ආදී මාර්ග ඵල උපදවා ගැනීම ද කුසල පක්ෂයෙහි ගරුක කර්ම ගණයට අයත් ය.

## 2. ආසන්න කර්ම

මරණාසන්න අවස්ථාවේ දී කරන ලද්දා වූ හෝ කලින් මොහොතක සිදු කරන ලදුව මරණාසන්න මොහොතේ සිතට නැගුණා වූ හෝ කුසලාකුසල කර්ම මෙනමින් හැඳින්වේ. ගරුක කර්ම විපාක දීමට ඉදිරිපත් වී නොමැති මොහොතක මෙවැනි කර්මයක් ප්‍රතිසන්ධිය ලබා දීමට ඉදිරිපත් වේ. මට්ටකුණ්ඩලී නම් තරුණයා මරණාසන්න මොහොතෙහි බුදු රදුන් දැක සිත පහදවා ගත් පිනෙහි ප්‍රතිඵලයක් ලෙස දිව්‍ය ලෝකයේ ඉපදුණේත්, කොසොල් රජුගේ බිසවක වන මල්ලිකාව අවසන් මොහොතෙහි සිතට නැගුණු අකුසල සිතුවිල්ලක් නිසා දුගතිගාමී වූයේත් ආසන්න කර්මයට අනුරූපවයි.

## 3. ආචිණ්ණ කර්ම

ජීවිත පුරුද්දක් ලෙස සිදු කරන ලද කුසලාකුසල කර්ම හා කලින් කරන ලදුව නිරන්තරයෙන් සිහි කරන ලද කුසලාකුසල චේතනා ආචිණ්ණ කර්ම නමින් හැඳින්වේ. නිදසුන් ලෙස නිතිපතා පුරුද්දක් වශයෙන් සිදු කරන දන් දීම, සිල් රැකීම, භාවනා කිරීම, ආදී කුසල ක්‍රියාවන් ද සොරකම, සත්ත්ව ඝාතනය ආදී අකුසල කර්ම ද දැක්විය හැකි ය. මෙවැනි කර්ම සිදු කරන පුද්ගලයා සුගතිගාමී වීම හෝ දුගතිගාමී වීම ආචිණ්ණ කර්මයෙහි ප්‍රතිඵලයක් ලෙස දැක්විය හැකි ය. ගරුක හෝ ආසන්න කර්මවල බලපෑමක් නැති විටෙක ප්‍රතිසන්ධිය ලබා දීමට ආචිණ්ණ කර්මය ද ඉදිරිපත් වේ.

## 4. කටත්තා කර්ම

දැඩි චේතනාවක් නොමැති ව සිදු වන අසම්පූර්ණ කුසලාකුසල කර්ම මෙම ගණයට අයත් ය. මෙවැනි කර්ම ප්‍රතිසන්ධි විපාක ලබා දීමට අසමත් ය. එහෙත් ජීවිත කාලය පුරා ප්‍රවෘත්ති විපාක ලබා දීමට සමත් ය. ගරුක, ආසන්න, ආචිණ්ණ කර්මවල බලපෑමක් නැති විටෙක කටත්තා කර්ම විපාක ලබා දීමට ඉදිරිපත් වේ.

කෘත්‍ය හෙවත් කාර්යයන් අනුව ද කර්මය සතරාකාර වෙයි.

1. ජනක කර්ම
2. උපත්ථම්භක කර්ම
3. උපපීඩක කර්ම
4. උපඝාතක කර්ම

## 1. ජනක කර්ම

ප්‍රතිසන්ධිය ලබා දීමට ඉවහල් වන්නේ ජනක කර්මයයි. එනම් මිය පරලොව ගොස් ඊළඟ භවයක උපත ලබා දීමට ඉවහල් වන කර්මයයි. ජනක අකුසල කර්ම නිරය, තිරිසන්, ප්‍රේත, අසුර යන සතර අපායන්හි ඉපදීමටත්, ජනක කුසල කර්ම සදෙව් ලොව ද මිනිස් ලොව සැප ඇති ස්ථානවල ද උපත ලැබීමටත් ඉවහල් වේ.

## 2. උපත්ථම්භක කර්ම

ජනක කර්මයෙන් උපන් තැනැත්තාට එම ජීවිතය තව දුරටත් පවත්වා ගැනීමට උපත්ථම්භක කර්මය උපකාර වේ. ඒ අනුව ජනක කර්මයට අනුබල දෙන, කුසලාකුසල කර්මයන්ට රුකුල් දෙන කර්මය උපත්ථම්භක කර්මයයි. දුක්ඛිත උපතට රුකුල් දී එම උපත තවත් අසරණ කිරීමටත් සුගතිගාමී උපතට අනුබල දී එම භවය තවත් සැපවත් කිරීමටත් උපත්ථම්භක කර්මය ඉවහල් වේ.

## 3. උපපීඩක කර්ම

කුසලාකුසල වශයෙන් දෙයාකාර වන මෙම කර්මය ප්‍රවෘත්ති විපාක ලබා දෙන්නකි. ජනක කර්මයට බාධා පමුණුවන එහි බලය හීන කරවන කර්මය උපපීළක හෙවත් උපපීඩක කර්මයයි. උපපීළක අකුසල කර්මය ජනක කුසල කර්මයට ද උපපීළක කුසල කර්මය ජනක අකුසල කර්මයට ද හානි කරයි.

## 4. උපඝාතක කර්ම

ජනක කර්මයේ විපාක දීමේ හැකියාව නැති කොට තමා ම විපාක ලබා දෙන කර්මය උපඝාතක නම් වේ. උපඝාතක අකුසල කර්ම ජනක කුසල කර්මයේ ද උපඝාතක කුසල කර්ම ජනක අකුසල කර්මයේ ද විපාක දීමේ ශක්තිය නැති කරයි. මෙම පැහැදිලි කිරීම්වලින් බුදුදහමේ ඉගැන්වෙන කර්මය සත්ත්වයා කෙරෙහි කෙතරම් බලපෑමක් ඇති කරන්නේ ද යන්න පෙන්වා දෙයි.

කර්මයේ බලපෑම කෙතරම් තීරණාත්මක වුව ද වර්තමාන කර්මවලින් සහ පරිසර සාධක ඇසුරින් අතීත කර්ම ශක්තිය පාදා ගැනීමට ද වෙනස් කර ගැනීමට හෝ ඇතැම් විට නැති කර ගැනීමට ද හැකියාව ඇත. එවැනි අවස්ථා හතරක් පහත දැක්වේ.

1. ගති සම්පත්ති
2. උපධි සම්පත්ති
3. කාල සම්පත්ති
4. ප්‍රයෝග සම්පත්ති

## 1. ගති සම්පත්ති

කිසි යම් පුද්ගලයෙකු උපත ලබන්නේ යස ඉසුරින් පිරුණු ස්ථානයක නම් පෙර භවයන්හි දී සිදු කරන ලද අකුසල කර්මයන්හි විපාක දීම බොහෝ විට වැළකී යයි. ලැබුණු උපත අකුසල කර්ම විපාක දීමට නොගැළපෙන පරිසරයක් බැවින් එවැනි කර්ම විපාක දීමෙන් වළකී.

## 2. උපධි සම්පත්ති

උපධි සම්පත්ති යනු උසස් රූප ශෝභාවකට හිමිකම් කීමයි. දුගී පවුලක උපත ලැබුව ද ඉහළ මට්ටමේ රූප ශෝභාව හේතුවෙන් වාසනාවන්ත ජීවිතයක් ගත කිරීමට අවස්ථාව උදා විය හැකි ය. දුගී පවුල්වල උපත ලද කාන්තාවන් රජ, සිටු ආදී ප්‍රභූවරුන්ගේ බිසෝවරුන් බවට පත් වූ අවස්ථා රැසක් ඇත.

## 3. කාල සම්පත්ති

යහපත් සෞභාග්‍යවත් කාලයක් තුළ උපත ලද පුද්ගලයාට පාප කර්මවල විපාක නොලැබී යයි. නැති නම් අඩු වේ. කාලය යහපත් නිසා වාසනාවන්ත ජීවිතයක් ගත කිරීමට අවස්ථාව ලැබේ. රටක දක්ෂ ධාර්මික පාලකයෙකු පහළ වී ජනතාවට සුඛිත මුදිත ජීවිතයක් ගත කිරීමට අවශ්‍ය පහසුකම් සලසා දෙන විට එම ප්‍රතිලාභ අකුසල කර්මයක් සිදු කළ පුද්ගලයාට වුව ලැබීමේ භාග්‍යය උදා වේ.

## 4. ප්‍රයෝග සම්පත්ති

ස්ථානෝචිත ප්‍රඥාවෙන් හා උත්සාහයෙන් කටයුතු කිරීමේ දී තමාට මුහුණ දීමට සිදු වන අකුසල කර්ම විපාක ද මගහරවා ගත හැකි ය. මෙය ප්‍රයෝග සම්පත්තිය වශයෙන් හැඳින්වේ. කරදර බාධකවලට මුහුණ දෙන විට සියල්ල කර්මයට පවරා නොදී ප්‍රඥාව අධිෂ්ඨානය උත්සාහය පෙරදැරි කොට ජීවිත අභියෝග ජය ගැනීමට ප්‍රයෝග සම්පත්තිය අප පොළඹවාලයි.

ඉහත විස්තර කරන ලද සම්පත්ති සතර අකුසල පක්ෂයෙන් ගති විපත්ති, කාල විපත්ති, උපධි විපත්ති, ප්‍රයෝග විපත්ති වශයෙන් දුක් විපාක අත්පත් කර දීමට මුල් විය හැකි බව ද වටහා ගත යුතු ය.

අපට මුහුණ දීමට සිදු වන මිහිරි සහ අමිහිරි බොහෝ අත්දැකීම්වලට ප්‍රධාන හේතුවක් වන්නේ තිදොර මුල් වී සිදු කරනු ලබන කුසලාකුසල කර්ම බව මේ අනුව වටහා ගත හැකි ය.

## සාරාංශය



කර්මය බුදු දහමේ ප්‍රධාන ඉගැන්වීමකි. පුද්ගලයා චේතනාව පෙරටු කොට කයින්, වචනයෙන් හා මනසින් කර්ම රැස් කරයි. අකුසල කර්ම සඳහා ලෝභ, දෝස, මෝහ යන අකුසල සිතුවිලි මුල් වේ. කුසල කර්ම සඳහා අලෝභ, අදෝස, අමෝහ යන කුසල සිතුවිලි මුල් වේ. කර්මයේ ප්‍රභේද රැසකි. අකුසලයෙන් වැළකී කුසලයෙහි යෙදීමෙන් දෙලොව ජීවිතය සාර්ථක කර ගැනීමට උත්සාහ කළ යුතු ය.

## ක්‍රියාකාරකම



පහත දැක්වෙන වගුව සම්පූර්ණ කරන්න.

| කර්ම ප්‍රභේදයේ නම | අර්ථය | කුසල විපාක දෙන අයුරු | අකුසල විපාක දෙන අයුරු |
|---|---|---|---|
| | | | |

01. "කර්මය සත්ත්වයා උස් පහත් වශයෙන් බෙදයි." පැහැදිලි කරන්න.

## පුහුණුවට



යාදිසං වපතෙ බීජං
තාදිසං හරතෙ ඵලං
කල්‍යාණකාරි කල්‍යාණං
පාපකාරී ච පාපකං

යම් බීජයක් වපුරා ද ඒ අනුව ඵල ලැබේ. එසේ ම යහපත් ක්‍රියා තුළින් යහපත් විපාක ලැබේ. අයහපත් ක්‍රියා තුළින් අයහපත් විපාක ලැබේ.

# 13

# ඇති තතු කියන තිලකුණු දහම

සියල්ල අනිත්‍ය ය, අනිත්‍ය වන බැවින් දුක් සහිත ය, දුක් සහිත වන බැවින් අනාත්ම ය යන ත්‍රිලක්ෂණය බුදු දහමෙහි මූලික ඉගැන්වීමකි. ප්‍රඥාව ලෙස හැඳින්වෙන්නේ මෙකී ත්‍රිලක්ෂණ අවබෝධයයි. සසර දුකින් එතෙර වීමට එම අවබෝධය අවශ්‍ය ය. බුදුවරුන් උපන්න ද නූපන්න ද සදාකාලික ව ලොව පවත්නා සත්‍යය එයයි. දේශය කුමක් වුව ද, කාලය කුමක් වුව ද, ත්‍රිලක්ෂණය ලොව පවතියි. එබැවින් එය විශ්ව සාධාරණ ධර්මතාවකි. දේශ කාල වශයෙන් වෙනස් නොවන සත්‍යයකි.

### අනිත්‍ය ලක්ෂණය

අනිත්‍ය යනු වෙනස් වීමයි, කැඩෙන බිඳෙන සුලු බවයි. මෙම කැඩෙන බිඳෙන සුලු බව බුදු දහමේ ලෝක යනුවෙන් හැඳින්වේ. ඉන් අදහස් කෙරෙන්නේ ලොව සියල්ල මොහොතින් මොහොත වෙනස් වන බවත් කිසිවක ස්ථිරසාර පැවැත්මක් නොමැති බවත් ය. නිදසුනක් ලෙස විදුලි බුබුලක දැල්වීම ගැන සිතන්න. එය අඛණ්ඩ ව දැල්වෙන බවක් පෙනුණ ද සියුම් උපකරණයක ආධාරයෙන් පරීක්ෂා කළහොත් එය නිවෙමින් දැල්වෙමින් පවතින බව දැකිය හැකි ය. විද්‍යුත් දර්ශනයක රූප රාමු එකිනෙක ගෙන බලන විට සුළු සුළු වෙනස්කම් සහිත රූප පෙළක් නෙතට දිස්වේ. එහෙත් ඒවා නියමිත වේග පරාසයක ධාවනය කරන විට අපට දුවන, පනින, නටන දසුන් තිරය මත දැකිය හැකි ය. එක් මොහොතක විජයග්‍රාහී ව සිටින පුද්ගලයා ස්වල්ප කාලයක් තුළ පරාජිතයෙකු විය හැකි ය. මෙම විශ්ව ධර්මතාවට සෑම දෙයක් ම යටත් වේ. අපගේ ජීවිතය ද මවු කුස පිළිසිඳ ගත් මොහොතේ සිට ම වෙනස් වේ. මෙම වෙනස සාමාන්‍ය ව්‍යවහාරයේ දී අප සලකන්නේ වයසට යාමක් ලෙස ය.

ඉහත සඳහන් ක්‍රියාවලිය අපගේ පාලනයට හසු කොට ගත නොහැකි ය. බුදු දහමට අනුව හට ගැනීමේ ස්වභාවය ඇති සෑම දේ ම නැති වීමේ ස්වභාවයෙන් යුක්ත වේ. සත්ත්ව, පුද්ගල, ද්‍රව්‍ය ආදී ඕනෑ ම ජීව අජීව පදාර්ථයකට ම මෙම තත්ත්වය සනාතනික වූ පොදු ධර්මතාවකි. ඒ අනුව රූපය පෙණ පිඩක් වැනි ය, වේදනාව දිය බුබුළක් වැනි ය. සඤ්ඤාව මිරිඟුවක් වැනි ය, සංස්කාර කෙසෙල් කඳක් වැනි ය, විඤ්ඤාණය මායාවක් වැනි ය. බුදු දහම අනුව සත්ත්වයා, ලෝකය යනුවෙන් හැඳින්වෙන්නේ **රූප ධර්ම හා නාම ධර්මයන්** ය. **නාම** යනු, **වේදනා** නම් වූ වින්දනය **සංඥා** නම් වූ හැඳිනීම **සංස්කාර** නම් වූ චේතනා සහ **විඤ්ඤාණ** නම් වූ විජානනය හෙවත් අරමුණු දැන ගැනීමයි. **රූප** යනු ඇස, කන, දිව, නාසය, ශරීරය ආදී වශයෙන් බෙදා දැක්විය හැකි අපගේ ශරීරයයි. මේ සියල්ල අනිත්‍ය ය. කායික, මානසික, බාහිර, අභ්‍යන්තර, සවිඤ්ඤාණික, අවිඤ්ඤාණික සියල්ල ම මෙම යථාර්ථයට යටත් වන්නේ ය.

## දුක්ඛ ලක්ෂණය

ලොව සියල්ලෝ සැපයට කැමැති වෙති. සියල්ලන් සියලු කටයුතු සිදු කරන්නේ දුක් දොම්නස් අපේක්ෂාවෙන් නොවේ; සැප සොම්නස් අපේක්ෂාවෙනි. එහෙත් සංසාරික පැවැත්ම මූලික වශයෙන් ම දුක් සහිත ය. සැපදායක යැයි සැලකෙන සියලු වින්දනයන් තාවකාලික ය; අනිත්‍ය ය. එබැවින් දුක් සහිත වෙයි. දුක යනු සරල සාමාන්‍ය අප්‍රසන්න වින්දනයක් නොවේ. එය ජීවිතයේ යථාර්ථයයි. මංගල ධර්ම දේශනයේ දී ම බුදුරජාණන් වහන්සේ වදාළ පරිදි ඉපදීම දුක ය. මහලු වීම, දිරා යාම දුක ය. ලෙඩ වීම ව්‍යාධිය දුක ය. මරණය විනාශය දුක ය. ප්‍රියයන්ගෙන් වෙන් වීම දුක ය. අප්‍රියයන් හා එක් වීම දුක ය. කැමැති දේ නොලැබීම දුක ය. කෙටියෙන් කිව හොත් රූප, වේදනා, සංඥා, සංකාර, විඤ්ඤාණ යන මේ පඤ්ච ස්කන්ධයෙහි තණ්හාවෙන් තදින් එල්බ ගැන්ම නොහොත් පඤ්ච උපාදානස්කන්ධය ම දුක ය. ලෝකය යනු මෙකී පඤ්ච උපාදානස්කන්ධයයි. ලෝකය දුක මත පිහිටියේ ය. ජාති ජරා ව්‍යාධි මරණ ආදී දුක් මිල මුදල්, දූන උගත්කම්, නිලතල ආදිය නිසා ඉක්මවා යා නොහැකි ය.

## අනාත්ම ලක්ෂණය

**ආත්ම** යනු සංස්කෘත භාෂාමය යෙදුමකි. එහි පාලි යෙදුම **අත්ත** යන්නයි. සිංහල යෙදුම මම හෙවත් තමා යන්නයි. නිත්‍ය වූ, ස්ථිර වූ, නොවෙනස් ව පවතින ආත්මයක් හෙවත් මම යැයි ගත හැකි පදාර්ථයක් ඇතැයි බුදුරජාණන් වහන්සේ වැඩ විසූ කාලයේ ඇතැම් මහණ බමුණෝ ඉගැන්වූහ. එසේ ම එබඳු ආත්මයක් ඇති බවට නොයෙක් අයුරින් කරුණු දැක්වූහ; වාද විවාද කළහ. වෙනස් වන සුලු ලොව නොවෙනස් දෙය නම් ආත්මය යැයි ඔවුහු කියා සිටියහ. ඔවුන්ට අනුව සිතුවිලි සිතන්නේ ද වේදනා විඳින්නේ ද හොඳ නරක කරන්නේ ද විපාක විඳින්නේ ද ආත්මය යි. එය භවයෙන් භවය ගමන් කරයි. මෙබඳු ආත්මයක් නැතැයි කියන්නේ බුදු දහම පමණකි. මම හෙවත් ආත්මය යනු සිතින් මවා ගත්තක් බව ද විශ්වාස මාත්‍රයක් බව ද බුදු දහම පෙන්වා දෙයි. සියලු කෙලෙස් උපදින්නේ ආත්ම දෘෂ්ඨිය නිසා ය. යුද ගැටුම්, කලකෝලාහල ඇති වන්නේ ද සියලු අකුසල කරන්නේ ද මගේ ය, මම වෙමි, මගේ ආත්මය වේ, යන වැරැදි දැක්ම නිසා ය. මෙසේ ආත්මයක් ඇත යන මතය පසෙකින් තබමින් බුදුරජාණන් වහන්සේ වදාළ සත්‍යය අනාත්ම යන්නයි. ඉහත සඳහන් කළ පරිදි සත්ත්වයා, පුද්ගලයා, මම, ආත්මය යනු සම්මුතියකි. වචන මාත්‍රයකි. ඉන් අදහස් වන්නේ ස්කන්ධ, ධාතු, ආයතන යැයි හැඳින්විය හැකි ශක්ති සමූහයක් පමණි. මෙම ශක්ති සියල්ල අනිත්‍ය වන බැවින් දුක් සහිත ය. දුක් සහිත බැවින් අනාත්ම ය. මගේ යැයි, මට යැයි, මගේ ආත්මය යැයි සැලකිය නොහැක්කේ ය. මෙකී අනාත්ම ධර්මය ලොවට ප්‍රකාශ කිරීම බුදු දහමේ විශේෂත්වයත් විශිෂ්ටත්වයත් පෙන්නුම් කරන්නකි.

අනිත්‍ය වූ ධර්මයන් නිත්‍ය යැයි ද දුක් සහිත ධර්මයන් සැප යැයි ද අනාත්ම වූ ධර්මයන් ආත්ම යැයි ද අසුභ වූ ධර්මයන් සුබ යැයි ද සංසාරගත සත්ත්වයෝ විකෘතියට පත් ව සිටිති. එම විකෘතියෙන් අත්මිදී අනිත්‍ය දේ අනිත්‍ය ලෙසත්, දුක් සහිත දේ දුක් ලෙසත්,

අනාත්ම දේ අනාත්ම ලෙසත්, අසුබ දේ අසුබ ලෙසත් ඇති සැටියෙන් දැකීමට බුදු දහම මග පෙන්වයි. එසේ දක්නා තැනැත්තාට සම කළ හැකි ජයග්‍රාහී පුද්ගලයකු තවත් නැත. හෙතෙම අසීමිත වූ ආසාවන්ගෙන් තොර වේ. වෙනස් වන බැවින් ද, අසහනය අතෘප්තිය ඇති බැවින් ද, මම ය මගේ යැයි ගත නොහැකි බැවින් ද කවර දෙයක් ගැන හෝ අසීමිත ව ආශා කිරීමේ අරුතක් නැතැයි හෙතෙම දනී; එබැවින් අල්පේච්ඡ වේ. අඩු බලාපොරොත්තු ඇත්තෙකු වේ. ලද දෙයින් සතුටු වෙයි. පහසුවෙන් පෝෂණය කළ හැකි වේ. කාර්ය බහුල අයෙක් නොවේ. ඔහුගේ සිත සැහැල්ලු ය. ඉඳුරන් සන්සුන් ය. එසේ ම තිලකුණු දන්නා තැනැත්තා අකම්පිත ය. කිසිවකින් කම්පා නොවේ. සියල්ල අනිත්‍ය බව ද දුක් සහිත බව ද අනාත්ම බව ද වටහා ගෙන සිටී. හෙතෙම අටලෝ දහමින් නොසැලේ. ලාභයෙන් මත් නොවේ. අලාභයෙන් දුක් නොවේ. යසසින් උමතු නොවේ. අයසින් ශෝක නොවේ. නින්දා ප්‍රශංසා සැප දුක් ආදියෙන් නොසැලේ. කම්පා නොවේ. එසේ ම තිලකුණු දන්නා දක්නා තැනැත්තා මැදිහත් ය. උත්සාහවන්ත ය. ඔහු අන්තගාමී නොවේ.

එබඳු තැනැත්තා කිසිදු පිලකට පක්ෂයකට අන්තයකට ගැති නොවේ. එරෙහි ද නොවේ. මැදිහත් ව සිතන හෙතෙම හැම පැත්තක් ම දකී. එසේ ම ඔහු අනතිමානී ය. ආචාරශීලී ය. ප්‍රියමනාප ය. තුටුපහටු ය. ප්‍රමුදිත ය. මෙසේ සියල්ල අනිත්‍ය ය, දුක් සහිත ය, අනාත්ම ය යන සත්‍යය දැන දැක පසක් කිරීම බුදු දහමේ විපස්සනාව ලෙස දැක්වේ. එය ම ත්‍රිලක්ෂණ භාවනාවයි. එම තිලකුණු දැන දැක පසක් කිරීම ම ප්‍රඥාවයි. ප්‍රඥාව සසර දුකින් එතෙර ව නිවන් පසක් කරනු පිණිස උපකාර වන්නේ ය.

## සාරාංශය

ත්‍රිලක්ෂණය බුදු දහමේ මූලික ඉගැන්වීමකි. අනිත්‍ය, දුක්ඛ, අනාත්ම යනු ත්‍රිලක්ෂණයයි. ලෝකයෙහි යථා ස්වරූපය අවබෝධ කර ගත හැකි වීම, අකම්පිත වීම, සමබර පෞරුෂයක් ලැබීම, උපේක්ෂාවෙන් කටයුතු කළ හැකි වීම හා අවසානයේ නිර්වාණාවබෝධය සාක්ෂාත් වීම තිලකුණු දැක්මේ ප්‍රතිඵල වේ. එය ම ප්‍රඥාව ය, විපස්සනාව ය.

## ක්‍රියාකාරකම



1. ත්‍රිලක්ෂණය හඳුන්වන්න.
2. තිලකුණු දැක්මෙහි මෙලොව ප්‍රයෝජන පෙන්වා දෙන්න.

## පුහුණුවට



අනිච්චාවත සංඛාරා - උප්පාද වයධම්මිනෝ
උප්පජ්ජිත්වා නිරුජ්ඣන්ති - තේසං වූපසමෝ සුඛෝ
(පරිනිබ්බාන සූත්‍රය)

ඇති වී නැති ව යන බැවින් සංස්කාර ඒකාන්ත වශයෙන් ම අනිත්‍ය ය. සංස්කාර ඉපදී නැති වන්නේය. ඒ සංස්කාර වල සංසිඳීම සැපයකි.




# පටිච්ච සමුප්පාද න්‍යාය හැඳින ගනිමු

අග්‍රශ්‍රාවක සැරියුත් මහරහතන් වහන්සේ පළමුව පැවිදි වී සිටියේ සංජය පිරිවැජිතුමන්ගේ ශිෂ්‍යවරයකු ලෙස ය. එකල එතුමන් හැඳින්වුණේ උපතිස්ස යන නාමයෙනි. තමන් සොයන සැනසීම පරිව්‍රාජක දහමින් නොලැබෙන බව වටහා ගත් උපතිස්ස පිරිවැජිතුමා තම කලණ මිතුරු කෝලිත පිරිවැජිතුමන් සමග කතිකා කරගත් පරිදි සංචාරය කළේ සැබෑ නිවන් මග දෙසනු ලබන ඇදුරුතුමකු සොයමින් ය. රජගහ නුවර දී අස්සජි මහරහතන් වහන්සේ සහ උපතිස්ස පරිව්‍රාජකතුමන් අතර හමුව සිදුවන්නේ එම සංචාරයේ දී ය. එදා උපතිස්ස පිරිවැජිතුමා මහරහත් අස්සජි තෙරණුවන්ගෙන් මෙසේ විමසීය.

**"ඔබ වහන්සේ පැවිදි වූයේ කවරකු උදෙසා ද? ඔබ වහන්සේගේ ගුරුතුමා කවරෙක් ද? කාගේ දහමක් ද ඔබ වහන්සේ රුචි කරන්නේ?"**

මෙයට පිළිතුරු වශයෙන් තමන් වහන්සේගේ ශාස්තෘ වූ බුදුරජාණන් වහන්සේ විසින් දේශනා කරනු ලබන ධර්මය කුමක් ද යන්න අස්සජි මහරහතන් වහන්සේ ඉතා කෙටියෙන් පැහැදිලි කළේ මෙසේ ය.

**යේ ධම්මා හේතුප්පභවා තේසං හේතුං තථාගතෝ ආහ**
**තේසං ච යෝ නිරෝධෝ එවං වාදී මහාසමණෝ**

"හේතුවෙන් උපදින යම් ධර්ම කෙනෙක් වෙත් ද ඒ ධර්මයන්ගේ හේතුව තථාගතයන් වහන්සේ වදාළ සේක. ඒ ධර්මයන්ගේ යම් නිරෝධයක් වේද එය ද දේශනා කළ සේක. මහාශ්‍රමණ වූ ඒ තථාගතයන් වහන්සේ මෙබඳු දේශනාවක් කරන්නෙකි," යනු එම ගාථාවේ අදහසයි.

මෙම දහම වටහා ගත් උපතිස්ස පරිව්‍රාජකතුමා සෝවාන් වූ බව සඳහන් වෙයි. එම පරිව්‍රාජකතුමා තුළ එබඳු සුවිශේෂ පරිවර්තනයක් සිදුවූයේ මහ රහත් අස්සජි හිමි වදාළ ගාථාවෙහි ඇතුළත් ව බුදු දහමේ මූලික හරය අවබෝධ කරගත් බැවිනි. එම හරය නම් **පටිච්ච සමුප්පාද ධර්මයයි.** බෞද්ධ හේතුඵල ධර්මය යනුවෙන් ද එය හැඳින්වේ. එම ධර්මතාවට අනුව ලෝකයේ **පුද්ගල, වස්තු** හා **සිද්ධි** වශයෙන් දක්නට ලැබෙන කිසිවක් ස්වාධීන බවක් නැත. තනි ක්‍රියාකාරිත්වයක් නැත. අන්‍යෝන්‍ය සම්බන්ධයෙන් තොරව, තනි තනිව ඇතිවන, තනි තනිව පවතින කිසිවක් නැත. බුදු දහමෙහි කියැවෙන්නේ යමක් ඇති වීමට තවත් දෙයක් හෝ දේවල් කීපයක් හෝ බලපාන බවයි. එසේ ඇතිවන දෙය **ඵලය** ලෙසත් ඒ සඳහා බලපාන දෙය **හේතුව** ලෙසත් හැඳින්වෙයි.

හේතු නිසා ඇතිවන සියල්ල ම නැතිවන ස්වභාවයෙන් ද යුක්ත බව බුදුරජාණන් වහන්සේ දේශනා කළහ. හේතු නැතිවන විට ඒ හේතු නිසා හටගත් දෑයද නැතිව යයි. **හේතුං පටිච්ච සම්භූතං හේතු භංගා නිරුජ්ඣති...** යන්නෙන් ඉදිරිපත් කර තිබෙන්නේ එම ධර්මතාවයි.

යම් කිසිවක් හට ගැනෙන්නේ හෝ පවතින්නේ හෝ තවත් දෙයක් නිසා නම් ඒ දෙක අතර සබඳතාවක් පවතින බව පැහැදිලි ය. එය වඩාත් ම පැහැදිලි වන්නේ හට ගැනීමට හේතුවන දේ නොවන්නේ නම් එබඳු හට ගැනීමක් ද නොවන බැවිනි. එක් දෙයක හට ගැනීමට, ඇතිවීමට බලපාන්නේ යමක් ද එය **හේතුවයි.** එම හේතුවෙහි ක්‍රියාකාරිත්වය නිසා ඇතිවන දෙය, හට ගැනෙන දෙය **ඵලයයි.** එක් සිදුවීමක් සඳහා බලපාන ඊට මුලින් වන සිදුවීම හේතුවයි. එම සිදුවීම් වල අනිවාර්ය සම්බන්ධතාව නිසා ඊළඟට වන සිදුවීම ඵලයයි. මුලින් දෙය නොවිණි නම් දෙවැන්න ද නැත. මුල් සිදුවීම නොවිණි නම් පසු සිදුවීම් ද නොවේ. මෙම අන්‍යෝන්‍ය සම්බන්ධතාව පැහැදිලි කෙරෙන සුවිශේෂ ධර්ම ක්‍රමය **පටිච්ච සමුප්පාදය** වශයෙන් හැඳින්වේ.

**පටිච්ච සමුප්පාද** යන යෙදුමෙන් කියැවෙන්නේ **සහේතුක බව, හේතු සහිත බව, අහේතුක නොවන බව** යන්නයි. එනම් ලෝකයේ වස්තු පුද්ගල සිද්ධි යන සියල්ලක් ම හේතු ප්‍රත්‍ය සම්බන්ධතාවකට අනුව ක්‍රියාත්මක වන බවයි. ඒ බව මතුකර පෙන්වන ධර්ම ක්‍රමය හෙවත් න්‍යාය, ප්‍රතීත්‍ය සමුත්පාද න්‍යායයි. එය බුදුරජාණන් වහන්සේ විසින් ඉතාම කෙටියෙන් මෙසේ දේශනා කරනු ලැබ ඇත.

**ඉමස්මිං සති ඉදං හෝති**
**ඉමස්ස උප්පාදා ඉදං උපපජ්ජති**
**ඉමස්මිං අසති ඉදං න හෝති**
**ඉමස්ස නිරෝධා ඉදං නිරුජ්ඣති**

මෙම පාලි වාක්‍ය හතර සිංහලෙන් ලියැවෙන්නේ පහත සඳහන් පරිදි ය.

**මෙය** ඇති කල්හි **මෙය** වෙයි
**මෙය** ඉපදීමෙන් **මෙය** උපදී
**මෙය** නැති කල්හි **මෙය** නොවේ
**මෙය** නැති වී යෑමෙන් **මෙය** නැතිව යයි.

මෙම වාක්‍ය හතර දෙස බැලූ විට එක ම දෙය දෙවරක් සඳහන් වී ඇතැයි ඇතැම් විට සිතෙනු ඇත. නමුත් එය එසේ නොවන බව විමසිල්ලෙන් බලන විට පැහැදිලි වේ. පළමු වාක්‍යයේ **මෙය වෙයි** යන්න වෙනුවට දෙවන වාක්‍යයේ සඳහන් වන්නේ **මෙය උපදියි** කියාය. තෙවන වාක්‍යයේ **නොවෙයි** යන්න වෙනුවට සිව්වන වාක්‍යයේ එන්නේ **නැතිව යයි** කියාය. පැහැදිලිව ම මෙහි එන්නේ හේතුඵල සම්බන්ධතාව දැක්විය හැකි ආකාර දෙකකි. **පළමුවැන්නෙන් පැවැත්මේ සම්බන්ධතාව කියැවෙන අතර දෙවැන්නෙන් උප්පාද සම්බන්ධය කියැවේ.**

තුන සහ හතර යන වාක්‍යවල අර්ථයේ වෙනස ද ඒ අනුව තේරුම් ගත හැකි ය. පැහැදිලි කර ගැනීමේ පහසුව සඳහා භෞතික උදාහරණයක් ගනිමු. හිස් තටු දෙකක් සහිත තරාදිය සමාන්තර ව පවතී. එහි එක් තටුවක් පහත් වුවහොත් ඊට සමාන්තර ව අනෙක් තටුව එසවී පවතී. පළමු වාක්‍යයෙන් දැක්වෙන්නේ එබඳු සබඳතාවකි. **තණ්හාව ඇති කල්හි දුක ඇත. තණ්හාව නැති කල්හි දුක නැත.**



උත්පාද සම්බන්ධය පැහැදිලි කිරීමට ද භෞතික උදාහරණයක් දැක්විය හැකි ය. **පහන ඉපදීමෙන් ආලෝකය උපදී.** ආලෝකය උපන්නේ පහන හෙවත් පහන් සිළුව උපන්න නිසා ය. එයින් පැහැදිලි වෙන්නේ එක් දෙයක උපත තවත් දෙයක උපතට හේතුවන බව ය. මේ අනුව ඉහත සඳහන් **ඉමස්මිං සති ඉදං හෝති...** ආදී පටිච්ච සමුප්පාද මූල සූත්‍රයෙහි තෙවැනි හා සතරවැනි වැකි දෙකින් නොපැවැත්ම හා නැතිවී යාම පිළිබඳවත් කියැවෙන බව පැහැදිලි ය.

එක් තරාදි තටුවක් පහත්ව නොතිබිණි නම් අනෙක් තටුව ඊට සමාන්තර ව උස්ව නොපවතී. පහන් සිල නූපන්නේ නම් ආලෝකය ද නූපදී. පහන නිවුණු විට ආලෝකය ද නැති වී යයි. අධ්‍යාත්මික කරුණුවල දී ද මෙම න්‍යාය ක්‍රියාත්මක වෙයි. **ක්‍රෝධය උපන් විට වෛරය උපදී. ක්‍රෝධය නිවී ගිය විට වෛරය ද සංසිඳෙයි.** මෙම සියලු සිදුවීම්වල ක්‍රියාත්මක වන ධර්මතාව **ප්‍රතීත්‍ය සමුත්පාද න්‍යාය** හෙවත් **පටිච්ච සමුප්පාදය** ලෙස හැඳින්වේ. මෙම න්‍යායට අනුව සමාජ ගැටලු ඇතිවන ආකාරය සහ ඒවා විසඳා ගත හැකි ආකාරය ද තේරුම් ගත හැකි ය. බුදුරජාණන් වහන්සේ මෙසේ වදාළ සේක:

දුප්පත් අයට ධනය නොදීම නිසා දිළිඳුකම වැඩි විය.
දිළිඳුකම වැඩි වීම නිසා හොරකම වැඩි විය.
හොරකම වැඩි වීම නිසා අවි ආයුධ වැඩි විය.
අවි ආයුධ වැඩි වීම නිසා ජීවිත හානි වැඩි විය.

මේ ආකාරයෙන් දිගින් දිගට සමාජ ගැටලු ඇතිවූ අයුරු, ඇතිවන අයුරු පැහැදිලි කෙරෙන දේශනා තුළ විග්‍රහ කෙරෙන්නේ සෑම සිදුවීමක ම ප්‍රතීත්‍ය සමුත්පාද න්‍යාය ක්‍රියාත්මක වන ආකාරයයි.

මෙම න්‍යායට අනුව සමාජගත ප්‍රශ්න විමසා බැලීමට, විසඳා ගැනීමට අප පුරුදු වන්නේ නම් එය බුදු දහම ජීවිතයට සම්බන්ධ කර ගැනීමකි. මෙහෙම වුණේ ඇයි? මෙසේ සිදුවන්නේ ඇයි? යනුවෙන් නිතරම සිතින් ප්‍රශ්න කිරීමට අප පුරුදු විය යුතු ය. ගැටලුවක

පසුබිම තේරුම් ගත හැක්කේ එවිට ය. ගැටලුවේ සැබෑ හේතුව දුටු විට එම හේතුවට පිළියම් යෙදීමෙන් ගැටලුව නිරාකරණය කර ගත හැකි ය.

ඩෙංගු උණ බහුල වන්නේ ඇයි? ඩෙංගු මදුරුවන් බෝ වීම නිසා ය. ඩෙංගු මදුරුවන් බහුල වන්නේ ඇයි? පරිසරය අපවිත්‍ර නිසා ය. ඩෙංගු නැති කිරීමට කුමක් ද කළ යුත්තේ? පරිසරය පවිත්‍රව තබා ගත යුතු ය. පරිසරය අපවිත්‍ර නොවූ කල්හි මදුරුවන් බෝවන්නේ නැත. මදුරුවන් බෝ නොවූ කල්හි ඩෙංගු උණ සැදෙන්නේ නැත. මේ ආකාරයට ගැටලු දෙස බැලීමට සහ ඒවා විසඳා ගැනීමට **පටිච්ච සමුප්පාදය** භාවිතා කිරීමට හුරුවෙමු.

## සාරාංශය



ලෝකයේ වස්තු, පුද්ගල, සිද්ධි වශයෙන් දක්නට ලැබෙන කිසිවක් තනිව ක්‍රියාත්මක වන්නේ නැත. සෑම ක්‍රියාවක ම, සෑම සිද්ධියක ම අන්‍යෝන්‍ය සම්බන්ධතාවක් පවතී. ඒ සම්බන්ධතාව හේතු හා ඵල වශයෙන් දක්වනු ලැබේ. අස්සජි මහරහතන් වහන්සේ විසින් උපතිස්ස පිරිවැජිතුමාට දේශනා කරන ලද **යේ ධම්මා හේතුප්පභවා...** ආදී ගාථාවෙහි ඇතුළත් වන්නේ ද හේතුඵල ධර්මතාවයි. පටිච්ච සමුප්පාද න්‍යාය වශයෙන් දැක්වෙන්නේ මෙම හේතුඵල වල අනුරූපි සම්බන්ධතාව ප්‍රකට කරන ක්‍රමයයි. එය ඉතා මැනැවින් ප්‍රකට කර තිබෙන්නේ **ඉමස්මිං සති ඉදං හෝති...** ආදී මූල සූත්‍රයෙහි ය. මෙම ප්‍රතීත්‍ය සමුත්පාද න්‍යාය ගැටලු නිරාකරණයට ද භාවිතා කළ හැකි ය.

## ක්‍රියාකාරකම



1. 'යේ ධම්මා හේතුප්පභවා.......' ආදී ගාථාවේ අර්ථය ඔබේ වචනයෙන් ලියන්න.
2. පටිච්ච සමුප්පාද මූල සූත්‍රය හා එහි තේරුම මතකයෙන් කියන්න.

## පැවරුම



ඔබට මතු වූ ගැටලුවක් ප්‍රතීත්‍ය සමුත්පාද න්‍යාය භාවිතා කරමින් විසඳාගෙන ඒ පිළිබඳ වාර්තාවක් පිළියෙල කරන්න

# 15 සිව්සස් හැඳින සැනසුම ලබමු

බුදුවරයකු ලොව පහළ වන්නේ උත්තරීතර පරම සත්‍යය මිනිස් වර්ගයාට දේශනා කිරීම පිණිස ය. එම පරම සත්‍යය නම් චතුරාර්ය සත්‍යයයි. බුදුවරුන් උපන්න ද නූපන්න ද ලෝකයේ පවත්නා යථාර්ථය හෙවත් උතුම් සත්‍යය එමගින් හෙළිදරව් කෙරේ. එහි දේශ, කාල, ජාති වෙනසක් නැත. දේශය කුමක් වුව ද සදතනික ව ලොව පවත්නා යථාර්ථය චතුරාර්ය සත්‍යය මගින් ප්‍රකාශිත ය. බුදු දහම අනුව ජීවිතය හා ලෝකය පිළිබඳ යථාර්ථය අවබෝධ කර ගන්නා තුරු මනා නුවණින් දැන දැක එහි ඇති තතු ඇති හැටියෙන් ම පසක් කරන තුරු සසර වසන සත්ත්වයාට ඉන් මිදිය නොහැකි ය. ඔහුට විමුක්තියක් නැත. එසේ සසරින් එතෙර වීම සඳහා ප්‍රත්‍යක්ෂ වශයෙන් හෙවත් අත්දැකීමක් වශයෙන් නුවණින් දැන දැක ගත යුතු යථාර්ථය චතුරාර්ය සත්‍ය ධර්මයෙහි අන්තර්ගත ය. මිනිස් සිත් සතන් තුළ මුල් බැස ඇති රාග, දෝස, මෝහ ආදී සියලු කෙලෙස් මුලිනුපුටා දමා ආර්ය භාවයට පත් බුද්ධාදී උතුමන් විසින් අවබෝධ කර ගනු ලැබූ සත්‍යය චතුරාර්ය සත්‍යයයි. එම සත්‍යය ආර්ය සත්‍ය ලෙස හැඳින්වෙන්නේ එබැවිනි.

මිනිස් ජීවිතයේ යථාර්ථයත් මිනිසාගේ විමුක්තියත් ආර්ය සත්‍යයෙන් හෙළිදරවු කෙරේ. එම යථාර්ථය නම් සසර දුක ය. එය මිනිසා ඉදිරියේ ඇති මහා ප්‍රශ්නය වේ. විමුක්තිය නම් නිවනයි; දුකින් අත් මිදීමයි. ආර්ය සත්‍යයට ඇතුළත් වන්නේ දුකත්, එයට හේතුවත්, දුකින් අත් මිදීමත්, ඒ සඳහා අනුගමනය කළ යුතු පිළිවෙතත් ය. එනම් මිනිස් සංහතිය ඉදිරියේ ඇති මහා ගැටලුවත්, එම ගැටලුවට හේතුවත්, එයට ඇති විසඳුම හා විසඳුම් මගත් ය. එම කරුණු හෙළිදරවු කිරීම බුදු දහමේ මූලික අරමුණයි.

ඒ අනුව චතුරාර්ය සත්‍ය දේශනාව බුදු දහමේ මූලික ඉගැන්වීම ලෙස සැලකිය හැකි ය. මහ ඇතාගේ අඩි සලකුණු තුළට වනයෙහි ඕනෑ ම සතෙකුගේ අඩි සලකුණු ඇතුළු කළ හැකි ය. එමෙන් ම පන්සාළිස් වසක් මුළුල්ලේ බුදුරජාණන් වහන්සේ වදළ කවර දේශනාවක් වුව ද චතුරාර්ය සත්‍යයෙන් එකකට ඇතුළු කළ හැකි ය. ඉන් පරිබාහිර වූ කිසිවක් බුදුවරු දේශනා නොකරති. බුදුරජාණන් වහන්සේ බරණැස ඉසිපතන මිගදයෙහි දී පස්වග භික්ෂූන් අමතා සිදු කළ මංගල ධර්ම දේශනාවේ දී මෙම මූලික ඉගැන්වීම පහදා දුන් සේක.

මේ උතුම් සත්‍ය සතර මෙසේ යː

1. දුක්ඛ ආර්ය සත්‍යය (දුක පිළිබඳ උතුම් සත්‍යය)
2. දුක්ඛ සමුදය ආර්ය සත්‍යය (දුක හට ගැනීමට හේතුව පිළිබඳ උතුම් සත්‍යය)
3. දුක්ඛ නිරෝධාර්ය සත්‍යය (දුක නැති කිරීම පිළිබඳ උතුම් සත්‍යය)
4. දුක්ඛ නිරෝධ ගාමිනී පටිපදා ආර්ය සත්‍යය (දුක නැති කිරීමේ මාර්ගය පිළිබඳ උතුම් සත්‍යය)



දම්සක් පැවතුම් සූත්‍රය අනුව ඉපදීම දුක ය, වයසට යාම දුකය, ලෙඩවීම දුකය, මරණය දුක ය, ප්‍රියයන්ගෙන් වෙන් වීම, අප්‍රියයන් හා එක් වීම මෙන් ම කැමැති දේ නොලැබීම ද දුක ය. කෙටියෙන් කියතොත් රූප, වේදනා, සඤ්ඤා, සංඛාර, විඤ්ඤාණ යන පඤ්චස්කන්ධය සිතින් දැඩි ව ගැනීම හෙවත් උපාදානය දුක ය. මෙම දේශනාවෙහි මූලික අර්ථය නම් මිනිස් ජීවිතයේ අසාරත්වයයි. හරයක්, තේරුමක්, ගත යුත්තක් නැති බවයි. සසර දිවිය තුළ අප කුමන සම්පත් කවර ශක්තීන් සොයා සපයා ගත්ත ද නැවත නැවතත් ඉපදීම ඒ කිසිවෙකින් පාලනය කළ නොහැකි ය. විවිධ ලෙඩ රෝග වැළඳීම, වයස්ගත ව දිරාපත් වීම, මරණයට පත් වීම ඇතුළු ඉහත කී දුක් දොම්නස් කිසිවක් සත්ත්වයාට පාලනය කළ නොහැකි ය; වැළැක්විය නොහැකි ය. ධනය, බලය, සවිශක්තිය, දැන උගත්කම ආදී කුමන හැකියාවක් තිබුණ ද උපදින, ලෙඩ වන, මහලු වන, මැරෙන බැවින් සසර පැවැත්ම අසාර

ය. එහි අර්ථයක් නැත. එසේ ම එය අතෘප්තිකර ය. තෘප්තියකට සෑහීමකට ඇති වීමකට ළඟා විය නොහැකි ය. ජීවිතයේ අත්විඳිය හැකි සාංසාරික සැප ඇති බව බුදු දහම පිළිග නී. පින් කිරීමෙන් ද සැප ලැබේ. එහෙත් එම සැප සම්පත් සියල්ල තාවකාලික ය, අනිත්‍ය ය. එබැවින් විඳිනු ලබන කිසිවක් සැපයක් ලෙස හැඳින්විය නොහැකි ය; දුකක් ම වේ. ඒ කිසිවකින් ආවසානික තෘප්තියක් නොලැබේ.

අසාර බව, අතෘප්තිකර බව, තුච්ඡ බව, අර්ථ ශූන්‍ය බව දුක්ඛ යන බුද්ධ වචනයෙහි ගැඹුරු තේරුමයි. ඉන් අදහස් වන්නේ සාමාන්‍ය කනගාටුව, අසන්තෝෂය, ඇඬීම හෝ වැලපීම නොවේ.

මෙකී සසර දුක තුන් ආකාර යැයි ධර්ම විවරණවල දැක්වේ.

1. දුක්ඛ දුක්ඛතා (සාමාන්‍ය දුක්)
2. විපරිණාම දුක්ඛතා (වෙනස් වීමේ දුක)
3. සංඛාර දුක්ඛතා (ඇතිවීම් නැතිවීම් හේතුවෙන් හටගන්නා දුක)

යනුවෙනි.

ආහාර, නිවාස, ඇඳුම්, බෙහෙත් ආදී අවශ්‍යතා පිළිබඳ ප්‍රශ්න, ජාතීන් අතර, දේශයන් අතර ඇති ප්‍රශ්න ආදී සියල්ල විසඳා ගත්ත ද සසර දුක පිළිබඳ ප්‍රශ්නය මිනිසා ඉදිරියට එයි. ඔහු එයට මුහුණ දිය යුතු ය.

දුක්ඛ සමුදයාර්ය සත්‍යයෙන් ඉහත කී සසර දුක් හට ගැනීමට හේතු සාකච්ඡා කරනු ලැබේ. සත්ත්වයා විවිධාකාර දුක් පීඩාවලට පත් වන්නේ අහේතුක ව නොවේ. කිසි යම් දෙවියකුගේ හෝ බ්‍රහ්මයකුගේ කැමැත්ත අනුව ද නොවේ. හේතු සාධක ඇති ව ය. එහි මූලික හේතුව නම් මිනිස් සිත්සතන් තුළ මුල් බැස ඇති අසීමිත තණ්හාවයි; අතෘප්තියයි. නිමක් නැති ආශාවයි. එම තණ්හාව මුල් කොටගත් සියලු කෙලෙස් දුකට හේතු වේ. බුදුරජාණන් වහන්සේගේ ප්‍රථම උදානයෙහි කියැවෙන පරිදි තමන් වහන්සේ සසර නොයෙකුත් ආත්මභාවවල ඉපිද ජරා මරණාදී දුක් දොම්නස්වලට මුහුණ දුන්නේ තණ්හාව නිසා ය. යම් සේ ගසක මුල ශක්තිමත් ව නොගැලවී පවත්නේ ද ඒ තාක් කල් එම ගස නැවත නැවතත් ලියලන්නා සේ අප සිත් සතන් තුළ තණ්හාව මුල් බැස ඇති තාක් සසර දුක හට ගනී. දම්සක් පැවතුම් සූත්‍රය අනුව පුනර්භවය ඇති කරන ඇල්ම සතුට සහිත වූ ඒ ඒ තැන සිත අලවන තණ්හාව දුක්ඛ සමුදය ආර්ය සත්‍යයයි. සාමාන්‍ය ජීවිතයේ දී වුව ද මිනිසුන් දුක් විඳින්නේ ආසාවන් ඉටු කර ගැනීමට ය. විවිධ ගැටලු, තාඩන පීඩන ආදියට පවා ගොදුරු වන්නේ ආසාවන් පසුපස යාමෙනි. මිනිස් සිත තුළ මෙන් ම මිනිසුන් අතර ද විවිධ ගැටුම්, කලකෝලාහල ආදිය ඇති වන්නේ ද මෙකී තණ්හාව නිසා ම ය. එබඳු කලහ, ගැටුම් නිසා ද මිනිස්සු දුකට පත් වෙති. නිරතුරු ව ම සත්ත්වයා මදිකමින් හෙවත් ඌන බවින් පෙළෙමින් ඇති වීමක් නැති ව අතෘප්තියෙන් යුක්ත ව තණ්හා ආශාවන්හි දසයකු වී ක්‍රියා කරමින් දුක් විඳින බව බුදු දහම පෙන්වා දෙයි.

මෙසේ සසර දුකට හේතු වන විවිධ ක්ලේශ ධර්මයන් අතර මූලික වන තණ්හාව මංගල ධර්ම දේශනාවේ දී තුන් ආකාරයකට බෙද දක්වා තිබේ. එහි **කාම තණ්හාව** යනු පස්කම් සැපතට ඇති ආශාවයි. ඉඳුරන් පිනවීමේ අසීමිත කැමැත්තයි. **භව තණ්හාව** යනු මම හෙවත් ආත්මය පිළිබඳ හැඟීම මුල්කොට ගෙන ඇති වන ආශාවයි. මම නිත්‍ය වශයෙන් දිගින් දිගට ම සසර සැප විඳිමි යන අපේක්ෂාවයි. **විභව තණ්හාව** පරලොවක් නැත යන පිළිගැනීම මත මෙලොව වශයෙන් හැකි තාක් සැප විඳීමට ඇති ආශාවයි. මේ හැරුණු විට තවත් නොයෙක් ආකාරවලින් සසර දුකට මුල් වන තණ්හාව බුදු දහමෙහි බෙද දක්වා තිබේ.

ලෝකය දුක මත පිහිටා ඇති බවත් ඊට මූලික හේතුව මිනිස් සිත් තුළ ඇති අසීමිත තණ්හාව බවත් පෙන්වා දුන් බුදුරජාණන් වහන්සේ එම දුකින් අත්මිදීම දුක්ඛ නිරෝධාර්ය සත්‍යයෙන් හෙළි කොට වදාළහ. මුලින් උදුරා දැමූ ගස නැවත පැළ නොවන්නේ පොළොව සමග ඇති සියලු සබඳතා නැති වී තිබෙන බැවිනි. එසේ ම සසර දුකට මුල් වන තණ්හාව ද මුලින් ම උදුරා දැමීම දුක්ඛ නිරෝධාර්ය සත්‍යය නම් වේ. එනම් ගස නැවත පැළ නොවන්නා සේ දුක නැවත හට නොගැනීමයි. සසර දුක් කෙළවර වීමයි. නිවන් පසක් කිරීමයි. සියලු කෙලෙස් නැති වීමයි. ජාති, ජරා, ව්‍යාධි, මරණාදියෙන් නිදහස් වීමයි. දුකින් මිදීමයි. විමුක්තියයි. එය බුද්ධාදී උතුමන්ගේ අත්දැකීම වේ. **මම සසර නැවත නැවතත් ඉපදෙමින් පීඩා විඳීමට හේතුව වූ තණ්හාව මුලිනුපුටා දැමුවෙමි'යි** බුදුරජාණන් වහන්සේ ප්‍රථම උදානයෙහි වදාළහ. දුක්ඛ නිරෝධාර්ය සත්‍යය හෙවත් නිවන එනම් තණ්හාව නැති කිරීම යනු භව නිරෝධය වේ. රාග, දෝෂ, මෝහාදී සියලු කෙලෙස් නැවත නූපදිනා පරිදි ක්ෂය කිරීම වේ. දම්සක් පැවතුම් සූත්‍රය අනුව සසර දුක් ඇති කරන ඒ තණ්හාව ඉතිරි නොවන ලෙස නැති වීම, නොඇල්ම හෙවත් විරාගය, නිරෝධය, සියලු ආශාවන් අත්හැරීම සියලු අතින් නිදහස් වීම, මිදීම ආලය දුරු කිරීම නිවනයි. මිනිස් සිත තුළ තණ්හාව හා එය මුල් කොට ගත් කෙලෙස් ඇති තාක් අවිද්‍යාව රජ කරයි. එය අඳුරකි. අවිද්‍යාවෙන් අන්ධ ව තණ්හාවෙන් මුසපත් ව සිටින මිනිසුන්ට ඇති තතු නොපෙනේ. ඇති තතු ඇති ලෙස දකින්නේ නිකෙලෙස් මනසිනි. එම තත්ත්වයට පත් උතුමෝ පරම සුවය විඳින්නෝ ය. සසර නැවත නූපදින්නෝ ය. නූපදිනා බැවින් මහලු වීම, ලෙඩ වීම, මරණය ආදී කිසිදු කටුක, අප්‍රසන්න අත්දැකීමකට, දුක් පීඩාවකට ගොදුරු නොවන්නෝ ය.

බුදුරජාණන් වහන්සේ වදළ සිව් වන ආර්ය සත්‍යය නම් දුක්ඛ නිරෝධ ගාමිනී පටිපදා ආර්ය සත්‍යයයි. එනම් දුකින් මිදීමේ මගයි. එනම් අංග අටකින් යුතු ආර්ය මාර්ගයයි. එහි සම්මා දිට්ඨි යනු චතුරාර්ය සත්‍යය පිළිබඳ ඥානය වේ. අකුසලය ද අකුසල මූලය ද කුසලය ද කුසල මූලය ද අකුසලය ද අකුසල විපාකය ද කුසලය ද කුසල විපාකය ද දැන දැක ගන්නා ඥානය සම්මා දිට්ඨියයි. නෙක්ඛම්ම එනම් පස්කම් සැපතින් නික්මීම ද අනුන් නොනැසීම ද අවිහිංසා එනම් හිංසා නොකිරීම ද යන මේ සංකල්පනාවෝ සම්මා සංකප්ප වෙති. වචනයෙන් සිදු වන බොරු කීම, කේලාම් කීම, හිස් වචන කීම හා රළු වචන කීම යන අකුසල් සතරින් වැළකීම සම්මා වාචා වේ. පරපණ නැසීම, සොරකම, වැරදි කාම සේවනය, යන අකුසල් තුනෙන් වැළකීම 'සම්මාකම්මන්ත' යයි.

අධාර්මික ජීවත් වීමේ ක්‍රමවලින් ඈත් වී දැහැමි ලෙස ජීවත් වීම සම්මා ආජීවය යි. ආයුධ වෙළෙඳාම, මස් වෙළෙඳාම, මත් ද්‍රව්‍ය වෙළෙඳාම හා අනුන් රවටන ඊකියාවලින් ඈත් වී අනුන්ටත් තමන්ටත් හානියක් නොවන අන්දමින් ජීවත් වීමයි. නූපන් අකුසල් නොඉපිදවීම පිණිස ද උපන් අකුසල් නැති කිරීම පිණිස ද නූපන් කුසල් ඉපිදවීම පිණිස ද උපන් කුසල් දියුණු කිරීම පිණිස ද සතරාකාර උත්සාහය සම්මා වායාමයයි. සතර සතිපට්ඨාන වැඩීම සම්මා සතියයි. එනම් කායානුපස්සනා, චිත්තානුපස්සනා, වේදනානුපස්සනා, ධම්මානුපස්සනා යන අනුපස්සනා දියුණු කිරීමයි. ධ්‍යාන වැඩීමෙන් සිත පිරිසිදු කිරීම හා එකඟ කිරීම සම්මා සමාධියයි. එනම් ප්‍රථම ධ්‍යානය, ද්විතීය ධ්‍යානය, තෘතීය ධ්‍යානය, චතුර්ථ ධ්‍යානය යන ධ්‍යාන උපදවා ගැනීමයි. මෙහි සම්මා දිට්ඨි සම්මා සංකප්ප යන මාර්ග අංග ප්‍රඥ ශික්ෂාවට ඇතුළත් වේ. සම්මා වාචා, සම්මා කම්මන්ත, සම්මා ආජීව යන මාර්ගාංග සීල ශික්ෂාවට ද සම්මා වායාම, සම්මා සති, සම්මා සමාධි යන මාර්ගාංග සමාධි ශික්ෂාවට ද ඇතුළත් වේ. ඉහත කී සීලයෙන් සමාධියට ද සමාධියෙන් ප්‍රඥවට ද ගමන් කළ යුතු ය. එය නිවන් මගයි. දුක්ඛ නිරෝධ ගාමිනී පටිපදවයි.

මාර්ගාංග වශයෙන් අටකින් ද ශික්ෂා වශයෙන් තුනකින් ද යුක්ත වන දුක්ඛ නිරෝධ ගාමිනී පටිපදව මධ්‍යම ප්‍රතිපදවයි. එනම් බුද්ධකාලීන භාරතයෙහි ප්‍රධාන වශයෙන් පිළිගත් විමුක්තිකාමී පටිපදවන් දෙකෙන් එකකට හෝ නොවැටෙන්නකි. එම සමකාලීන විමුක්ති මාර්ගවලින් පළමු වැන්න කාමසුඛල්ලිකානුයෝගයයි. අසීමිත ලෙස පස්කම් සුව සෙවීමයි. ඉඳුරන් පිනවීමයි. එය එක්තරා අන්තයක් ලෙස ද පහත් වූ නොදියුණු වූ පුහුදුන් මිනිසුන් කැමැති වන අවැඩදයක වූ පිළිවෙතක් ලෙස ද බුදු දහම පෙන්වා දෙයි. එවැනි පිළිවෙතක් තුළ සදචාරය සංස්කෘතිය පවත්වාගෙන යා නොහැකි ය. එය සදචාර විරෝධී, ආගම් විරෝධී, මිනිසුන් බිහි කරයි. අනෙක් අන්තය අත්තකිලමථානුයෝගය යි. එනම් විවිධ දුෂ්කර ව්‍රත අනුගමනය කරමින් අධික ව අසීමිත ලෙස ඕනෑකමින් දුක් විඳීමයි. ආගමික අරමුණක් වෙනුවෙන් ජීවිතයේ සියලු සැනසිල්ල එමගින් කැප කරනු ලැබේ. දුක්ඛ නිරෝධගාමිනී පටිපදව ඉහත අන්ත දෙකින්ම බැහැර වන බැවින් මධ්‍යම ප්‍රතිපදව ලෙස හඳුන්වා තිබේ.

බුදුරජාණන් වහන්සේ වදළ දුක්ඛ ආර්ය සත්‍යය මැනැවින් වටහා ගත යුත්තකි. අප විසින් එය මැනැවින් තේරුම් ගත යුතු ය. දුක්ඛ සමුදයාර්ය සත්‍යය එනම් තණ්හාව ප්‍රහීන කළ යුත්තකි. අප විසින් එය දුරු කළ යුතු ය. දුක්ඛ නිරෝධාර්ය සත්‍යය එනම් නිවන අත්දැකීමක් ලෙස පසක් කළ යුත්තකි. එය අප විසින් ප්‍රත්‍යක්ෂ කළ යුතු ය. දුක්ඛ නිරෝධ ගාමිනී පටිපද ආර්ය සත්‍යය, පුහුණු කළ යුත්තකි. එම ප්‍රතිපදවෙහි අප හැසිරිය යුතු ය. එදිනෙද දිවියේ දී වුව ද අප පළමුවෙන් අප ඉදිරියේ ඇති ගැටලු හදුරා තේරුම් ගත යුතු ය. දෙවනු ව එම ගැටලුවලට තුඩු දී ඇති හේතු අනාවරණය කරගත යුතු ය. තෙවනු ව විසඳුම කුමක් දැයි අවබෝධ කරගත යුතු ය. සිව් වනු ව විසඳන මග ගමන් කළ යුතු ය. එය පාසල් සිසුන්ට මෙලොව ගැටලු තේරුම් ගෙන විසඳා ගැනීමට හොඳ ම මග පෙන්වීමකි.

## සාරාංශය



ශ්‍රේෂ්ඨ වූත් උතුම් වූත් ඇත්ත සතර චතුරාර්ය සත්‍යය නමින් හැඳින්වේ. දුක්ඛ ආර්ය සත්‍යයෙන් දුකත්, දුක්ඛ සමුදය ආර්ය සත්‍යයෙන් දුක හට ගැනීමට හේතුවත්, දුක්ඛ නිරෝධ ආර්ය සත්‍යයෙන් දුක නැති වීමත්, දුක්ඛ නිරෝධ ගාමිනී පටිපද ආර්ය සත්‍යයෙන් දුක නැති වීමේ මාර්ගයත් පැහැදිලි කෙරේ. බුදු, පසේ බුදු, මහරහතන් වහන්සේලා ආර්ය නාමයෙන් හැඳින්වෙන්නේ මෙම උතුම් ආර්ය සත්‍ය සතර අවබෝධ කොට ගත් නිසා ය. සත්ත්වයා ඉදිරියේ ඇති මහා ගැටලුව එයට හේතු, විසඳුම හා විසඳන මග ද පෙන්වා දෙන මෙම දේශනාව අපගේ මෙලොව ජීවිතයට ද මහඟු මග පෙන්වීමක් කරයි.

## ක්‍රියාකාරකම



01. අසීමිත ආශාවන් නිසා මිනිසුන් දුකට පත් වන සැටි පැහැදිලි කරන්න.

02. අප මුහුණ දෙන ගැටලු තේරුම් ගෙන විසඳා ගැනීමට චතුරාර්ය සත්‍යයෙන් ලබා ගත හැකි ආදර්ශය පෙන්වා දෙන්න.

## පැවරුම



නිවසේ දී ඔබ හා අනෙකුත් සාමාජිකයින් මුහුණ දෙන ගැටලු දෙකක් නම් කොට ඒවා චතුරාර්ය සත්‍ය ක්‍රමයට විග්‍රහ කරන්න.

## පුහුණුවට



යථාපිමූලෙ අනුපද්දවේ දළ්හෙ - ඡින්නෝපි රුක්ඛෝ පුනරේවරූහති
ඒවංපි තණ්හානුසයේ අනූහතේ - නිබ්බත්තති දුක්ඛමිදං පුනප්පුනං

(ධම්ම පදය - තණ්හා වග්ගය)

යම් සේ මුල් නිරුපද්‍රිතව තිබියදී කපන ලද ගස නැවත නැවත ලියලයිද, එමෙන් සියුම් ලෙස හෝ ඇති තණ්හාව ඉවත් නොකළ කල්හි දුක නැවත නැවත හටගනියි.

# 16 බුදු සිරිතයි පරිසරයයි

අප අවට ඇති වටපිටාව පරිසරය ලෙස හැඳින්වෙන බව ඔබ දන්නා කරුණකි. එය ප්‍රධාන වශයෙන් දෙයාකාර ය. එනම්,

1. ජීව පරිසරය
2. අජීව පරිසරය යනුවෙනි.

මෙයින් ජීව පරිසරයට මිනිසා ඇතුළු සියලු සත්ත්ව සමූහයාත් නොමැරුණු තුරුලතා ආදියත් ඇතුළත් වේ. අජීව පරිසරයට අයත් වන්නේ වාතය, ජලය, හිරුඑළිය, පස, කඳු, හෙල්, පර්වත ආදියයි. මේ ජීව පරිසරය කෙරෙහි අජීව පරිසරය ද අජීව පරිසරය කෙරෙහි ජීව පරිසරය ද අන්‍යෝන්‍ය වශයෙන් බලපායි. මෙම පරිසර පද්ධති දෙක පවතිනුයේ එකිනෙකට උපකාර ව ය. මිනිසුන් සහිත ජීව පරිසරය විසින් අජීව පරිසරයේ යහ පැවැත්ම ද අජීව පරිසරය විසින් මිනිසුන් ඇතුළු ජීව පරිසරයේ යහපැවැත්ම ද ඇති කළ යුතු වෙයි.

මිනිසාගේ යුතුකම විය යුත්තේ පරිසරය ආරක්ෂා කිරීමයි. ඒ සඳහා පරිසරයට ආදරය කරන මිනිසුන් බිහි විය යුතු ය. මේ ලෝකයේ පරිසරයට හිතෛෂී ව කටයුතු කළ මිනිසුන් අතර ප්‍රමුඛත්වය හිමි වන්නේ බුදුරජාණන් වහන්සේට ය. බෝධිසත්ව චරිතය තුළිනුත්, බුද්ධ චරිතය තුළිනුත්, දේශනා කළ ධර්මය තුළිනුත් ජීව අජීව පරිසරය කෙරෙහි පැවති ළෙන්ගතුකම කොතෙක් ද යන්න වටහාගත හැකි ය. උපතේ සිට බුද්ධ පරිනිර්වාණය දක්වා වූ බුද්ධ චරිතය අධ්‍යයනය කරන්නෙකුට උන් වහන්සේ පරිසරය කෙරෙහි හිතානුකම්පී ව කටයුතු කළ අවස්ථා කොතෙකුත් හඳුනාගත හැකි ය.

සිදුහත් බෝසතාණන් වහන්සේගේ උපත සිදුවූයේ ලුම්බිනි නම් සල් උයනෙහි ය. එය කිඹුල්වත් නුවර හා දෙව්දහ නුවර අතර මාර්ගයේ පසෙක පැවති සොඳුරු පරිසර පද්ධතියකි. උන් වහන්සේගේ ළමා කාලය ගත වූයේ ද ස්වාභාවික පරිසරය ආශ්‍රය කරගෙන ය. වප් මඟුල් දින දඹ රුක් සෙවණේ සිසිලස ලබමින් බවුන් වැඩීමත්, දෙව්දත් කුමරුන් විසින් ඊයකින් විදින ලද හංසයෙකු මරණයෙන් ගලවා සුවපත් කොට නැවත පරිසරයට මුදාහැරීම සම්බන්ධ කතා ප්‍රවෘත්තියත් ඊට නිදසුන් ය. බෝසත් කුමරු තරුණ අවධියේ සෙසු රජ කුමාරවරුනුත් සමග වනයේ සුන්දරත්වය විඳීමට ගිය අවස්ථාවක ඔබ මොබ දුව පනින ගෝනුන් හා මුවන් දැක සතුටු වූ බව සඳහන් වෙයි. ඇතැම් කුමාරවරු සතුන් ලුහුබැඳ ගොස් කරන හිංසාවන් පිළිබඳ ව කළකිරී බෝසත් කුමරු වහා මාළිගයට පැමිණියේ නැවත ඔවුන් සමග උයන් කෙළියෙහි නොයෙදීමට හා මිත්‍ර ජන්න සමග පමණක් උයන් කෙළියෙහි යෙදී පරිසරයේ සුන්දරත්වය අත්විඳීමට සිතාගෙන ය.

සිදුහත් කුමරු ගිහිගෙය හැර ගොස් කිං කුසලගවේසී ව කටයුතු කළ වකවානුවේ දිවි ගෙවූයේ මිනිස් වාසයෙන් තොර නිසංසල පරිසර පද්ධතීන්හි ය. අවසානයේ බුද්ධත්වය සඳහා තෝරා ගන්නා ලද නේරංජනා නදී තීරය ගැන අරියපරියේසන සූත්‍රයේ දී බුදුරජාණන් වහන්සේ මෙසේ සඳහන් කර ඇත.

"මහණෙනි මම කුසලය නම් කුමක් දැයි සොයන සුලු වූයෙමි. මගධ දනව්වෙහි පිළිවෙළින් සැරිසරන්නෙමි, උරුවේලයෙහි සේනානි ගම වෙතැ පැමිණියෙමි. එහි වූ සිත්කලු භූමි භාගය ද සිත පහදවන වන ලැහැබ ද සුදු වැලිතලා මැදින් නිවී සැනසිල්ලේ ගලා බස්නා මහා තොටුපළින් යුත් මනරම් නේරංජනා නදිය ද එසේ ම හාත්පස වූ ගොදුරුගම ද දුටුයෙමි. ඒ දුටු මට මේ අදහස් පහළ විය."

"මේ භූමි භාගය ඉතා රමණීයයි. වන ලැහැබ ඉතා ම ප්‍රසාදජනකයි. මනා කොට ඇති සුදු වැලිතලා මැදින් ගලන නදිය ද සිත් සනසවනසුලු වෙයි. හාත්පස සොඳුරු ගම ද වෙයි. පධන් වීර්යය වඩන කුල පුත්‍රයකුහට ඒ සඳහා මෙයට වඩා සුදුසු තවත් තැනක් නැතැයි මට සිත් විය."

බෝසත් චරිතය හා සම්බන්ධ වැදගත් සිදුවීම්වලට පසුබිම් වූයේ නිහඬ සොඳුරු පරිසරයකි. සුජාතා සිටු දියණියගේ කිරිපිඩු දානය පිළිගත් අජපල් නුග රුක පිහිටා තිබුණේ ද නිමල පරිසරයක ය. බෝසතුන්ට පැන් පහසුව ලබා දුන් නේරංජනා නදිය ද, බුදු බව ලැබීමට පෙර දින දිවා විහරණය ගත කළ භද්‍ර වනය ද සොඳුරු පරිසර පද්ධති විය.

බෝසතාණන් වහන්සේ අභිනිෂ්ක්‍රමණයෙන් අනතුරුව වසර හයක් අරියපරියේසනයෙහි යෙදුණේ වනගත ව ය. අවසානයේ උරුවෙල් දනව්වෙහි බෝධි පර්යංකයේ දී බුදුබව ලැබූහ. බුද්ධත්වයට පත් ව එම පරිසරයේ ම වැඩ වෙසෙමින් සත් සතියක් ගත කළහ.

දෙවන සතියේ උතුම් බුදුබව ලබා දීමට උපකාරී වූ ඇසතු බෝධි වෘක්ෂයට කෘතවේදිත්වය දැක්වූයේ දින හතක් ඇසිපිය නොහෙළා ඒ දෙස බලා සිටීමෙනි. එය පරිසරයට පූජනීයත්වයක් ලබා දුන් ක්‍රියාකාරකමකි. එපමණක් නොව මෙමගින් ලෝක සත්ත්වයනට අගනා පණිවිඩයක් ද ලබා දුනි. එනම් කළගුණ සැලකිය යුත්තේ මිනිසා ඇතුළු සත්ත්වයින්ට පමණක් නොවන බවයි. තමන්ට පිහිට වූ පරිසරයට ගරු කිරීමක් ද එයින් පිළිබිඹු වෙයි.

බුදුරජාණන් වහන්සේ පරිසරයට මිතුරු ව කටයුතු කළා සේ ම පරිසරය ද උන් වහන්සේට මිතුරු ව කටයුතු කළ අවස්ථා දැකගත හැකි ය. හය වන සතිය මුචලින්ද විල අසල වැඩවසන විට ඇද හැලුණු වර්ෂාවෙන් ආරක්ෂාව සැලසීමට මුචලින්ද නාගරාජයා ඉදිරිපත් වීම එයට එක් නිදසුනක් පමණි.

බුද්ධත්වයට පත් ව දිවි ගෙවූ වසර 45 ක කාලය තුළ දී බොහෝ විට උන් වහන්සේගේ වාසස්ථාන, දම් සභා මණ්ඩප, භාවනා අසපු, දාන ශාලා, විවේකය ගත කළ නිවස්නයන් වූයේ තුරු සෙවණ ය. උයන් වතු ය. ගංගා නදී තීරයන් ය. වැව් පොකුණු ය. ගිරි සිඛරයන් හා ගල් ලෙන් ය. කෙත් යායවල් ය. ඒ උන් වහන්සේ වෙනුවෙන් ඉදිවූ ආරාම නොතිබූ නිසා නොවේ. උන් වහන්සේ පරිසරයට දැක්වූ නික්ලේශී ඇල්ම නිසා ය.

බුදුරජාණන් වහන්සේ ස්වාභාවික පරිසරය ආශ්‍රිත ව වස් විසූ ස්ථාන සමහරක් මෙසේ ය.

- පළමු වන වස් කාලය : මුවන්ගේ අභය භූමියක් බවට පත් ව තිබූ බරණැස ඉසිපතන මිගදාය
- දෙවන, තෙවන හා සිව් වන වස් කාලයන් } : ලෙහෙණුන්ගේ අභය භූමියක පිහිටි වේළුවනාරාමයේ වැඩ වාසය කර ඇත. උණ ගසින් සැදි වනයක පිහිටි නිසා වේළුවනාරාමය නම් විය.
- පස් වන වස් කාලය : විශාලා මහනුවර කූඨාගාර ලෙනෙහි
- හය වන වස් කාලය : මකුල පර්වතයෙහි
- අට වන වස් කාලය : භේෂකලා පර්වතයෙහි
- දහ වන වස් කාලය : පාරිලෙය්‍ය වනයෙහි වැඩ වසමින් ඇතෙකුගේ හා වඳුරෙකුගේ උවටැන් ලැබීම
- දහතුන, දහඅට, දහනවය වස් කාලය : චාලිය පර්වතයෙහි වැඩ විසීම

ඉහත දැක් වූ පරිදි වස් තුන් මාසය තුළ ද, ධර්ම ප්‍රචාරක සේවාවේ නියැලෙද්දී ද බුදුරජාණන් වහන්සේගේ විවේක ස්ථාන හා නේවාසික ස්ථාන බවට පත්වූයේ විවිධ පරිසර පද්ධතීන් ය. භද්දවග්ගිය කුමාරවරුන්ට බුදු රජාණන් වහන්සේ මුණ ගැසුණේ ද බරණැස සිට උරුවේලාවට වඩින මාර්ගයෙහි පිහිටි කැප්පෙටියා ලැහැබක විවේක සුවයෙන් පසු වන විට ය. බිම්බිසාර රජු බුදුරජාණන් වහන්සේ බැහැ දැකීමට පැමිණියේ රජගහ නුවරට සමීප තල් වනයක වැඩ සිටි අවස්ථාවක ය. කිඹුල්වතට වැඩි කල්හි මුල් දිනවල උන් වහන්සේ වාසය කළේ නිග්‍රෝධ ශාක්‍ය කුමාරයා සතු උයනෙහි ය. ශාක්‍ය කුමාරවරුවන්ගේ පැවිද්ද සිදු වූයේ අනෝමා නදී තීරයෙහි අනුපිය අඹ වනයෙහි විවේකී සුවයෙන් ගතකරන විට ය. සුදත්ත හෙවත් අනේපිඬු සිටුතුමා මුලින් ම බුදුරජාණන් වහන්සේ මුණ ගැසුණේ රජගහනුවර සීත වනයෙහි වැඩ සිටිය දී ය.

ස්වාභාවික පරිසරය දම් සභා මණ්ඩප බවට කර ගත් තවත් අවස්ථා කිහිපයක්,

- ඉසිපතනයේ මිගදායේ දී පළමු දම් දෙසුම පැවැත්වීම
- ගිජ්ජකූට පර්වතයේ සූකරකත ලෙනෙහි (ඌරන් හැරූ ලෙන) වැඩවසන විට වේදනා පරිග්‍රහ සූත්‍රය දේශනා කිරීම
- ඉච්ඡානංගල වනයෙහි වැඩ සිටිය දී අම්බට්ඨ සූත්‍රය දේශනා කිරීම
- අචිරවතී නදී තීරයෙහි පිහිටි අඹ වනයෙහි දී තේවිජ්ජ සූත්‍රය දේශනා කිරීම

* විශාලා මහනුවර වන පියසක දී මහා සීහනාද සූත්‍රය දේශනා කිරීම
* ලෙහෙණුන්ගේ අභය භූමියක් වූ කලන්දක නිවාප නම් ස්ථානයේ දී මහා මොග්ගල්ලාන සූත්‍රය දේශනා කිරීම
* ඇට්ටේරියා වනයක දී සිංසපා සූත්‍රය දේශනා කිරීම
* චම්පා නුවර අසල ගග්ගරා පොකුණ සමීපයේ දී සෝණදණ්ඩ සූත්‍රය දේශනා කිරීම
* ජීවක අඹ උයනේ දී සාමඤ්ඤඵල සූත්‍රය දේශනා කිරීම
* මහී ගංගා තීරය අසල සොඳුරු සවස් භාගයේ දී ධනිය ගෝපාල සූත්‍රය දේශනා කිරීම
* කෙත් යායක දී කසී භාරද්වාජ සූත්‍රය දේශනා කිරීම

මේ ආකාරයට දම් සභා මණ්ඩප බවට පත් වූ ස්වාභාවික ස්ථාන රැසක් පිළිබඳ ව තොරතුරු සූත්‍ර පිටකයෙහි දැක්වේ.



## පරිසරයේ සොඳුරු බව ඇගයීමට ලක් කළ අවස්ථා,

බුදුරජාණන් වහන්සේ පරිසරයේ සුන්දරත්වය විරාගී ව වර්ණනා කළ අවස්ථා රැසක් ද ධර්ම ග්‍රන්ථවල දැක්වෙයි. උන් වහන්සේ නිතර ඇසුරු කළ රජගහනුවර හා ඒ අවට ස්ථාන කිහිපයක් හඳුන්වා දෙන්නේ මෙසේ ය.

"ආනන්දයෙනි, මේ රජගහනුවර සිත් අලවන සුලු ය, එසේ ම නිග්‍රෝධය සිත්කලු ය. චෞර ප්‍රපාතය සිත්කලු ය. වේභාර පර්වත පාර්ශ්වයෙහි වූ සප්තපර්නී ගුහාව ද සිත්කලු ය. ඉසිගිලි පාර්ශ්වයේ කාලශිලාව ද සිත්කලු ය. ශීතවනයෙහි වූ සප්ප සොණ්ඩික පබ්භාරය ද මනරම් ය. තපෝදාරාමය ද එබඳු ම ය. තව ද කලන්දක නිවාපි නම් වූ වේළුවනයත් මද්දකුච්ඡි නම් වූ මුව වනයත් සිත් ඇදගන්නා සුලු ය. එපරිද්දෙන් ම ආනන්දය, ජීවකයන්ගේ අඹ උයන ද මනරම් ය."

විශාලා මහනුවර පිහිටි සුන්දර ස්ථාන ද වර්ණනයට ලක් වූයේ මේ අයුරිනි. එහි වූ උදේන, ගෝතමක, සත්තම්බක, සාරන්දද ආදී වශයෙන් චෛත්‍ය ස්ථාන ගණනාවක රමණීය බව පෙළ දහමේ දක්වා තිබේ. ඇතැම් විට සරාගී පුද්ගලයෝ මෙබඳු පරිසරයන්හි සුන්දරත්වය නොදනිති. නැතහොත් එබඳු ස්ථාන ඔවුහු නිසරු ක්‍රියාකාරකම් සඳහා යොදාගෙන විනාශ කර දමති. එමෙන් ම විරාගී උතුමන්ට සොඳුරු තැන් සරාගී අය බියකරු ලෙස දකිති. එක් අවස්ථාවක බුදුරජාණන් වහන්සේ හුදකලාව වනයෙහි වෙසෙන විට දෙවියෙක් පැමිණ මද්දහනෙහි විවේක ගන්නා වූ පක්ෂීන් වෙසෙන මහ හඬක් නගන වනය තමනට බිය උපදවන තැනක් බව පවසයි. නමුත් බුදුරජාණන් වහන්සේ ඔහුට දන්වා සිටියේ තමනට එම පරිසරය සිත් පිනවන සොඳුරු තැනක් බව ය.

බුදුරජාණන් වහන්සේ තුරු ලතාවන්හි, ජල තලාවන්හි, පිරිසිදු වාතයෙහි ආරක්ෂාව තහවුරු වන ලෙස තම ජීවිතය ගත කිරීමෙන් නොනැවතුණහ. පරිසර දූෂණය වළක්වා ගැනීමෙන් සියලු සත්ත්වයන්ගේ ජීවිත සුරක්ෂිත වන අයුරින් කටයුතු කිරීමට යොමු වූහ. අනවශ්‍ය ලෙස උස් හඬින් කථා කරන ප්‍රලාපයන්හි යෙදෙන මිනිසුන් සිටින තැන්වලට වැඩම කිරීම උන් වහන්සේ ප්‍රතික්ෂේප කළහ. තම සෙනසුන්වල එබඳු අමිහිරි ලෙස බස හසුරවන පිරිස් අවවාද දී නිසි මගට ගනු ලැබූහ. පොට්ඨපාද පිරිවැජියාගේ ආශ්‍රමයට බුදුරජාණන් වහන්සේ වැඩම කරන විට ඔහු සෙසු පිරිවැජියන් නිශ්ශබ්ද කරනු ලැබුවේ උස් හඬින් කතා කළහොත් බුදුරජාණන් වහන්සේ තම අසපුවට වැඩම නොකරාවි යැයි ප්‍රකාශ කරමිනි. දෙව්රම් වෙහෙරට වැඩම කළ භික්ෂූන් පිරිසක් මහ ශබ්ද නගමින් උස් හඬින් කතා කරන විට කොවුලන් සේ ඝෝෂා නොකොට ආරාමයෙන් පිට ව යන ලෙසට අවවාද කර ඇත. බොහෝ විට විශාල ශ්‍රාවක පිරිසක් සමග වෙසෙන අවස්ථාවල දී පවා දැඩි නිහඬතාවක් පැවැතුණි. අජාසත් රජතුමා ඇතුළු පිරිස ජීවක අඹ උයනට පැමිණියේ බුදුරජාණන් වහන්සේ මුණගැසීමට ය. ඒ වන විට එහි භික්ෂූන් වහන්සේ එක්දාස් දෙසීයක් පමණ වැඩ සිටියහ. නමුත් මේ පිරිසගෙන් කිවිසුම් හඬක් වත් නොඇසීම නිසා රජතුමා බියට පත් විය. ජීවක වෛද්‍යතුමා බුදු පාමොක් මහා සඟරුවනේ ස්වභාවය ඒ බව පවසා රජුගේ බිය දුරු කර ඇත.

පරිසර පද්ධති තුළ වසන සතුන්ගේ ජීවිත සුරක්ෂිත කළ අවස්ථා ද බුදු සිරිත තුළ කොතෙකුත් දැකිය හැකි ය. ළමුන් පිරිසකගේ හිරිහැරයට ලක් ව සිටි ගැරඬියකු ඉන් ගලවා ගැනීමත්, උදේනි රජතුමාගේ ඇත්හලේ සිට පසු ව නොසලකා හැරීමට ලක් ව සිටි භද්‍රවතිකා ඇතින්නට පුරුදු උවටැන් ලබා දීමට සැලැස්වීම තුළිනුත් ප්‍රකට කළේ ජීව පරිසරයේ ආරක්ෂාව තහවුරු කිරීමේ ආදර්ශයයි.

මේ ආකාරයට ලුම්බිනි සල් උයනෙන් දිවි ගමන ඇරඹූ බෝසතාණන් වහන්සේ බෝධිමූලයේ දී බුද්ධත්වයට පත් ව කුසිනාරා නුවර මල්ල රජ දරුවන්ගේ උපවර්තන සල් උයනේ දී පිරිනිවන් පානා තෙක් ස්වාභාවික පරිසරයේ දිවි ගෙවමින් ලෝක සත්ත්වයාට බොහෝ ආදර්ශ සැපයූහ. ඒ අතර පරිසර සුරක්ෂිතතාව, එහි පෝෂණය හා එය දූෂණයෙන් වළක්වා ගැනීමට ලබා දුන් චරිතාදර්ශය සමස්ත මානව පරපුරට ම කියා දුන් පාඩමකි. එම පාඩමෙන් ආදර්ශ ලබාගෙන සියලු සත්ත්වයින් ඇතුළු ජීවී අජීවී පරිසරයට සෙනෙහස, ආදරය දැක්වීමට පුරුදු වෙමු. එවිට හෙට උපදින පරපුරට සොඳුරු පරිසරයක් නිර්මාණය වනු ඇත.

## සාරාංශය



ජීව අජීව වශයෙන් වර්ගීකරණයකට ලක් කෙරෙන ස්වාභාවික පරිසරයේ ආරක්ෂාව තහවුරු කිරීම මිහිතලයේ ම ආරක්ෂාව තහවුරු කිරීමකි. ඒ සඳහා පරිසරයට ආදරය කරන මිනිසුන් බිහි විය යුතු ය. බුදුරජාණන් වහන්සේ එබඳු උතුමෙකි. උන් වහන්සේ නික්ලේශී ව පරිසරයට ඇලුම් කළ ශාස්තෘවරයෙකු බව බෝධිසත්ව චරිතය තුළිනුත්, බුද්ධ චරිතය තුළිනුත්, ඉගැන්වූ දහම තුළිනුත් ප්‍රකට කෙරෙන අවස්ථා බොහෝ නිදසුන් මගින් තහවුරු කළ හැකි ය. මෙහි දී උන් වහන්සේගේ චරිතය පරිසරය පිළිබඳ සුහද සංවේදී ආකල්පයක් අප තුළ උපදවයි.

## ක්‍රියාකාරකම



1. බෝසතුන්ගේ පරිසර හිතකාමී බව ප්‍රකට කෙරෙන අවස්ථා දෙකක් පෙන්වා දෙන්න.
2. බුදුරජාණන් වහන්සේ විසින් ශබ්ද දූෂණය වැළැක්වීමට ක්‍රියා කළ අවස්ථා දෙකක් ලියන්න.
3. 'අ' කොටසට ගැළපෙන පිළිතුර 'ආ' කොටසින් තෝරා පිළිතුරට හිමි අංකය වරහන් තුළ යොදන්න.

| අ | | ආ |
|---|---|---|
| 1. නේවාසික ස්ථානයකි | (   ) | 1. කූටාගාර ලෙන |
| 2. දම්සභා මණ්ඩපයක් බවට පත් වූ තැනකි | (   ) | 2. බෝධි මූලය |
| 3. විවේකී සුවයෙන් ගත කළ අවස්ථාවකි | (   ) | 3. සාරන්දද චෛත්‍යය |
| 4. වස් විසූ ස්ථානයකි | (   ) | 4. නිග්‍රෝධ උයන |
| 5. වර්ණනාවට ලක් වූ ස්ථානයකි | (   ) | 5. කලන්දක නිවාපය |

## පැවරුම



බුද්ධ චරිතය තුළින් පරිසර සුරක්ෂිතතාවට ගත හැකි ආදර්ශ නමින් විදුහලේ බෞද්ධ ශිෂ්‍ය සංගමයට ඉදිරිපත් කරන කතාවක පිටපතක් ලියන්න.

# 17 නීරෝගී බව උතුම් ලාභයයි

බුදු දහම අනුව පුද්ගලයාට වැළඳෙන රෝග ව්‍යාධි යනුවෙන් ද හැඳින්වේ. රෝගී වීම ව්‍යාධීන්ට ගොදුරු වීම හෙවත් ලෙඩ වීම දුකකි. සසර සැරිසරන අපට මුහුණ දීමට සිදු වී ඇති, අප අකැමැති අප්‍රසන්න කටුක අත්දැකීම් අතර මෙය ද මුල් තැනක් ගන්නා බව පළමු ධර්ම දේශනාවේ දී ම බුදුරජාණන් වහන්සේ වදාළහ. බුද්ධ වචනය අනුව රෝග දෙයාකාර ය. එනම්,

1. කායික රෝග
2. චේතසික රෝග

මිනිසුන්ට කායික රෝග මෙන් ම චේතසික හෙවත් මානසික රෝග ද වැළඳෙයි. බොහෝ විට කායික රෝගවලට ද වඩා මානසික රෝග පීඩාජනක ය. එසේ ම කායික රෝගවලින් තොර ව දස වසරක් හෝ සියක් වසරක් වසන්නෙකු සිටිය හැකි නමුත් මානසික රෝගවලින් තොර කිසිවෙකුත් සිටිය නොහැකි ය. සියලු කෙලෙස් නැසූ රහතුන් වහන්සේ පමණක් සසරින් එතෙර ව සැබෑ මානසික නීරෝගී බව උදාකර ගන්නාහ.

බුද්ධ දේශනාව අපට වැළඳෙන විවිධ කායික රෝග ගැන ද අවශ්‍ය අවධානය යොමු කරයි. ගිරිමානන්ද නම් ස්වාමීන් වහන්සේ නමකට බුදුරජාණන් වහන්සේ වදාළ පරිදි මේ සිරුරෙහි විවිධ ආබාධ හට ගනී. ඇස් රෝග, ශ්‍රවණ රෝග, නාසා රෝග, දිවෙහි රෝග, සිරුරෙහි, හිසෙහි, කනෙහි, මුඛයෙහි හට ගන්නා රෝග, දත් රෝග, ක්ෂය රෝගය, ඇදුම, පීනස, දැවිල්ල, උණ, කුසෙහි රෝග, සිහි මූර්ඡා වීම, ලේ අතීසාරය, කොළරාව, කුෂ්ට, ගඩු, හමේ රෝග, ශ්වසන රෝග, අපස්මාර, දද, කඩුවේගන්, ගෙඩි, කැසීම, පණුහොරි, රත් පිත්, දියවැඩියාව, අංශභාග, පිළිකා, භගන්දලා ආදී වශයෙනි.

බුදුරාජාණන් වහන්සේ විසින් ගිරිමානන්ද ස්වාමීන් වහන්සේට එහි දී රෝග වැළඳීමට හේතු වන කරුණු අටක් ද පෙන්වා දී තිබේ. මෙම රෝග වර්ග කොට දැක්වීමක් ද එහි දැක ගත හැකි ය.

1. ශරීරගත පිත් ධාතුව කිපීමෙන් වැළඳෙන රෝග
2. සෙම් ධාතුව කිපීමෙන් වැළඳෙන රෝග
3. වාතය කිපීමෙන් වැළඳෙන රෝග
4. වා, පිත්, සෙම් යන තුන් දොස් කිපීමෙන් හට ගන්නා රෝග

5. ඍතු විපර්යාස නිසා වැළඳෙන රෝග
6. වැරැදි කායික ක්‍රියාකාරකම්වලින් හට ගන්නා රෝග
7. අනුන්ගේ උපක්‍රම නිසා හට ගන්නා රෝග
8. කර්ම විපාක අනුව හට ගන්නා රෝග

මිනිසුන්ට වැළඳෙන මානසික රෝග ගැන බුදු දහමේ ඇති අවධානය ඉතා විශාල ය. සමස්තයක් වශයෙන් රාග, ද්වේශ, මෝහ, ඊර්ෂ්‍යා, ක්‍රෝධ, මද, මාන ආදි සියලු කෙලෙස් මානසික රෝග ලෙස හැඳින්විය හැකි ය. මිනිස් සිත ගැන පරතෙරට ම දන සිටි බුදුරජාණන් වහන්සේ එහි හට ගන්නා රෝගාබාධ හා ඒවා සුව කර ගැනීම ගැන ද මැනැවින් දන සිටියහ. මිනිස් සිත් තුළ ඇති කෙලෙස් නම් වශයෙන් මෙන් ම සංඛ්‍යාත්මක ව ද දක්වන අවස්ථා රාශියක් බුද්ධ දේශනයෙහි අන්තර්ගත ය. මෙම රාගාදී කෙලෙස් මතින් මත් වූ රෝගී වූ සිත් සතන් ඇති මිනිස්සු විවිධ දුසිරිත්වලට යොමු වෙති. එසේ ම මේ මානසික රෝග නිසා ම මෙලොව ද පරලොව ද දුකට ම ගොදුරු වී සිටිති. ඇතැම් විට මෙවැනි මානසික දුර්වලතා බුදු දහමේ හැඳින්වෙන්නේ උපක්ලෙශ යනුවෙනි. තවත් තැනෙක නීවරණ යනුවෙනි. සමහර තැන්වල සංයෝජන යනුවෙනි.

බුදුරජාණන් වහන්සේ මෙසේ වදාළහ. "**මම සම්බුද්ධ වෙමි. ශ්‍රේෂ්ඨතම ශල්‍ය වෛද්‍යවරයා ද වෙමි.**" උන් වහන්සේ විසින් වෙදකම් කරන ලද්දේ මිනිස් සිත් තුළ ඇනී ඇති රාගාදි උල් ඇද දැමීමට ය. චිකිත්සක වෛද්‍යවරු පිතෙන් හට ගන්නා ආබාධ, සෙමෙන් හට ගන්නා ආබාධ හා වාතයෙන් හට ගන්නා ආබාධ සමනය කිරීමට ප්‍රතිකාර කරති. බුදුරජාණන් වහන්සේ රාගයෙන් ද ද්වේශයෙන් ද මෝහයෙන් ද හට ගන්නා රෝගවලට ප්‍රතිකාර කරති. ඒ, කෙලෙස් මුලින් උපුටා දැමීමට ය. එමගින් සසර සියලු දුක් සමනය වේ.

බුදුරජාණන් වහන්සේ වෛද්‍යවරයකු බව පෙළ දහමේ ම සඳහන් වේ. 'සත්හට වන බව දුකට වෙදාණන්' යනු ලෝවැඩ සඟරාවේ එන කවි පදයකි. ඉන් කියැවෙන්නේ සසර දුකට ප්‍රතිකාර කරන උතුම් වෛද්‍යවරයා බුදුරජාණන් වහන්සේ බව ය. බොහෝ කායික රෝගවලට ද මානසික හේතු ඇති බව වෛද්‍යවරු පිළිගනිති. බුදුරජාණන් වහන්සේ විසින් සියල්ලට සිත ප්‍රධාන යැයි වදාළේ සියවස් විසිපහකට පෙර ය.

තමන් වහන්සේගේ ගිහි පැවිදි ශ්‍රාවකයන් මානසික වශයෙන් මෙන් ම කායික වශයෙන් ද නීරෝගී ව ජීවත් වනු දැකීම බුදුරජාණන් වහන්සේගේ අපේක්ෂාව විය. භික්ෂූන්ගේ කායික රෝගවලට නියම කළ බෙහෙත් ගැන ද විනය පිටකයෙහි සඳහන් වේ. පෞද්ගලික පවිත්‍රතාව ඇසුරින් ද කායික නීරෝගී බව උදාකර ගත හැකි යැයි බුදු දහම පෙන්වා දෙයි. තම ශ්‍රාවකයන්ට පිරිසිදු ව සිටීමට, නිතර ස්නානය කිරීමට, සිවුරු අඳන, පොරෝනාදිය පිරිසිදු ව තබා ගැනීමට අනුදන වදාළ තැන් රැසක් විනය ග්‍රන්ථවල දක්වේ. ගිලන්පස යනු සිව් පසයෙන් එකකි. අවේලාවෙහි ආහාර නොගන්නා භික්ෂූන් ගිලන්වීම වළක්වාලීමට කැපසරුප් පාන වර්ග වැළඳිය හැකි ය. ඒවා ගිලන්පස නම් වේ. භික්ෂූන් විසින් මනා සිහි නුවණින් යුතු ව ගිලන්පස පරිහරණය කළ යුතු ය. බෙහෙත් වැළඳිය යුතු ය. උපන්නා වූ ආබාධයක් කායික වේදනාවක් නැති කර ගැනීමේ අදහසින් එසේ කළ යුතු යැයි උගන්වා තිබේ.

භික්ෂූන් විසින් සිව්පසය පරිහරණයේ දී සිය නීරෝගී බව ගැන ද සැලකිලිමත් වෙමින් ක්‍රියා කළ යුතු බව විනයෙහි දක්වා තිබේ. ආහාර අනුභව කළ යුත්තේ කුසට ඔරොත්තු දෙන තරමට ය. කුස පිරෙන්නට ම නොවේ. බත් පිඬු 4ක් 5ක් වැළඳීමට ඉතිරි ව තිබිය දී ජලය පානය කරන්න යැයි අවවාද කර තිබේ. කොසොල් රජුට ද වදාළේ පමණ දැන ආහාර ගන්නා ලෙස ය. කැඳ පානයෙහි ආනිසංස වෙන ම ම දක්වා තිබේ. එසේ ම සිවුරු පෙරවීම, පාවහන් භාවිතය, ජලය පරිහරණය ආදී සියලු පෞද්ගලික කාර්යයන්හි දී සෞඛ්‍ය සම්පන්න ව ක්‍රියා කිරීමට අනුදැන වදාරා තිබේ.

නීරෝගී භාවය ඇති වන පරිදි පරිසරය පවත්වාගෙන යෑම ගැන බුදුරජාණන් වහන්සේ දක්වා ඇති උනන්දුව ඉතා විශාල ය. කැලිකසළ බැහැර කිරීම, කෙළ ගැසීම, මල මූත්‍රා කිරීම ආදි ක්‍රියාකාරකම්වල දී පරිසරයට සිදු වන හානිය වැළැක්වීමට ඇතැම් ශික්ෂා පද පනවා තිබේ. ආගන්තුක වත, ආවාසික වත, ගමික වත, භත්තග්ග වත, වැසිකිළි වත ආදි වශයෙන් දැක්වෙන භික්ෂූන් වහන්සේලාට අදාළ වත් මුළුමනින් ම පාහේ පරිසර සංරක්ෂණයට උපකාරී වේ.

බුදුරජාණන් වහන්සේ විධිමත් දින චරියාවක් අනුගමනය කළහ. එහි දත් වැළඳීමට, පැන් පහසු වීමට, විවේක ගැනීමට, සැතපීමට නිශ්චිත කාලපරාසයක් තිබිණ. අපට එයින්ද ආදර්ශ ගත හැකි ය. අවේලාවේ ජලස්නානය කිරීමෙන් වැළකීම, ප්‍රමාණවත් නින්දක් ලබා ගැනීම, ශාරීරික ව්‍යායාමවල යෙදීම, භාවනාව නැමැති මානසික ව්‍යායාමයෙහි යෙදීම ආදියෙහි අවශ්‍යතාව බුදු සිරිතෙන් මෙන් ම බුදු දහමෙන්ද පෙන්වා දෙයි. සක්මන් කිරීමේ ආනිශංස ඇසුරෙන් ව්‍යායාම ගැන අවධානය යොමුකළ හැකි ය. දිනපතා කිසියම් දුරක් ඇවිදීම සෞඛ්‍ය සම්පන්න ජීවිතයකට අත්‍යවශ්‍ය වූවක් ලෙස අද පිළිගෙන ඇත. එසේම භාවනාව මානසික සෞඛ්‍යයට හිතකර බව තහවුරු වූවකි.

මෙසේ කායික හා මානසික රෝග තේරුම් ගැනීමත් ඒවාට තුඩු දෙන විවිධ හේතු දැක එම හේතු නැති කර ගැනීමත් ඒ තුළින් නීරෝගී බව උදාකර ගැනීමත් පිළිබඳ ව ධර්ම විනයෙහි බොහෝ කරුණු සඳහන් ව තිබේ. නීරෝගි බව උතුම් ලාභයකි. දරුවන් වශයෙන් අප ඉහත කී බුද්ධාවවාද පිළිබඳ ව ද සැලකිලිමත් වෙමින් උපරිම සෞඛ්‍යසම්පන්න ජීවිතයක් ගත කිරීමට සැම විට ම උත්සාහ කළ යුතු ය. අපට ඉගෙනීමෙන් නිසි එල ලැබිය හැක්කේ ද ආයුවර්ණාදී සැප ලැබිය හැක්කේ ද සසරින් එතෙර වීමට පිළිවෙත් පිරිය හැක්කේ ද නීරෝගී ජීවිතයක් ගොඩනගා ගැනීම තුළිනි.

## සාරාංශය



බුදු දහම අනුව කායික හා මානසික යැයි රෝග දෙයාකාර ය. එම රෝග ගැන ද ඒවා වැළඳීමට තුඩු දෙන විවිධ හේතු ගැන ද රෝගාබාධයන්ගෙන් වැළකීම හා වැළඳුණු රෝග සුව කර ගැනීම ගැන ද බුදු දහමෙහි මෙන් ම භික්ෂු විනයෙහි ද ඉතා වැදගත් කරුණු සඳහන් වෙයි. හැදෙන වැඩෙන දූ පුතුන් වන අපට ද එම බුද්ධ දේශනා හා පැනවීම් තුළින් නීරෝගී මිනිසුන් වීම සඳහා මග පෙන්වීමක් ලබා ගත හැකි ය

## ක්‍රියාකාරකම



1. කායික නීරෝගතාව ඇති කර ගැනීම  සඳහා අප අනුගමනය කළ යුතු කරුණු තුනක් බුදු දහම ඇසුරින් නම් කරන්න.
2. බුදුරජාණන් වහන්සේ විසින් මානසික නීරෝගතාව රැකගැනීම සඳහා දෙන ලද උපදෙස් පැහැදිලි කරන්න.

## පැවරුම



1. පාසල් පරිශ්‍රය පවිත්‍ර ව තබා ගැනීම සඳහා ව්‍යාපෘතියක් සැලසුම් කොට ක්‍රියාත්මක කරන්න.
2. අංගුත්තර නිකායේ බුද්ධ ජයන්ති මුද්‍රණයේ තුන්වන කාණ්ඩයේ 44 පිටුවේ චංකමානිසංස සූත්‍රයත් එහිම 402 පිටුවේ යාගු සූත්‍රය සහ දන්තකට්ට සූත්‍රය කියවා ඒවායේ ඇතුළත් කරුණු ඔබේ සටහන් පොතට ගන්න.

## පුහුණුවට



ආරෝග්‍ය පරමා ලාභා - සන්තුට්ඨී පරමං ධනං
විස්සාස පරමා ඤාති - නිබ්බාණ පරමං සුඛං

(ධම්ම පදය . සුඛ වග්ග)

ලාභයන් අතරින්  නීරෝගි බව උතුම් ය. ධන සම්පත් අතරින් සතුට ශ්‍රේෂ්ඨ ය. ඥාතීන් අතරින් විශ්වාසවන්තයා උතුම් ය. ලෝකයේ හැම සැපතට ම වඩා නිවන් සැපය උතුම් වේ.

# 18 නිවැරැදි ආහාර පරිභෝජනයෙන් සුව සේ වෙසෙමු

සියලු සත්ත්වයෝ ආහාරයෙන් ජීවත් වෙති. මේ බුද්ධ දේශනයයි. ආහාරපාන නොගෙන කවර මිනිසකුට හෝ කුමන තිරිසන් සත්ත්වයකුට හෝ ජීවත් විය නොහැකි ය. අපට ආයුෂ ද වර්ණය ද සැපය ද බලය ද ප්‍රඥාව ද සසර සැනසිලිදායක ජීවිතයක් සඳහා අවශ්‍ය ය. රස ගුණ ඇති මැනැවින් සැකසූ ආහාරයක් තුළින් අපට ඉහත කී සම්පත් පහ ම ලැබේ. දිනක් කොසොල් මහරජු බුදුරජාණන් වහන්සේ හමු වීමට පැමිණියේ ආහාර ගෙන නොබෝ වේලාවකිනි. සිරිත් පරිදි හෙතෙම නැලි සතරක්වත් බත් අනුභව කොට සිටියේ ය. එබැවින් බුදුරජාණන් වහන්සේ ඉදිරියේ මහත් කොට සුසුම් හෙළමින් ඉතා අපහසුවෙන් සිටීමට එතුමාට සිදු විය. බුදුරාණන් වහන්සේ එකත්පස් ව සිටි රජතුමාට අවවාද කළ බව දේශනාවෙහි සඳහන් වේ. හැම කල්හි ම මනා සිහියෙන් යුතු ව පමණ දැන ආහාර ගන්නා මිනිසුන්ගේ දුක් වේදනාවන් තුනී වේ. එසේ සීමාව, ප්‍රමාණය දැන ආහාර වැළඳූ විට ආහාර සෙමින් දිරයි. ඔවුන්ගේ ආයුෂය වැඩෙන්නේ ය. දෝණපාක සූත්‍රයේ සඳහන් මෙම පුවත ලොකු කුඩා අප කාහට වුව ද ඉතා වැදගත් ය.

අප ආහාර පරිභෝග කළ යුත්තේ සිහි නුවණිනි. භික්ෂූන් වහන්සේලාට උගන්වා ඇති පිණ්ඩපාත පරිභෝජනයට අදාළ ප්‍රත්‍යවේක්ෂාව අප කාටත් හොඳ මග පෙන්වීමක් වේ. දන් වැළඳීමට පෙර උන් වහන්සේලා විසින් ඇති කර ගනු ලබන සිතුවිල්ල මෙසේ ය. "**මම සිහි නුවණින් යුතු ව පිණ්ඩපාතය පරිහරණය කරමි. මා මේ ආහාර වළඳන්නේ ක්‍රීඩාව පිණිස නොවේ. මද වඩනු පිණිස ද නොවේ. කඩවසම් වනු පිණිස ද නොවේ. සිරුර සරසා ගනු පිණිස ද නොවේ. යම් තාක් මේ සිරුරෙහි යැපීම පිණිස පමණි. පිළිවෙත් පිරීමට උපකාරයක් ලෙස පමණි.**" මෙසේ භික්ෂූන් වහන්සේලා දන් වළඳන්නේ උසස් අරමුණක් ඉටු කර ගැනීමට උපකාර වශයෙන් පමණක් බව පෙනේ. මාත්‍රාව හෙවත් සීමාව දැන මනා සිහි නුවණින් යුතු ව උසස් අරමුණක් පෙරදැරි කොට ආහාර පරිභෝජනය කිරීමට බුදු දහම මග පෙන්වන බව ඉහත කී සියලු කරුණුවලින් පැහැදිලි වේ. නිවැරැදි ව ආහාර පරිභෝජනය කිරීම එක් අතකින් ශරීර සෞඛ්‍යයට ද හිතකර ය. ආයුවර්ණාදිය ලැබෙන්නේ එසේ ආහාර අනුභව කිරීමෙනි. අවිධිමත් ලෙස එමෙන් ම ගිජු ලෙස ආහාර අනුභව කරන්නන් පස් දෙනෙකු ගැන බෞද්ධ සාහිත්‍යයෙහි සඳහන් වෙයි.

## 1. ආහර හත්ථක

අනුන්ගේ අත් උදවු නැති ව නැගිටින්නට බැරි තරමට අධික ව ආහාර ගන්නා තැනැත්තා

### 2. අලංසාටක

ආහාර ගත් පසු ඇඳුම ඇඳ ගැනීමටවත් බැරි තරමට, ඇඳුම ගැනවත් නොසලකා ආහාර ගන්නා තැනැත්තා

### 3. තත්ථාවට්ටක

නැගිට ගැනීමටත් බැරි තරමට කෑම ගෙන එහි ම පෙරළී සිටින තැනැත්තා

### 4. කාකමාසක

කපුටකුට හොටය දමා ගැනීමට හැකි වන තරමට උගුරට ම පිරෙන තුරු ආහාර ගන්නා තැනැත්තා

### 5. භුත්තවමිතක

අනුභව කළ ආහාර වමාරා දමා නැවතත් ආහාර ගන්නා තරමට කෑමට ගිජු වූ තැනැත්තා

මේ පස් දෙනාගෙන් ම හැඟවෙන්නේ ආහාරයට අධික ලෙස ගිජු වූ පුද්ගලයන් ගැනයි. ගිජු කමින් තොර ව, ආහාරයෙහි ප්‍රයෝජනය ගැන සලකා ආහාර ගැනීමේ වැදගත්කම ගැනයි, මෙයින් අවධානය යොමු කෙරෙන්නේ. භික්ෂූන් වහන්සේලාට අදාළ ඉතා වැදගත් ආචාර ධර්ම සමූහයක් ඇත. බුදුරජාණන් වහන්සේ විසින් විනයෙහි අනුදැන වදාරා ඇති සිරිත් විරිත් සමූහයක් ද ඒ අතර වෙයි. ඒවා හඳුන්වන්නේ **සේඛියා** යනුවෙනි. ආහාර පරිභෝජනය හා බැඳුණු සේඛියා රැසකි. ඒවා ශිෂ්ට සම්මත ලෙසත් සෞඛ්‍ය සම්පන්න ලෙසත් ආහාර ගැනීමට අදාළ වේ. එහි දැක්වෙන්නේ ආහාර ගැනීමේ දී නොකළ යුතු දේවල් ය.

- ආහාර ළං කිරීමට කලින් ම මුඛය විවෘත කිරීම
- ආහාර ගන්නා විට අත්ල මුඛයට ඇතුළු කිරීම
- ආහාර මුඛයෙහි තිබිය දී කථා බහ කිරීම
- මුඛය විවෘත කොට ඒ තුළට ආහාර විසි කිරීම
- බත් පිඬ කටින් කඩ කඩා වැළඳීම
- අතගසා දමමින් ආහාර ගැනීම
- දිව මුවින් පිටතට ඇද ආහාර ගැනීම
- සුරු සුරු හඬ නගමින් ආහාර ගැනීම
- අත ලෙවකමින් ආහාර ගැනීම
- පාත්‍රය ලෙවකමින් ආහාර ගැනීම
- තොල් ලෙවකමින් ආහාර ගැනීම
- ඉඳුල් සහිත අතින් පැන් බඳුන ගැනීම
- වඳුරන් මෙන් හක්කේ තබාගෙන ආහාර අනුභව කිරීම

මෙම චාරිත්‍ර, විනයෙහි භික්ෂූන් වහන්සේලාට අනුදැන වදාරා ඇති නමුත්, ඒවා ගිහි සමාජයට අයත් ලොකු කුඩා සැමට ම ඉතා වටිනා මග පෙන්වීමක් සපයයි. ඉහත දක්වා ඇති නොකළ යුතු ක්‍රියා කරමින් ආහාර අනුභව කරන්නෝ ශිෂ්ට සම්පන්න සමාජයේ අවමානයට ලක්වෙති.

කොසොල් මහ රජුට බුදුරජාණන් වහන්සේ වදාළ ඉහත සඳහන් අවවාදයෙහි මෙන් ම තවත් බොහෝ අවස්ථාවන්හි දී පමණ දැන ආහාර ගැනීමට ගිහි පැවිදි දෙපක්ෂයට ම අනුශාසනා කර තිබේ. භෝජනයේ පමණ නොදන්නා තැනැත්තා දුර්වල ගසක් සුළඟින් ඇද වැටෙන්නා සේ මරු වසඟයට ඇද වැටෙන බව ධම්ම පදයෙහි දක්වා තිබේ. ඕවාද ප්‍රාතිමෝක්ෂය නමින් හැඳින්වෙන සියලු බුදුවරුන්ගේ අනුශාසනය තුළ භික්ෂූන් වහන්සේ පමණ දැන ආහාර ගත යුතු යැයි දක්වා තිබේ.

අප ජීවත් වන මේ සමාජය සමහරුන් හඳුන්වන්නේ පරිභෝජනවාදී සමාජයක් ලෙසයි. එනම් ආහාර ඇතුළු භෞතික සම්පත් දියුණු කිරීම, ඉතිරි කිරීම, රැක ගැනීම ආදියට යොමු වීම් අඩු, පරිභෝජනය කිරීමට ම මුල් තැන දෙන මිනිසුන් බහුල සමාජයක් ලෙස ය. අවිධිමත් ව අශිෂ්ට ව සෞඛ්‍ය සම්පන්න නොවන පරිදි ඇතැම් විට අහිතකර වූ ආහාර පරිභෝජනය කිරීමට ඇතැම් දරුවෝ ද බොහෝ වැඩිහිටියෝ ද යොමු වී සිටිති.

වර්තමාන කාර්යබහුල සමාජයේ බොහෝ දෙනෙක් නිවැරැදි ආහාර රටාවක් අනුගමනය නොකරති; සමබල ආහාර වේලක අවශ්‍යතාව පිළිබඳ ව දැනුම්වත් වුවද එය සකස් කර ගැනීමට තරම් විවේකයක් නොලද්දෝ වෙති. දවසේ නියමිත වේලාවක ආහාර ගැනීමද බොහෝවිට නොසිදුවන අතර කෙටි ආහාර, පිෂ්ඨය බහුල ආහාර, තෙල් සහිත ආහාර, නොයෙකුත් වර්ණක රසකාරක යෙදූ ආහාර වැඩිපුර භාවිතයට ගනිති. මේ තත්ත්වය නිසා ආයුෂය ද වර්ණය ද සැපය ද බලය ද පිරිහීමට හේතුවී තිබේ. විවිධ රෝගාබාධාවලට මුල් වී තිබේ. එබඳු අහිතකර නුසුදුසු පුරුදු අශිෂ්ට ගති පැවතුම් හැර දමා ගිජු බවින් තොර ව හිතකර අහිතකර ආහාර පිළිබඳ සැලකිලිමත් ව ක්‍රියා කිරීම උදෙසා බෞද්ධ ඉගැන්වීම් හොඳ මග පෙන්වීමක් ලබා දෙයි.

එමගින් කායික මානසික රෝගාබාධ අවම කිරීම, සිතින් මෙන් ම කයින් ද තමාටත් සමාජයටත් ඵලදායක දැ කළ අයෙකු බිහි වීම, ආර්ථික ශක්තිය වැඩි දියුණු වීම ආදී බොහෝ ප්‍රයෝජන ලැබේ. විශේෂයෙන් ම ඔබ වැනි අනාගතයට මුහුණ දෙන දරුවන්ට මෙම උපදෙස් බෙහෙවින් ම ඵලදායක වේ.

## සාරාංශය



නිවැරැදි ආහාර පරිභෝජනය මඟින් පුද්ගලයකුගේ ශිෂ්ට සම්පන්න බවත් නීරෝගී බවත් රැකේ. එබඳු විධිමත් නිවැරැදි හා ඵලදායක ආහාර පරිභෝජනයක් පවත්වාගෙන යාමට ගිහි පැවිදි දෙපක්ෂයට ම බුදු දහමින් මග පෙන්වා තිබේ. එම මග පෙන්වීම සෞඛ්‍ය සම්පන්න සමාජයක් ගොඩ නගා ගැනීමට බෙහෙවින් උපකාර වන බව කිව යුතු ය.

## ක්‍රියාකාරකම



1. බුදු දහමේ ඉගැන්වෙන පමණ නොදන ආහාර අනුභව කරන පුද්ගලයන් පස් දෙනා නම් කරන්න.

2. ආහාර අනුභව කිරීමේ දී අප විසින් අනුගමනය කළ යුතු හොඳ පුරුදු පහක් ලියන්න

## පැවරුම



1. වෙළෙඳ පළෙන් ආහාර මිල දී ගන්නා විට සැලකිලිමත් විය යුතු කරුණු ලැයිස්තු ගත කරන්න.

## පුහුණුවට



සුභානුපස්සිං විහරන්තං
ඉන්ද්‍රියේසු අසංවුතං
භෝජනම්හිච අමත්තඤ්ඤුං
කුසීතං හීනවීරියං
තංවේ පසහති මාරෝ
වාතෝ රුක්ඛංව දුබ්බලං

(ධම්මපද - යමක වග්ග)

යමෙක් තමා දක්නා රූපාදිය ප්‍රියමනාප වශයෙන් සලකමින් වාසය කෙරේ ද, ඇස් කන් නාසාදී ඉන්ද්‍රියයන්ට කැමැති සේ හැසිරෙන්නට ඉඩ දේ ද, ආහාරයෙහි පමණ නොදනී ද, කම්මැලි වේ ද, අඩු වීර්යය ඇත්තේ ද, ඒ පුද්ගලයා, සුළඟ විසින් දුර්වල ගසක් බිම හෙළනු ලබන්නා සේ, කෙලෙස් මරුවා විසින් බිම හෙළනු ලැබේ.

# 19 සසුන සුරැකි සංගායනා

බුදු දහමේ චිර පැවැත්ම සඳහා සිදු කෙරුණ විවිධ ක්‍රියාකාරකම් අතර ධර්ම සංගායනා ප්‍රමුඛ ස්ථානයක් ගනියි. ධර්ම සංගායනාවක් යනු ''බුදුරජාණන් වහන්සේ විසින් දේශනා කරන ලද ධර්මය හා පනවන ලද විනය භික්ෂූන් වහන්සේලා එක් වී සජ්ඣායනා කිරීම'' යැයි සරල ව අර්ථකථනය කළ හැකි ය. එය තරමක් විස්තරාත්මක ව ඉදිරිපත් කළ හොත්, ඉන් අදහස් වන්නේ ශාසනාභිවෘද්ධිකාමී මහ තෙරවරුන් විසින් බුද්ධ වචනය ඒකරාශි කොට වැරැදි අදහස් ඇතුළත් වී ඇත්නම් ඒවා නිවැරැදි කොට ඇති වන ගැටලු ධර්ම විනයට අනුව විසඳමින්, ශාසන ශෝධනයක් ඇති කරලීම අරමුණු කොට ගෙන සිදු කරන ක්‍රියාවලියකි.

මේ උතුම් අරමුණ පෙරදැරි ව සිදු කළ සංගායනා පිළිබඳ ව ශාසන ඉතිහාසයේ සඳහන් වේ. ඒ අනුව ථේරවාදී බෞද්ධ සම්ප්‍රදාය මඟින් පැවැත්වූ සංගායනා හයකි. ඉන් පළමු වැන්න බුද්ධ පරිනිර්වාණයෙන් තෙමසක් ගිය තැන මගධ රාජ්‍යයේ රජගහ නුවර දී ද, දෙවැන්න බුද්ධ පරිනිර්වාණයෙන් වසර සියයක් ගිය තැන විශාලා මහනුවර දී ද, තෙවැන්න බුදුරදුන් පිරිනිවන් පා වසර 236 ක් ගිය තැන පැළලුප් නුවර දී ද පවත්වා ඇත. හතර වන ධර්ම සංගායනාව ක්‍රි.පූ. පළමු වැනි සියවසේ ලංකාවේ මාතලේ අලුවිහාරයේ දී ද, පස් වන හා හය වන සංගායනාව මියැන්මාරයේ දී (බුරුමය) ද පවත්වා ඇත. මීට අමතර ව භාරතයේ ම පැවති හතර වන ධර්ම සංගායනාවක් ගැන ද ඉතිහාසයේ සඳහන් වෙයි. එය ථේරවාදී සම්ප්‍රදායට අයත් නොවෙයි. ලක්දිව දී සිදු කළ බව දැක්වෙන හතර වන ථේරවාදී සංගායනා ව පිළිබඳවත් භාරතයේ දී සිදු කළ හතර වන කණිෂ්ක සංගායනාව පිළිබඳවත් මෙම පාඩම තුළින් අපි උගනිමු.

## අලුවිහාර සංගීතිය හෙවත් සිව් වන ථේරවාද සංගීතිය

සියවස් පහකට වැඩි කාලයක් පවත්වාගෙන එන ලැබූ ථේරවාදී බුදු දහම පළමු වරට පුස්කොළ පොත්වල ලියවුණේ මෙම සංගීතියේ දී ය. ඒ නිසා ම මෙය පුස්තකාරූඪ සංගීතිය ලෙස ද හැඳින්වෙයි. බුද්ධ පරිනිර්වාණයේ පටන් ශාසන මාමක භාණක තෙරවරුන් විසින් මුඛ පරම්පරාවෙන් පවත්වාගෙන ආ ත්‍රිපිටක ධර්මය ග්‍රන්ථාරූඪ කිරීම මෙහි දී සිදු විය. එය ශ්‍රී ලාංකික ගෞරවනීය මහා සංඝරත්නය විසින් කරන ලද උතුම් යුග මෙහෙවරකි.

## සංගායනාව පැවැත්වීමට හේතු

ශාසන ඉතිහාසය විමසීමේ දී පුස්තකාරූඪ සංගීතිය පැවැත්වීමට ලාංකේය භික්ෂූන් වහස්සේලා පෙළඹවූ හේතු ගණනාවක් හඳුනා ගත හැකි ය.

1. බුදු දහම ලංකාවට ලැබුණු දා පටන් එය ආරක්ෂා කරමින් පවත්වා ගෙන එනු ලැබුවේ මහා විහාරීය භික්ෂූන් වහන්සේලා විසිනි. ඒ සඳහා රාජ්‍ය අනුග්‍රහය නොමඳ ව ලැබුණි. නමුත් ක්‍රි.පූ. පළමු සියවසේ බලයට පත් වට්ටගාමිණී අභය හෙවත් වළගම්බා රජු දෙවන වර බලයට පත් වීමත් සමග මේ තත්ත්වයේ වෙනසක් ඇති විය. එම රජු විසින් තමන්ට දෙවන වර බලයට පත් වීමට උපකාර කළ කුපික්කල මහා තිස්ස හිමියන්ට ප්‍රතිඋපකාරයක් වශයෙන් අභයගිරිය කරවා පූජා කිරීමත් සමග ශාසනික අර්බුදයක් මෙරට නිර්මාණය විය. රජු අභයගිරි පාර්ශ්වයට හිතවත් ව කටයුතු කිරීමත් එම පාර්ශ්වය ඉන්දියාවෙන් පැමිණි ධර්මරුචි නම් භික්ෂුවගේ ඉගැන්වීම් ගුරුකොට ක්‍රියා කිරීමත් නිසා මහාවිහාරික භික්ෂූන් වහන්සේලා ආරක්ෂා කළ ථේරවාද බුදු දහමට අභියෝගයක් එල්ල විය. ධර්මරුචි තෙරුන් වහන්සේගේ ඉගැන්වීම් ථේරවාදී බුදුදහමට පටහැනි විය. අනාගතයේ දී එම දහම ථේරවාදී බුදු දහමට හානි කරනු ඇතැයි ලක්දිව තෙරවරුන් තුළ ඇති වූ සැකය මෙම සංගීතිය පැවැත්වීමට හේතු වූ එක් කරුණකි.

2. වළගම්බා රාජ්‍ය සමයේ බැමිණිතියා නම් සාගතයක් ද ඇති විය. මේ සාගතයට වසර දොළහක් මුළුල්ලේ පැවති මහා නියඟය බලපෑවේ ය. එම වකවානුවේ ගිහි ජනතාව මෙන් ම භික්ෂූන් වහන්සේ ද ආහාර අහේනියෙන් පෙළුණහ. ත්‍රිපිටකය කට පාඩමින් පවත්වා ගෙන ආ සමහර භික්ෂූන් වහන්සේලා මෙම සාගතය නිසා අහේනියෙන් අපවත් වූහ. ඇතැම් භික්ෂූන් වහන්සේලා ඉන්දියාවට වැඩම කොට ජීවිතය ආරක්ෂා කර ගත්හ. තවත් පිරිසක් හාමතේ මියයතත් ලක්බිම හැර නොයාමට තීරණය කොට මහවැලි ගඟේ වැලි තලාවේ වැතිර ත්‍රිපිටකය කට පාඩම් කළ බව සඳහන් වේ. සාගතය අවසානයේ ඉතිරි වූ භික්ෂූන් වහන්සේලා මහා විහාරයට රැස්වූ අතර දහම කට පාඩමින් ම පවත්වා ගෙන යාම මෙවන් තත්ත්වයක් යටතේ අනතුරුදායක බව අවධානයට යොමු කළහ.

3. වළගම්බා රාජ්‍ය සමය යුද ගැටුම්වලින් පිරුණකි. සිහසුනට පත් ව නොබෝ කලකින් දකුණු ඉන්දියාවෙන් පැමිණි ආක්‍රමණිකයෝ වළගම්බා රජතුමා පළවා හැර සිහසුන අත්පත් කර ගත්හ. ආක්‍රමණිකයන් සත් දෙනෙකු සිටි බව ද ඔවුන් එකිනෙකා මරා ගනිමින් දාහතර වසරක් රට පාලනය කළ බව ද සඳහන් වේ. භික්ෂූන් වහන්සේලාගේ මග පෙන්වීම ද දේශ හිතෛෂී ජන නායකයන්ගේ හා ප්‍රජාවගේ අනුග්‍රහය ද ඇති ව වළගම්බා රජතෙමේ අවසන් ආක්‍රමණිකයා පළවා හැර සිහසුනට පත් විය. මෙම දීර්ඝකාලීන යුද වාතාවරණය ශාසනික සංවිධානයේ යහපැවැත්මට මෙන් ම ථේරවාද බුදු දහමේ චිරස්ථිතියට ද හානිකර ලෙස බලපෑවේ ය. මුඛ පරම්පරාවෙන් ධර්මය පවත්වා ගෙන ගිය ගුරු ශිෂ්‍ය භික්ෂූහු විසිර

ගියහ. යුද බිය නිසා විටෙක වනගත වූහ; හුදෙකලා වූහ. ධර්මය මුඛ පරම්පරාවෙන් ගෙන යාමට අවශ්‍ය කාය චිත්ත විවේකය ද නැති විය. මේ තත්ත්වය තුළ යුද ගැටුම් අවසන් වූ පසු ත්‍රිපිටක ධර්මයේ සුරක්ෂිත බව සඳහා එය ග්‍රන්ථාරූඪ කිරීමේ වැදගත්කම තෙරුන් වහන්සේලාට පෙනී ගියේ ය.

4. ලක්දිව ඇතැම් භික්ෂූන් වහන්සේලා ශාසනික පිළිවෙතින් පිරිහී යාම ද අලුවිහාර සංගායනාව පැවැත්වීමට මහ තෙරවරුන් පෙළඹවූ තවත් කරුණකි. ධර්ම විනය මුඛ පරම්පරාවෙන් පවත්වාගෙන යෑමේ වගකීම පිළිවෙතින් පිරිහී යමින් සිටින සඟ පරපුර විසින් නිසි ලෙස ඉටු නොකරනු ඇතැයි මහ තෙරවරුන් තුළ සැකයක් ඇති වී යැයි සිතිය හැකි ය. මහා නිද්දේසයට ඇතුළත් ධර්ම කරුණු දැන සිටි එක ම භික්ෂුව ද දුසිල් ජීවිතයක් ගතකළ බව සඳහන් වේ. මේ තත්ත්වය ද ත්‍රිපිටක ධර්මය ග්‍රන්ථාරූඪ කිරීමේ අවශ්‍යතාව ඇති කළ බව සැලකිය හැකි ය.

5. ලාංකේය භික්ෂූන් වහන්සේ මෙකල කණ්ඩායම් දෙකකට බෙදී සිටියහ. ග්‍රන්ථ ධුරය වඩන භික්ෂූන් හා විදර්ශනා ධුරය වඩන භික්ෂූන් වශයෙනි. ග්‍රන්ථ ධුරය වැඩූ භික්ෂූහු විදර්ශනා ධුරය වැඩූ භික්ෂූන්ට වඩා ප්‍රබල වූහ. ග්‍රන්ථ ධුරය වැඩීම සඳහා ත්‍රිපිටකය ලේඛනාරූඪ කිරීම වඩාත් වැදගත් වීම ද මෙම සංගායනාව පැවැත්වීමට හේතු වී තිබේ.

6. මේ වන විට ධර්මය ඇසීමටත්, ඉගෙනීමටත්, ඒ පිළිබඳ පර්යේෂණ පැවැත්වීමටත් ඇතැමුන් තුළ උනන්දුවක් ඇති වී තිබේ. එබඳු කටයුතු මුඛ පරම්පරාවෙන් පමණක් පවත්වාගෙන යාම අපහසු බව ඔවුනට වැටහිණි. ත්‍රිපිටකය ලේඛනගත කිරීමෙන් එයට විසඳුම් ලබා ගත හැකි බව තේරුම් ගැනිණි. මෙබඳු හේතු ගණනාවක් පදනම් කරගෙන ක්‍රි.පූ. පළමු සියවසේ මාතලේ අලුවිහාරයේ දී ප්‍රදේශීය නායකයෙකුගේ අනුග්‍රහ ඇති ව භික්ෂූන් වහන්සේ පන්සීයකගේ සහභාගිත්වයෙන් හතර වන ධර්ම සංගීතිය පවත්වන ලදි. එහි දී සිදු වූයේ පාලි භාෂාමය වූ ථේරවාද ත්‍රිපිටකය ග්‍රන්ථාරූඪ කිරීමයි.

## සංගායනාවේ ප්‍රතිඵල

1. ත්‍රිපිටක ධර්මය වාචෝත්ගත ව පවත්වාගෙන යාමෙන් එහි කිසි යම් විකෘතිතාවක් ඇති වීමට තිබූ ඉඩකඩ මේ තුළින් මගහැරී යාම

2. භික්ෂූන් වහන්සේ නිකායාන්තර වශයෙන් බෙදී විවිධ මතවාදයන්හි පිහිටා ධර්මය විවරණය කිරීම තුළින් ථේරවාද බුදු දහම විෂයෙහි එල්ල වීමට තිබූ අභියෝග අවම වීම

3. පසුකාලීන ථෙරවාදී බුදු දහම අභාවයට ගිය අවස්ථාවල දී නැවත එය ස්ථාපිත කිරීමට මෙම ධර්ම ග්‍රන්ථ උපකාරී වීම

4. ලෝකයේ වෙනත් රටවල ථේරවාදී බුදු දහම අභාවයට ගිය අවස්ථාවල දී නැවත ස්ථාපිත කිරීමට ග්‍රන්ථාරූඪ කොට සුරක්ෂිත ව පැවති ලාංකේය ධර්ම ග්‍රන්ථ උපකාරී වීම

5. බුදු දහම ව්‍යාප්ත නොවූ  බටහිර රටවලට පසු කාලයේ ඒ පිළිබඳ දැනුම බෙදා හැරීමට මෙම ධර්ම ග්‍රන්ථ උපකාරී වීම යනාදිය සඳහන් කළ හැකි ය. විශේෂයෙන් රිස් ඩේවිඩ්ස් වැනි පඬිවරුන් එංගලන්තයේ පාලි ග්‍රන්ථ සමාගම (PALI TEXT SOCIETY) පිහිටුවා ගනු ලැබුවේ මෙරට පාලි ත්‍රිපිටකය ඉංග්‍රීසියට පරිවර්තනය කොට බෙදා හැරීම සඳහා ය. ඒ තුළින් මෑත යුගයේ දී ථේරවාද බුදුදහම හැදෑරීමට හා ලොව පුරා ප්‍රචලිත කිරීමට බොහෝ අවකාශ සැලසුණි

## කණිෂ්ක ධර්ම සංගායනාව

භාරතයේ ධර්මාශෝක අධිරාජයාණන්ගෙන් අනතුරුව බුදුදහමේ උන්නතියට ඉමහත් සේවාවක් කළ නරපතියෙකු ලෙස කණිෂ්ක රජතුමා ඉතිහාසගත වේ. ඔහුගේ රාජ්‍ය කාලයේ (ව්‍ය.ව. 120-162) පවත්වන ලද ධර්ම සංගායනාව භාරතයේ පැවති හතර වන ධර්ම සංගායනාවයි. මෙම සංගායනාවට සහභාගි වූ පිරිසෙන් වැඩි දෙනා සර්වාස්තිවාදී භික්ෂූන් වූ නිසා මෙය සර්වාස්තිවාදී සංගායනාව ලෙස ද හැඳින්වේ.

## සංගායනාව පැවැත්වීමට හේතු වූ කරුණු

1. සංඝ සමාජය නිකාය වශයෙන් බෙදී ඒ ඒ නිකාය විසින් විවිධාකාරයෙන් බුදු දහම විවරණය කිරීම

කණිෂ්ක රජතෙමේ බුදු දහම වැළඳ ගැනීමෙන් අනතුරුව රජමැදුරට භික්ෂූන් වහන්සේ නමක් වැඩම කරවාගෙන ධර්මය ශ්‍රවණය කිරීමට යොමු විය. දෛනික ව ඒ ඒ භික්ෂූන් වහන්සේ කළ දේශනයන්හි දී එක ම ධර්ම කරුණ වුව ද වෙනස් ආකාරයෙන්  විවරණය කෙරිණි. කණිෂ්ක රජතුමාට මෙය ගැටලුවක් විය. එවකට උගත් තෙර නමක් වූ පාර්ශව හිමියන්ගෙන් එසේ වීමට හේතු රජතුමා විමසී ය. එයට පිළිතුරු දෙමින් උන් වහන්සේ කියා සිටියේ භික්ෂූන් වහන්සේ නිකායික පිළිගැනීම් මත පිහිටා ධර්ම කරුණු විවරණය කිරීමට යෑම නිසා මේ තත්ත්වය ඇති වන බවයි.

මේ අනුව ධර්ම විනය පිළිබඳ ව ගොඩනැගී තිබූ පරස්පරතාවන් දුරු කොට බුද්ධ වචනය සංගීතිකාරක භික්ෂූන්  පිළිගත් සම්ප්‍රදාය අනුව ගොනු කිරීමේ අවශ්‍යතාව මෙම සංගායනාව පැවැත්වීමට හේතු විය.

2. ත්‍රිපිටක පොත්පත් එක්රැස් කිරීම හා ඒවාට සර්වාස්තිවාදී ධර්මයට අනුව අටුවා සම්පාදනය කිරීමේ අවශ්‍යතාව

මෙබඳු හේතූන් මුල්කරගෙන කණිෂ්ක රජතුමා සංගායනාවක් පැවැත්වීමට තීරණය කොට ඒ බව පාර්ශව තෙරුන්ට දන්වා ඇත. පාර්ශව තෙරුන් මේ පිළිබඳ ව වසුමිත්‍ර හිමියන් දැනුම්වත් කළ අතර කණිෂ්ක රජතුමාගේ අනුග්‍රහයෙන් එම සංගීතිය පවත්වන ලදි. සංගීතියේ ප්‍රධානත්වය පාර්ශව තෙරුන්ට පැවරුණු අතර එහි සභාපතිත්වය පැවරුණේ වසුමිත්‍ර තෙරුන්ට ය. සර්වාස්තිවාදී නිකායට අයත් උගත් භික්ෂූන් වහන්සේලා 500 නමක් මෙයට සහභාගි කර ගත් අතර මාස හයක් මුළුල්ලේ සංගීතිය පැවැත්වුණි. මෙයට සහභාගි වූ සියලුම භික්ෂූන් වහන්සේ බෝධිසත්වවරුන් ලෙස ද සැලකෙති.

## සංගීතියේ ප්‍රතිඵල

1. සූත්‍ර, විනය, අභිධර්ම යන ත්‍රිපිටකයට විභාෂා නම් සර්වාස්තිවාදී අටුවා ග්‍රන්ථ සම්පාදනය වීම
(ඒ අනුව විනය පිටකය සඳහා විනය විභාෂා ද, සූත්‍ර පිටකය සඳහා උපදේශ ශාස්ත්‍රය ද, අභිධර්ම පිටකය සඳහා අභිධර්ම විභාෂා ශාස්ත්‍රය ද සම්පාදනය කෙරුණි.)
2. අටුවා ග්‍රන්ථ තඹපත් ඉරුවල ලියවා සෙල්මුවා මංජුසාවල බහා ස්තූපයක තැන්පත් කරමින් ඒවායෙහි සුරක්ෂිතතාව තහවුරු කිරීම
3. පාලියෙන් පැවති ත්‍රිපිටක බුද්ධ ධර්මය සංස්කෘත භාෂාවට පරිවර්තනය වීම
4. විසිරී පැවති ගුරුකුල එක නිකායක් යටතට ගැනීම නිසා මහායාන සම්ප්‍රදාය ආරම්භ වීම
5. මධ්‍ය ආසියාවේ ධර්ම ප්‍රචාරය සඳහා ධර්ම දූත පිරිස් යෙදවීම

තෙවන සංගායනාවෙන් පසු අශෝක රජතුමාගේ අනුග්‍රහයෙන් රටවල් නවයක ථේරවාද ධර්ම ප්‍රචාරක කටයුතු සිදු කළා සේ ම කණිෂ්ක රජතුමාගේ අනුග්‍රහයෙන් මධ්‍ය ආසියාව හරහා පැවැති තවලම් මාර්ගවල තැන තැන පිහිටි රාජ්‍යයන්හි මහායාන ධර්මය ප්‍රචාරය කරවීම.

මෙබඳු ප්‍රතිඵල රැසක් උදාකරලීමට කණිෂ්ක සංගීතිය උපකාර වූ බව පැහැදිලි ය. ඒ අනුව ථේරවාදීන් මෙන් ම මහායානිකයින් ද ධර්මයෙහි සුරක්ෂිතතාව හා ව්‍යාප්තිය පිණිස ගෙන ඇති පියවර මෙම සංගායනාවලින් අපට වටහා ගත හැකි වෙයි.

**පොදුවේ ගත් කල මේ සෑම සංගායනාවකින් ම සමාජයට වැදගත් ආදර්ශ කිහිපයක් ලබා දේ.**

- **සමාජය තුළ ඇති වන ඕනෑ ම ගැටලුවක දී සාකච්ඡා මාර්ගයෙන් විසඳුම් ලබා ගැනීමට හැකි බව**
- **සුරක්ෂිත කළ යුතු දෑ නිසි අවස්ථාවන්හි දී සුරක්ෂිත කිරීමට පෙළඹීම තුළින් පසු කාලීන ව ඇති වන බොහෝ ගැටලු අවම කර ගත හැකි බව**

## සාරාංශය



ශාසන ඉතිහාසය තුළ සංගායනා ගණනාවක් පිළිබඳ තොරතුරු දැක්වේ. ඒ අතර හතර වන ධර්ම සංගායනා දෙකක් පිළිබඳ ව සඳහන් වේ. එයින් එකක් ථේරවාදී සංගායනා මාලාවේ හතර වැන්නයි. එය  ලංකාවේ මාතලේ අලුවිහාරයේ දී වළගම්බා රජු දවස පවත්වා ඇත. අනෙක භාරතයේ පැවති හතර වන සංගායනාවයි. එය කණිෂ්ක රජු දවස කාශ්මීරයේ කුණ්ඩලවන විහාරයේ දී පවත්වා ඇත. එය ථේරවාදී බුදුදහමට වෙනස් සර්වාස්තිවාදී නිකායට අයත් වූවකි. කුමන සංගායනාවක් වුව ද ශාසන චිරස්ථිතිය හා ව්‍යාප්තිය උදා කරලීමට හේතු වී ඇත. සාකච්ඡා මාර්ගයෙන් විසඳුම් සෙවීම හා සුරක්ෂිත කළ යුතු ධර්ම විනය සුරක්ෂිත කිරීම සංගායනා පැවැත්වීමට හේතු වූ බව පැහැදිලි වේ.

## ක්‍රියාකාරකම



1. මාතලේ අලුවිහාර සංගීතිය හා කණිෂ්ක ධර්ම සංගීතිය ඇසුරු කරගෙන පහත සඳහන් වගුව සම්පූර්ණ කරන්න.

| කාලය | පැවැත් වූ ස්ථානය | මූලිකත්වය | අනුග්‍රහය | සංගීතියට සහභාගි වූ සංඛ්‍යාව |
|---|---|---|---|---|
| | | | | |

2. මෙම සංගීති දෙක ම පැවැත්වීමට බලපෑ කරුණු දෙක බැගින් ලියන්න.

## පැවරුම



ථේරවාදී සංගායනා හතර හා කණිෂ්ක සංගීතිය ශාසන චිරස්ථිතියට හා ව්‍යාප්තියට උපකාරී වූ ආකාරය විස්තර කරමින් පුවත්පතක පළ කිරීමට සුදුසු ලිපියක් ලියන්න. සුදුසු මාතෘකාවක් ද යොදන්න.

# 20 හෙළ කලාවන් සුරකිමු

මිහිඳු මහ රහතන් වහන්සේ විසින් ලක්දිවට බුදු දහම හඳුන්වා දීමත් සමග එය ආරක්ෂා කර ගැනීම හා ඉදිරියට පවත්වා ගෙන යෑම සඳහා දේශීය භික්ෂු සමාජයක් ආරම්භ කරන ලදි. අනතුරුව තැනින් තැන මෙරට විහාරස්ථාන ඉදි වූයේ උන් වහන්සේලාගේ වාසස්ථාන වශයෙනි. මහජනයාට වැඳුම් පිදුම් කිරීම සඳහා ත්‍රිවිධ චෛත්‍යය ද ඒ සමග ම ගොඩ නැගුණි. එනම් ස්තූපය, බෝධි වෘක්ෂය හා බුද්ධ ප්‍රතිමාවයි. බෞද්ධ කලා ශිල්ප ගණයට ඇතුළත් වන චිත්‍ර, මූර්ති, කැටයම් මෙන් ම ගෘහ නිර්මාණ කලාව ද බිහි වූයේ ත්‍රිවිධ චෛත්‍යයෙන් සමන්විත විහාරස්ථාන මධ්‍යස්ථාන කරගෙන ය.

දුමින්දාගමනයත් සමග මෙරටට පැමිණි අටළොස් කුලයක ශිල්පීන් අතර මෙබඳු කලා ශිල්ප පිළිබඳ විශේෂඥයින් ද සිටින්නට ඇත. අනුරාධපුර හා පොළොන්නරු යුගවලට අයත් බොහෝ කලා නිර්මාණවලට භාරතීය ආභාසය ලැබීම එය සනාථ කරවන්නකි. පසු කාලයේ ලොවක් මවිතයට පත් කරන ශ්‍රේෂ්ඨ කලානිර්මාණ බිහි වූයේ භාරතීය මග පෙන්වීම ද ලබා ගත් හෙළ කලාකරුවන්ගේ සුරතිනි. ඉන් කිහිපයක් මෙසේ හඳුනා ගනිමු.

## ස්තූපය

විවිධ තුරු ලතා මෙන් ම ගොඩනැඟිලි ද පිරුණු පරිසරයක වුව ද බෞද්ධ විහාරස්ථානයක් වෙන් කොට හඳුනා ගැනීමේ සලකුණ වන්නේ සුදෝ සුදුවන් ව බබලන ස්තූපයයි. එය සිංහල බෞද්ධ සංස්කෘතියේ එක් සංකේතයකි. ස්තූපය හැඳින්වීම සඳහා විවිධ නම් භාවිත කරනු ලබයි. චෛත්‍යය, වෙහෙර, සෑය, දාගැබ, ථූපය, චේතිය යනු එයින් කිහිපයකි. විහාරස්ථානයක මූලික අංගයක් වන ස්තූපය, බුදුරජාණන් වහන්සේගේ ශාරීරික චෛත්‍යය නිරූපණය කරයි. බුදු, පසේබුදු, මහ රහත් යන උතුමන්ගේ ධාතු හා විවිධ පූජා වස්තු තැන්පත් කොට ස්තූප ඉදි කිරීම අතීතයේ සිට පැවැතෙන්නකි. ඒ අනුව විහාරස්ථානයක ඇති ත්‍රිවිධ චෛත්‍ය අතුරින් පළමු ව වන්දනා කළ යුත්තේ ස්තූපයටයි.

මෙරට ස්තූප ඉදිවීමේ ආරම්භය පිළිබඳ විවිධ කතා පුවත් පවතී. ලක්දිව බුදු දහම ස්ථාපිත වීමත් සමග ගොඩනැගුණු මුල් ම ස්තූපය ලෙස සැලකෙන්නේ අනුරාධපුරයේ පිහිටා ඇති ථූපාරාම දාගැබයි. මිහිඳු මහරහතන් වහන්සේගේ උපදෙස් මත බුදුරජාණන් වහන්සේගේ දකුණු අකු ධාතූන් වහන්සේ තැන්පත් කොට දෙවන පෑතිස් නිරිඳුන් විසින් මෙය කරවන ලදි. අනතුරුව විවිධ හැඩයන්ගෙන් යුත් ස්තූප විවිධ පාලකයින් විසින් ඉදිකරවන ලදි.

# ස්තූප ආකෘති

ගර්භයේ ස්වරූපය අනුව ප්‍රධාන වශයෙන් ස්තූප සයාකාර වේ.

1. ඝණ්ටාකාර - ඝණ්ඨාරයක හැඩය (සීනුවක හැඩය)
2. ඝටාකාර - කළයක හැඩය
3. බුබ්බුලාකාර - දිය බුබුලක හැඩය
4. ධාන්‍යාකාර - ධාන්‍ය ගොඩක හැඩය
5. පද්මාකාර - පියුමක හෙවත් නෙළුම් මලක හැඩය
6. ආමලකාකාර - නෙල්ලි ගෙඩියක හැඩය.


ඝණ්ඨාකාර


ඝඨාකාර


බුබ්බුලාකාර


ධාන්‍යාකාර


පද්මාකාර


ආමලකාකාර

මේ අතුරින් අද වන විට ශ්‍රී ලංකාව තුළ දැක ගත හැකි වන්නේ ආකෘති තුනක දාගැබ් ය. වත්මන්හි අප දකින ථූපාරාම, මහියංගණ ස්තූප ඝණ්ඨාකාර හැඩයට නිදසුන් ය. රුවන්වැලිසෑය, අභයගිරිය වැනි මහා ස්තූප බුබ්බුලාකාර වේ. කැලණි රජමහා විහාරයේ පිහිටි ස්තූපය ධාන්‍යාකාර වේ. ඉතිරි හැඩවලට අයත් පැරණි ස්තූප ද පැවති බව විචාරක මතයයි. ඒ අනුව කතරගම කිරිවෙහෙර මුලින් ඝඨාකාර හැඩයෙන් යුක්ත වූ බවත් දැදිගම කොටවෙහෙර පද්මාකාර වූ බවත් විද්වත්හු පෙන්වා දෙති. පොළොන්නරුව සත්මහල් ප්‍රාසාදය, මුලින් සඳහන් ආකෘති හයට පරිබාහිර ස්තූපයක් ලෙස මහාචාර්ය සෙනරත් පරණවිතාන මහතා පෙන්වා දෙයි. එය චතුරශ්‍රාකාර ස්තූපයක් ලෙස එතුමා නම් කරයි.

## ස්තූපාංග

ස්තූපයේ පවත්නා කලාත්මක බව වැඩි දියුණු කිරීමට ස්තූපාංග උපකාරී වී ඇත. ලක්දිව අංග සම්පූර්ණ ස්තූපයක පහත සඳහන් අංග හඳුනා ගත හැකි ය. මෙම අංග විවිධ බෞද්ධ ඉගැන්වීම් අර්ථවත් කරන බව විද්වත් මතය වේ.

1. තුන් මහල් පේසාව
2. ගර්භය
3. සතරැස් කොටුව
4. දේවතා කොටුව
5. කොත් කැරැල්ල
6. චූඩාමාණික්‍යය

පුරාණ ස්තූප බොහෝමයක් ඉදිකොට ඇත්තේ වෘත්තාකාර හෝ සමචතුරාශ්‍රාකාර සලපතළ මළුවක ය. ඊට පහළින් වැලි මළුවක් ද දැකිය හැකි ය.



## චෛතියඝර හෙවත් වටදාගෙය

ස්තූපය සඳහා ඉදි වූ වෘත්තාකාර පියස්සක් සහිත ගෘහය චෛතියඝර හෝ වටදාගෙය නමින් හැඳින්වෙයි. ස්තූපයේ ආරක්ෂාව හා බැතිමතුන්ගේ ආරක්ෂාව සැලකිල්ලට ගෙන මෙම නිර්මාණය කර ඇත. මෙය කුඩා පරිමාණයේ ඇතැම් ස්තූප සඳහා ඉදිකර තිබූ බවට නිදසුන් අද ද දක්නට ලැබේ. ථූපාරාමය, අම්බස්තලය, ලංකාරාමය, වැනි අනුරාධපුරයේ පිහිටි ස්තූප වටා ඇති ගල්කණු එයට සාක්ෂි දරයි. පොළොන්නරුවේ හා මැදිරිගිරියේ පිහිටි වටදාගෙවල් කලාත්මක බවින් අනූන ය.




**පොළොන්නරුව වටදාගෙය**

## වාහල්කඩ

ඇතැම් ස්තූපවල ගර්භයට සම්බන්ධ සිව් දිසාවට මුහුණලා තනන ලද අලංකාර තොරණ වැනි අංගයක් දක ගත හැකි ය. එය වාහල්කඩ හෙවත් ආයක නමින් හැඳින්වේ. වාහල්කඩක දෙපස මල් ලියකම් සහිත ශිලා ස්තම්භ දෙකක් පිහිටා ඇති අතර මැද කොටස සමාන්තර තීරු යොදා හංස රූප, වාමන රූප, ඇත් හිස් හා බොරදම් යොදා අලංකාර කොට ඇත. මිහින්තලේ කණ්ඨක චෛත්‍යයෙහි නැගෙනහිර වාහල්කඩ උසස් කලාත්මක නිර්මාණයකි.



**මිහින්තලේ කණ්ඨක චෛත්‍යයේ**
**වාහල්කඩ කැටයම්**

## බෝධිඝර

බෝධීන් වහන්සේ වටා නිමවන ලද පටු පියස්සක් සහිත මණ්ඩපය බෝධිඝරය ලෙස ව්‍යවහාරයට පත් විය. මේ තුළින් ද බෝධි වෘක්ෂයේ ආරක්ෂාව තහවුරු කිරීමක් සිදු කෙරුණි. අනුරාධපුරයේ ශ්‍රී මහා බෝධීන් වහන්සේ වටා ද, බෝධිඝරයක් නිමවා තිබූ බවට සාක්ෂි හමුවේ. වර්තමානයේ බෝධිඝර දැක ගත නොහැකි වූවත් බෝධිඝර පිහිටි ස්ථාන කිහිපයක් හඳුනා ගත හැකි ය. මෙතෙක් හමු වී ඇති කලාත්මක බවින් උසස් ම බෝධිඝරය කුරුණෑගල දිස්ත්‍රික්කයේ නිල්ලක්ගම පිහිටා ඇත.

## පියගැටපෙළ

බෞද්ධ විහාරස්ථානයකට හෝ වෙන යම් ගොඩනැගිල්ලකට පිවිසීමට සඳකඩපහණට පා තැබූ පසු ඊළඟට පියවර තැබිය යුත්තේ පියගැටපෙළට ය. පියගැට ද අලංකාර කැටයම්වලින් සරසා තිබේ. පියගැට දෙකක් අතර හිසින් බරක් උසුලාගෙන සිටින ඉරියව්වෙන් නෙළා ඇති වාමන රූප දැකිය හැකි ය. ඊට අමතර ව පලාපෙති කැටයම්වලින් අලංකාර කරන ලද පියගැට පේළි ද දක්නට ලැබේ.



අනුරාධපුරයේ බිසෝ මාලිගාවේ සඳකඩපහණ, මුරගල, කොරවක් ගල සහ පියගැටපෙළ

## සඳකඩපහණ

බෞද්ධ සිද්ධස්ථානයකට පිවිසෙන පියගැට පෙළක ආරම්භයේ දක්නට ලැබෙන අර්ධකවාකාර ගල් පුවරුව හැඳින්වෙන්නේ සඳකඩපහණ නමිනි. මෙය ලාංකේය කැටයම් ශිල්පියාගේ විස්මිත කලා කෞශල්‍යය ලොවට හෙළි කරන තවත් සුවිශේෂ නිමැවුමකි. පාලියෙන් "අඩ්ඪචන්දපාසාණ" යනුවෙන් හැඳින්වෙන්නේ ද මෙයයි.

අනුරාධපුර යුගයේ සිට මහනුවර යුගය දක්වා ඒ ඒ යුගවලට අයත් සඳකඩපහණ රැසක් හමු වී ඇති අතර එම නිර්මාණ ඒ ඒ යුගවලට අනන්‍ය ලක්ෂණ ප්‍රකට කරයි. වඩාත් කලාත්මක සඳකඩපහණ නිර්මාණය කිරීමේ ගෞරවය හිමිවන්නේ අනුරාධපුර යුගයේ මධ්‍ය භාගයේ විසූ කලාකරුවන්ට ය. දැනට හමු වී ඇති සඳකඩපහණ කිහිපය අතර කලාත්මක බවින් මුල් තැන ගන්නේ අනුරාධපුරයේ බිසෝ මාලිගය අසල ඇති සඳකඩපහණයි.

මේවායේ කලාත්මක බව තීව්‍ර කරන ප්‍රධාන සාධකය වන්නේ එහි ඇති විසිතුරු කැටයම් ය. මල් ලියකම්වලින් මෙන් ම සත්ත්ව රූපවලින් ද සඳකඩපහණ විසිතුරු වේ. අනුරාධපුර සඳකඩපහණ පිටත සිට ඇතුළත ඇති කැටයම්වල මුලින් ම දක්නට ලැබෙන්නේ ශෛලිගත පලාපෙති මෝස්තරයයි. අනතුරුව ඇත්තේ එකිනෙකා පසුපස දිවයන ඇත්, අස්, සිංහ, ගව යන සතුන් සිව්දෙනායි. ඉන් පසු සංකීර්ණ ලියවැලක් ද අනතුරුව තුඩින් නෙළුම් පොහොට්ටු රැගෙන එකා පසු පස ගමන් කරන හංස පේළියක් ද ඊළඟට නැවත වතාවක්

සරල ලියවැලක් ද දක්නට ලැබේ. සඳකඩපහණෙහි මැද ඇත්තේ නෙළුම් මලක අර්ධයකි. මෙම පිළිවෙළ හා කැටයම් සෑම සඳකඩපහණකට ම පොදු නොවේ. පොළොන්නරු යුගයේ සඳකඩපහණෙහි ගව රූපය ඉවත් ව ඇත. එයට හේතුව ලෙස සැලකෙන්නේ මේ වන විට හින්දු ආභාසය ලාංකේය සංස්කෘතියට එකතු වීමයි. මහනුවර යුගයේ සඳකඩපහණ කැටයම්වලින් පමණක් නොව හැඩය අතින් ද වෙනස් වී ඇත. අනුරාධපුර යුගයට අයත් සඳකඩපහණින් භව චක්‍රය අර්ථවත් කෙරෙන බව මහාචාර්ය සෙනරත් පරණවිතාන මහතා පවසයි.

### මුරගල

විහාර මන්දිරයක හෝ රාජකීය ගොඩනැගිල්ලක දොරටු අලංකාර කරන අර්ධ කවාකාර මුදුන සහිත ගල්පුවරු දෙක මුරගල් නමින් හැඳින්වේ. සඳකඩපහණක හෝ පියගැට පෙළක ආරම්භක පියගැටය දෙපස මේ අලංකාර නිමැවුම දැකිය හැකි ය. මේවා කැටයම් සහිත හෝ රහිත හෝ ඒවා වේ. කොරවක්ගලේ ආරක්ෂාව තහවුරු කෙරෙන මුරගලේ විකාශය අනුව ඒවායේ ඇති කැටයම් ද විවිධාකාර ය. මුරගල ආරම්භයේ කැටයම් රහිත වුව ද, පසු ව පුන්කලස, බහිරව රූප හෙවත් වාමන රූප, පෙණය සහිත නාග රූප එයට එක් විය. මෙහි දැකිය හැකි මිනිස් වෙස් ගත් නා රජ කැටයම මුරගල විකාශයේ දියුණු ම අවස්ථාව පෙන්නුම් කරන්නකි. නා රජුගේ හිස වටා විහිදෙන නයි පෙණ මාලාවකි. ත්‍රිභංග ලීලාවෙන් නැගී සිටින නා රජුගේ වැලමිටෙන් ඉහළට නැමුණ එක් අතක ඇත්තේ මල් පිරවූ පුන් කළසකි. අනෙක් අතේ ඇත්තේ දලුලන ශාඛාවක් හෝ මල් ඉත්තක් වැනි දෙයකි. නා රජුගේ දෙපා මුල වාමන රූප එකක් හෝ දෙකක් දැකිය හැකි ය. දැනට විද්වතුන්ගේ සම්භාවනාවට ලක් වූ කලාත්මක මුරගල හමුවන්නේ අභයගිරියට අයත් රත්නප්‍රාසාදය නමැති ගොඩනැගිල්ල සමීපයෙනි.

### කොරවක් ගල

මුරගලට පිටුපසින් පියගැට පෙළ දෙපස කැටයම් සහිත ව හෝ රහිත ව අත්වැලක් ලෙස දිගැටිව ඇති ගල් පුවරුව කොරවක් ගලයි. බොහෝ විට පියගැට පෙළ නගින්නන්ගේ ආරක්ෂාව හා පියගැට පෙළෙහි ආරක්ෂාව සඳහා ආධාරකයක් වශයෙන් ගොඩ නැගුණ ද මෙය ද කලාත්මක නිර්මාණයකි.

මකර මුඛයකින් නිකුත් වන ලියවැලක්, වෘත්තාකාර දඟරයකින් අවසන් වන ලෙස නිර්මාණය කර තිබීම මෙහි ඇති සුලභ කැටයම් වේ. කොරවක් ගලේ පිටට පෙනෙන බිත්තියේ සිංහ, හස්ති, නාග හෝ වාමන රූප කැටයමින් විසිතුරු කොට ඇත. පියගැට පෙළේ දිග ප්‍රමාණය අනුව කොරවක් ගලේ ප්‍රමාණය හා දිගේ ස්වභාවය තීරණය වී ඇත.

## අනුරාධපුර හා පොළොන්නරු චිත්‍ර

විහාරස්ථානයක ඇති පිළිමගෙය කලාගාරයකි. එය මූර්ති හා කැටයම් කලාවෙන් මෙන් ම චිත්‍ර කලාවෙන් ද පොහොසත් වූවකි. බෞද්ධ සිතුවම් මඟින් ජනතාවට බෝසත් චරිතය හා



සීගිරි චිත්‍ර



ගල්විහාරයේ විද්‍යාදර ලෙනේ චිත්‍රයක්

බුද්ධ චරිතය පිළිබඳ දැනුම ලබා දෙමින් ශ්‍රද්ධාව වර්ධනය කෙරෙන අතර ඔවුන්ගේ ජීවිතවලට ආදර්ශ ලබා දීමක් ද සිදු කෙරේ. පොතපතින් ලබා දෙන දහම් දැනුම වඩාත් පැහැදිලි ව සිතුවම් මඟින් ලබා දීමට ද බෞද්ධ කලාකරුවා සමත් වී ඇති බව පැරණි සිතුවම් අධ්‍යයනය කිරීමේ දී පැහැදිලි වේ.

බෞද්ධ සිතුවම් කලාවේ ආරම්භය ද අනුරාධපුර යුගය දක්වා ඈතට දිවෙයි. වංශකතා සාහිත්‍යය මඟින් ද මේ යුගයේ සිතුවම් පැවති ස්ථාන හඳුනාගත හැකි ය. නමුත් මෙම යුගයට අයත් සිතුවම් වර්තමානයේ හමු වන්නේ ස්ථාන කිහිපයක පමණි. ඒ අතර "**සීගිරිය**" හා "**හිඳගල**" විශේෂ තැනක් ගනී. ඉන්දියාවේ පැරණි අජන්තා සිතුවම්වලට නෑකම් කියන සීගිරි චිත්‍ර එකල සිතුවම් කලාවේ අපූර්වත්වය පෙන්නුම් කරන්නකි. පැරණි බෞද්ධ අරාම හා ලෙන් විහාරවල සිතුවම් මෙයට සමගාමී ව ඇඳ ඇති බව පැහැදිලි ය. හිඳගල විහාරස්ථානයේ දැනට මැකී ගොස් ඇති සිතුවම් සීගිරි සම්ප්‍රදායට අයත් වූවකි.

පොළොන්නරු යුගයේ පැරණි ම සිතුවම් පැවති ස්ථාන ලෙස මහියංගණ ස්තූපයේ ධාතු ගර්භය, දිඹුලාගල ලෙන් හා තිවංක පිළිමගෙය හඳුනාගෙන ඇත. මේ ස්ථානයන්හි පැවැති චිත්‍රවල බෝධිසත්ව චරිතයේ හා බුද්ධ චරිතයේ විවිධ අවස්ථාවන් නිරූපණය කෙරේ. ඒ බව දැනට ශේෂ වී ඇති සිතුවම් කොටස් තුළින් හඳුනා ගත හැකි ය. විශේෂයෙන් මේ යුගයේ විශාලතම චිත්‍රාවලිය දක්නට ලැබෙන්නේ පොළොන්නරුවේ තිවංක පිළිමගෙයිනි. මහ පැරකුම්බා රජු විසින් කරවන ලද ජේතවනාරාමයේ පිළිම ගෙය මේ නමින් හඳුන්වා ඇත. මෙහි ගර්භගෘහයේ ඇති සිතුවම් තුළින් බුද්ධ චරිතයත් අන්තරාලයේ ඇති සිතුවම් මඟින් ජාතක කථාත් නිරූපණය වේ. එම සිතුවම් අතර බුදුරජාණන් වහන්සේ දෙව්ලොව සිට සංකස්සපුරයට වැඩම කිරීම ද සස, වෙස්සන්තර, සාම ආදී ජාතක කථා රැසක් ද

දක්නට ලැබේ. මේ සියලු කරුණු තුළින් පෙන්නුම් කෙරෙන්නේ එකල දියුණු චිත්‍ර කලාවක් පැවති බවයි.

ලොවක් මවිතයට පත් කරන විවිධ කලා නිර්මාණවලින් පොහොසත් මෙම පින්බිමේ පිහිටි පූජනීය ස්ථාන ආරක්ෂා කිරීම ලාංකික අප සැමගේ ම යුතුකමකි. එය තනි පුද්ගලයෙකුට හෝ ආයතනයකට පමණක් කළ හැකි කාර්යයක් නොවේ. පුරාවිද්‍යා දෙපාර්තමේන්තුවට හා සංස්කෘතික ත්‍රිකෝණ අරමුදලට පමණක් මේවා ආරක්ෂා කිරීම අපහසු ය. අද දවසේ ජීවත් වන අප මේවා ආරක්ෂා කිරීමට නොපෙළඹුණහොත් මතු පරපුරට අතීත උරුමයන් දැක ගැනීමේ අවස්ථාව අහිමි වනවා පමණක් නොව වසර දහස් ගණනක අපේ ප්‍රෞඪ ඉතිහාසය තහවුරු කරන ජීවමාන සාක්ෂි ද අහිමි වේ. ඒ නිසා හැකි සෑම අවස්ථාවක ම මේවා ආරක්ෂා කිරීමට යොමු විය යුතු ය. ඇතැම් විට අපගේ නොසැලකිලිමත්භාවය නිසා ද මේවා විනාශ වන අවස්ථා දැකිය හැකි ය. මේ ස්ථාන වන්දනාමාන කිරීමට හෝ දැක බලා ගැනීමට ගිය විට පැරණි ගඩොල් බැම් මත ඇවිද යාම, එම ස්ථාන කුරුටු ගෑම, පැරණි නිර්මාණ හෝ ගඩොල් මත වාඩි වී සිටීම කිසි සේත් නොකළ යුතු ය. මෙම ස්ථානවල ප්‍රසිද්ධ කොට ඇති උපදෙස් ප්‍රචාරණවලට අනුව ක්‍රියා කිරීමට අප සියලු දෙනා ම යොමු විය යුතු ය. ඒ මගින් පෞරාණික වස්තූන් හා කලාත්මක නිර්මාණ ආරක්ෂා කිරීමේ වගකීම ද අප වෙතින් ඉටු වන්නේ ය.

## සාරාංශය

මිහිඳු මහරහතන් වහන්සේගේ ලංකාගමනයත් ඉන් පසු ව සංඝමිත්තා තෙරණිය ඇතුළු අටළොස් කුලයක පැමිණීමත් සමග මෙරට ජනතාවට දායාද රැසක් උරුම විය. ඒ අතර කලා ශිල්ප එක් දායාදයකි. චිත්‍ර, මූර්ති, කැටයම් හා ගෘහනිර්මාණ කලාව එහිලා ප්‍රධාන වේ. මෙම පාඩම තුළින් මූර්ති කලාවට අයත් ප්‍රධාන නිර්මාණයක් වූ බුද්ධ ප්‍රතිමාව හැර අනුරාධපුර හා පොළොන්නරු යුගවලට අයත් සෙසු කලා ශිල්ප පිළිබඳ ව සැකෙවින් තොරතුරු ඉදිරිපත් කර ඇත. ලොවක් මවිතයට පත් කරන අපේ උරුමයන් ලාංකිකයන්ගේ ප්‍රෞඪ ඉතිහාසය ඉදිරිපත් කෙරෙන අලිඛිත සාක්ෂි වේ. එබැවින් පෞරාණික උරුමයන් අගයන අතර ඒවායේ සුරක්ෂිතතාව තහවුරු කිරීම ලොකු කුඩා අප සැමගේ ම යුතුකමකි; යුග මෙහෙවරකි.

## ක්‍රියාකාරකම



1. ස්තූපයක ආකෘතියක් ඇඳ එහි අංග නම් කරන්න.

2. අනුරාධපුර හා පොළොන්නරු සඳකඩ පහණෙහි ඇති ප්‍රධාන වෙනස්කම ලියන්න.

3. මුරගලේ ආරම්භක අවස්ථාවේ සිට සංවර්ධන අවස්ථාව දක්වා දක්නට ලැබෙන කැටයම් නම් කරන්න.

4. ගෘහ නිර්මාණ, චිත්‍ර හා කැටයම්වලට අදාළ නිර්මාණ වෙන් වෙන් ව හඳුනා ගෙන පහත සඳහන් වගුව සම්පූර්ණ කරන්න.

| ගෘහ නිර්මාණ | චිත්‍ර | කැටයම් |
|---|---|---|
| | | |

## පැවරුම



1. අනුරාධපුර පොළොන්නරු යුගවල ගෘහ නිර්මාණ, චිත්‍ර හා කැටයම්වලට අදාළ ව තොරතුරු, සිතුවම් හෝ ඡායාරූප ඇතුළත් කරමින් කුඩා පොතක් සකස් කරන්න. එයට සුදුසු නමක් ද යොදන්න.

# 21 බෞද්ධ සාහිත්‍යය රස විඳිමු

රූ රැසේ අඳිනා ලෙසේ අත් ළෙල දිදී විදුලිය පබා
රන් රසේ එක් වන ලෙසේ වෙණ නාදනූ පා තබා
කම්පසේ දෙන සර ලෙසේ දෙස බල බලා නෙතගින් සබා
මම් කෙසේ පවසම් එසේ වර සුර ළඳුන් දුන් රඟ සුබා

පුවත්පත කියවමින් සිටි මට ගුවන් විදුලියෙන් මිහිරි ලෙස මේ පද්‍යය ඇතුළු පද්‍ය කිහිපයක් ගායනා කරනු ඇසිණි. සුසිල් ප්‍රේමරත්න ගායකයා එසේ මධුර ලෙස ගායනය කළේ වැත්තෑවේ හිමියන් විසින් රචනා කරන ලද ගුත්තිලයෙහි එන පද්‍යයකි.

සිංහල සාහිත්‍යය දියුණු වූයේ බණ කතා සාහිත්‍යයක් වශයෙනි. පොතපත බහුල නොවූ පැරණි යුගයේ සාහිත්‍ය කෘති සෑම එකක් ම පාහේ සාමූහික ව සවන් දීමේ රුචිය වර්ධනය වන ලෙස නිර්මාණය කරන්නට එදා ගත්කතුවරුන් කළ උත්සාහය අගය කළ යුතු ය. මෙරට සාහිත්‍ය ඉතිහාසය අප හදාරන්නේ රාජධානි පදනම් කරගෙන ය. එක් එක් යුගවල භාෂා භාවිතයත්, ජන සමාජයේ ස්වරූපයත්, නිර්මාණ කෞශල්‍යය හා රස වින්දනයත් පිළිබඳ ව කිසි යම් අවබෝධයක් ලබා ගැනීමට සාහිත්‍ය කෘති අවස්ථාව සලසයි. අනුරාධපුර, පොළොන්නරු, දඹදෙණි සාහිත්‍ය යුගවල රචනා වූ සිංහල සාහිත්‍ය කෘති කිහිපයක් පිළිබඳ ව විමසා බැලීමෙන් උක්ත කරුණු තහවුරු වේ.

## අනුරාධපුර සාහිත්‍ය යුගය

මෙරට ඉතිහාසයේ ආදිතම අවධිය අනුරාධපුර යුගයයි. අනුරාධපුරය අගනුවර කොට ගෙන රාජ්‍ය පාලනය සිදු වූ එම යුගයේ සිංහල බෞද්ධ සාහිත්‍යය පිළිබඳ තොරතුරු අටුවා හා වංශ කතාවන්හි සඳහන් වේ. මෙරට පැරණි ම සිංහල බෞද්ධ සාහිත්‍ය කෘති වශයෙන් සැලකෙන්නේ සීහලට්ඨ කථා හෙවත් හෙළ අටුවා ය. එනම් පාලි භාෂාවෙන් තිබූ ත්‍රිපිටක ධර්මයට සිංහල භාෂාවෙන් සපයන ලද අර්ථකථනයන් ය. ඒවා අද දක්නට නොලැබේ. සියබස්ලකර මෙම යුගයට අයත් දැනට ශේෂවී ඇති කෘතිවලින් එකකි. මෙම කෘතිය සාහිත්‍යකරණයට යොමුවන්නන්ට අවශ්‍ය උපදෙස් ලබා දෙයි.

“පෙදෙන් බුදු සිරිතැ - බසින් වත් සිරිත් ඈ.....” යනුවෙන් කෘතිය ආරම්භයේ ම සඳහන් වෙයි. එතැන් පටන් මෙරට නිර්මාණකරුවන් විසින් සාහිත්‍ය කෘති සඳහා තේමා කර ගනු ලැබුවේ බෝසත් චරිතය හා බුද්ධ චරිතයයි. අනුරාධපුර යුගයේ රචනා වූ සාහිත්‍ය කෘතිවලින් අද වන විට ඉතිරි ව ඇත්තේ ග්‍රන්ථ කිහිපයකි. ඒ අතර සිඛවළඳ හා සිඛවළඳවිනිස යන ග්‍රන්ථය භික්ෂූන් වහන්සේලාගේ පරිශීලනය සඳහා රචනා වී තිබේ. ධම්ම පදයෙහි එන බුද්ධ දේශනාවන්ට ගැටපද හා විවරණ සැපයීම සඳහා කරන ලද ධම්පියා අටුවා ගැටපදය ද විශේෂ ගද්‍ය ව්‍යාඛ්‍යාන කෘතියකි.

අනුරාධපුර යුගයට අයත් පැරණි ම සිංහල පද්‍ය නිර්මාණ හමු වන්නේ සීගිරි කැටපත් පවුරිනි. පළමු වන කාශ්‍යප රජුගේ වාසස්ථානය වූ සීගිරිය බැලීමට ගිය ජනතාව එහි කැටපත් පවුරේ ලියා ඇති පද්‍ය ගණන ඉතා විශාල ය. මහාචාර්ය සෙනරත් පරණවිතාන මහතා විසින් ඉන් පද්‍ය 685ක් කියවා ප්‍රකාශයට පත්කොට ඇත. ඒ තුළින් එකල ජනතාවගේ රසවින්දන හැකියාව, සිතුම් පැතුම්, සංස්කෘතිය පිළිබඳ ව කිසි යම් අවබෝධයක් ලබා ගැනීමට හැකි වේ.

## පොළොන්නරු සාහිත්‍ය යුගය

අපේ රජ දරුවන් පොළොන්නරුව මධ්‍යස්ථානය කොට ගෙන රාජ්‍ය පාලනය සිදු කළ අවධිය පොළොන්නරු යුගයයි. මෙරට සාහිත්‍ය වංශකථාවට අගනා ගද්‍ය පද්‍ය කෘති කිහිපයක් එම අවධියේ දී එක් විය.

## අමාවතුර

ගුරුළුගෝමී පඬිතුමා විසින් රචනා කරන ලද මේ කෘතිය බුදුරජාණන් වහන්සේගේ පුරිස දම්ම සාරථී ගුණය වර්ණනා කරන්නකි.

> "බුදුගුණ අනන්ත වන බැවින් නව ගුණ හැම කියත් නොපිළිවනිින් එහි පුරිස
> දම්ම සාරථී යන පදය ගෙණ ද......"

යනුවෙන් ග්‍රන්ථ ආරම්භයේ හා අවසානයේ කෙරෙන විවරණය ඒ බව තහවුරු කරයි. එතෙක් පාලි භාෂාවෙන් පැවැති දමනකථා දහ අට පිළිබඳ ව ශ්‍රාවක ජනතාවට දැන ගැනීමට හැකි වූයේ ද අමාවතුර තුළිනි.

## ධර්ම ප්‍රදීපිකාව

ගුරුළුගෝමි පඬිතුමන්ගේ විශාරද දැනුම ප්‍රකට කරන ග්‍රන්ථය ධර්ම ප්‍රදීපිකාවයි. මෙය පාලි බෝධිවංශය පදනම් කරගෙන රචනා වූවකි. එය බෝධීන් වහන්සේ වටා ගෙතුණු කතාවලින් සංගෘහිත වූවක් ලෙස ද සැලකේ. "ගුරුළු ගෝමීන් විසින් රචනා කරන ලද ධර්ම ප්‍රදීපීකාව නම් බෝධිවංශ පරිකථා නිමි" යනුවෙන් ග්‍රන්ථාවසානයේ සඳහන් ප්‍රකාශයෙන් එය පැහැදිලි වේ.

## බුත්සරණ

බුදුරජාණන් වහන්සේගේ නව අරහාදී ගුණ වර්ණනා කෙරෙන අමෘතාවහ නම් කෘතිය විද්‍යා චක්‍රවර්ති නම් පඬිවරයා විසින් රචනා කරන ලද්දකි. බුත්සරණ යන්න මෙම ග්‍රන්ථයට අතිරේක නාමයක් ලෙස යෙදී ඇත. එහි සෑම ඡේදයක ම අවසානයේ "**බුදුන් සරණ යෙමියි බුත්සරණ යායුතු**" යනුවෙන් දක්වා තිබේ. මෙම ග්‍රන්ථය බුත්සරණ නමින් හඳුන්වන ලද්දේ එම නිසා ය.

ග්‍රන්ථයේ ආරම්භක පරිච්ඡේදවලින් බුද්ධ චරිතය හා සමහර ජාතක කතා මෙන් ම නව අරහාදි බුදුගුණ හා බුදුරජාණන් වහන්සේගේ දේශනා විලාශයන් පිළිබඳ ව ද විස්තර වේ. මෙය පාලියෙහි ලියැවුණු කතා පුවත් සිංහලට නැඟීමක් ලෙසට හැඳින්විය නොහැකි ය. එක්තරා ගීතවත් බවකින් වඩාත් නිර්මාණාත්මක ව මෙම කතුවරයා සිය කෘතිය ඉදිරිපත්

කරයි. මේ එක් නිදසුනකි.

"ඒ මිහිරි රුව ඇසැ හෙත් මැ, ඒ මිහිරි හඬ කණෑ හෙත් මැ, දකුණතින් ගත් කඩුව බිම වැටී හෙනබව් නොදනැ, වමතින් ගත් පළඟය වැටී හෙනබව් නො දනැ, දෙක දෙඅතින් හෙළා ශ්‍රී පාදයෙහි වැඳ වැතිර ගොස් " දතිමි ස්වාමීනි, හැඳින්නෙමි ස්වාමීනි........" (අංගුලිමාල දමනය)

"ඇත ධූලින් වැසී ගිය ඇත්රජ යැ, මැත සවණක් සණ බුදුරැසින් සැදී ගිය බුදුරජාණෝ යැ, ඇත කෝපයෙන් රත් වැ ගිය යවට වැනි ඇස් ඇති ඇත් රජ යැ, මැත කරුණායෙන් තෙත් වැ ගිය නිල්මහනෙල් පෙති පරයන ඇස් ඇති බුදුරජාණෝ යැ ........" (නාලාගිරි දමනය)

## මුවදෙව්දාවත හා සසදාවත

සිංහලයෙන් රචනා වූ පැරණි ම ගී කාව්‍ය දෙකක් ලෙස මුවදෙව්දාවත හා සසදාවත සැලකේ. මේ කාව්‍ය දෙකට වස්තු විෂය වී ඇත්තේ මඛාදේව ජාතකය හා සස ජාතකය යි. මෙම කෘතිවල කතුවරුන් කවුරුන් ද යන වග සඳහන් නොවේ. සසදාවතට යොදා ගත් භාෂාව මුවදෙව්දාවතට යොදාගත් භාෂාව තරම් සුමට වූවක් නොවන බව විද්වතුන්ගේ අදහසයි. ගත්කතුවරුන් දෙපළ මහා කාව්‍ය සම්ප්‍රදාය අනුගමනය කර ඇතත් බෞද්ධ මුහුණුවරත්, තම ස්වාධීනතාවත් රැක ගනිමින් නිර්මාණශීලී ව කාර්යය නිම කොට ඇති බව කිව හැකි ය. බුදුගුණ වැනීමේ දුෂ්කරතාව මුවදෙව්දාවත කවියා දක්වා ඇත්තේ මෙසේ ය.

හඟිම් ද මා මෙනෙන් - ගුණ හිමියා කියන්නට
පොහොනෙම් නෙළුඹැ'සිනවුනා - පලඳුත් හොත් තුසර හර

" මා අනන්ත බුදුගුණ කියන්නට ගන්නා මෙම උත්සාහය නෙළුම් හුයකින් පිනිබිඳු අමුණා පැළඳීමට ගන්නා උත්සාහයක් වැනි ය."

## දඹදෙණි සාහිත්‍ය යුගය

ගද්‍ය පද්‍ය සාහිත්‍ය කෘති සිංහලෙන්, පාලියෙන් හා සංස්කෘතයෙන් රචනා වූ යුගයක් ලෙස මේ අවධිය සැලකේ. සාහිත්‍ය නිර්මාණකරණයේ විශාරදත්වය ප්‍රකට කළ ගිහි පැවිදි පඬිවරුන් කිහිප දෙනෙකුගේ බිහිවීම මෙම යුගයේ දී දැකගත හැකි ය. ඔවුහු සිංහල සාහිත්‍යයට ඉමහත් පෝෂණයක් දෙන උසස් නිර්මාණ රැසක් බිහිකළෝ ය.

## පූජාවලිය

නව අරහාදී බුදුගුණවල අරහං ගුණය තේමා කරගෙන පූජාවලිය රචනා කරනු ලැබුවේ මයුරපාද පිරිවෙන්පති බුද්ධපුත්‍ර හිමිපාණන් විසිනි. දෙවන පැරකුම්බා රජුගේ ඇමැතියකු වූ දේවප්‍රතිරාජගේ ආරාධනාවෙන් මෙය නිමවන ලද බව සඳහන් වෙයි. පරිච්ඡේද 34 ක් ඇති මෙහි ගෞතම බුදුරජාණන් වහන්සේ සුමේධ තාපස අවධියේ දී දීපංකර බුදුරජාණන් වහන්සේගෙන් නියත විවරණ ගැනීමේ සිට පරිනිර්වාණය තෙක් වූ බුද්ධ චරිතය 32 වන පරිච්ඡේදය දක්වා ඉදිරිපත් කෙරේ. පරිච්ඡේද 33-.34 හි ලංකාවේ ඉතිහාසය II වන

පැරකුම්බා රාජ්‍ය සමය දක්වා විස්තර වේ. පොදු ජනතාවට ගැළපෙන බස් වහරක් යොදා ගෙන අසන්නන්ගේ ශ්‍රද්ධා භක්තිය වර්ධනය කෙරෙන අයුරින් කතා වස්තු රචනා වී ඇත. බුදුරජාණන් වහන්සේට සිදු කරන පූජාවන් රැසක් පිළිබඳ ව මෙහි විස්තර වීම නිසා පූජාවලිය යන නම යෙදූ බව ද පෙනේ.

## සද්ධර්ම රත්නාවලිය

''සද්ධර්මය නමැති මිණිකැට ඇමිණූ මාලය'' යන අරුත ගෙනෙන සද්ධර්ම රත්නාවලිය ධර්මසේන නම් හිමියන්ගේ නිර්මාණයකි. පාලි ධම්මපදට්ඨ කතාව ඇසුරු කරගෙන රචනා වුව ද එය කිසි විටකත් පදානුගත පරිවර්තනයක් නොවේ. සද්ධර්ම රත්නාවලිය පොදු බෞද්ධ මහජනයාගේ අභිලාෂයන් උදෙසා ම රචනා කළ බව ග්‍රන්ථාරම්භයේ දී සඳහන් පාඨයෙන් පැහැදිලියි.

''එසේ හෙයින් යම් කෙනෙක් නුවණ මඳවත් කුසලච්ඡන්දය ඇති ව ධර්මාභියෝගයට උපදෙස් ලදිත් බණ දහ පින්කම් හැසිර නිවන් සාදාගනිත්නම් එසේ වූ සත් පුරුෂයින්ට වැඩ සඳහා සද්ධර්ම රත්නාවලී නම් ග්‍රන්ථයක් කරම් හ.'' ග්‍රන්ථයේ අන්තර්ගත සෑම කතා වස්තුවකින් ම එම අරමුණ පිළිබිඹු වේ.

මෙහි දී ගැමි වහරට සමීප වූ උපමා උපමේයයන් බහුල ලෙස යොදා ගැනීමත්, චරිත නිරූපණයෙහි හා අවස්ථා නිරූපණයෙහි දක් වූ සාමර්ථ්‍යයත් ඉතා වැදගත් ය. චුල්ලතිස්ස කතා වස්තුවේ චුල්ලතිස්ස හිමියන් වයස්ගත ව පැවිදි වීම නිසා මාර්ග ඵල ලබා ගැනීමට නොහැකි වූ අයුරු ගැමි ජීවිතයට වඩාත් ළංවෙමින් උපමානුසාරයෙන් දක්වූයේ ''ගොයම් කළ මනා වක තබා පියා කල් පසු කොට කරන ගොයමක් සේ'' යනුවෙනි. මෙබඳු උපමා උපමේයයන් රැසක් ග්‍රන්ථය පුරා ම දක ගත හැකි ය. මේ ආකාරයට ගැමි ජනයාට වඩාත් සමීප වහරින් එන කතාන්තර රීතිය ද යොදා ගැනීම උන් වහන්සේට ම ආවේණික වූවකි. සෑම කතාවක් ආරම්භයේ දී ම එම කතාව ඉදිරිපත් කිරීමේ අරමුණත් අවසානයේ ඉන් උගත යුතු පාඩමත් විස්තර වීමෙන් එය පැහැදිලි වේ.

''ගැමි හදවත් හඳුනාගත් ධර්මසේන හිමියෝ සද්ධර්ම රත්නාවලියෙන් ගැමියන්ට බණ කීහ. සද්ධර්ම රත්නාවලියේ කතා දඹදිව උපන් කතා වුව ද ඒවා මෙරට උපන් කතා පරිද්දෙන් හැඩ ගැස්සීමට ධර්මසේන හිමියන්ට හැකි වූයේ ගැමි ජීවිතයෙන් ලද අත්දැකීම් ඒවාට කැවීම හේතුකොට ගෙන ය. ගැමි හදවත්වලට ඒවා බෙහෙවින් ආසන්න විය. සද්ධර්ම රත්නාවලියේ පිටු අතරින් මතුවන්නේ පුස්කොළ පොත් සුවඳ නොව ගැමි ජීවිතයේ සුවඳ යි.''

(මාර්ටින් වික්‍රමසිංහ)

### දහම් සරණ

බුත්සරණ රචනා ශෛලියට අනුගත ව යමින් දහම් සරණ ද රචනා වී ඇත. **බුදුන් සරණ යෙමි යි බුත්සරණ යා යුතු** යනුවෙන් බුත්සරණයෙහි නිතර සඳහන් වන පරිදි ම මෙහි දී

දහම් සරණ යා යුතු යන්න නිතර භාවිත වීම මේ නම ඇති වීමට හේතු වී ඇත. කතුවරයා කවුරුන් ද යන වග නිශ්චිත ව දක්විය නොහැකි ය. ඇතැම් අය විද්‍යාචක්‍රවර්තීන් ම මෙය ද රචනා කළ බව දක්වීමට උත්සාහ ගත්ත ද එහි ඇතුළත් භාෂා රීතීන්ට අනුව එය සාවද්‍ය මතයක් බව සැලකේ. සංස්කෘත වචන බහුල ව විශුද්ධි මාර්ගයේ දක්වෙන ධම්මානුස්සතිය පදනම් කොට ගෙන දහම් සරණ ලියැවී ඇති බව විද්වත් මතය වේ.

## සඟ සරණ

තිසරණ පොත් පෙළේ තෙවැන්න සඟ සරණයි. මෙය ද විද්‍යාචක්‍රවර්තීන්ගේ කෘතියක් ලෙස දක්වීමට ඇතැමුන් උත්සාහ ගත්ත ද බොහෝ විද්වත්තු එය ද ප්‍රතික්ෂේප කරති. සංඝරත්නය කෙබඳු ගුණ ඇති උතුම් පිරිසක් ද යන වග ජනතාවට ඉතා කෙටියෙන් පැහැදිලි කර දීම මෙම කෘතියෙහි තේමාව වී ඇත. ත්‍රිපිටක අට්ඨකථාවලින් සහ විශුද්ධි මාර්ගයෙන් ලබා ගත් තොරතුරු මෙහි ඇතුළත් වෙයි. ඒ නිසා අටුවා කතා හෙළ බසින් කීමට ගත් උත්සාහයක් ලෙස ද මෙය හැඳින්විය හැකි ය.

## කව්සිළුමිණ

භාරතීය අලංකාර ශාස්ත්‍රය පදනම් කරගෙන නිර්මාණය වූ සිංහලයේ විශිෂ්ටතම මහා කාව්‍යය කව්සිළුමිණයි. කුසදා කව ලෙසින් හැඳින්වුණු මෙය 'කව්සිළුමිණ' ලෙස ප්‍රකට වූයේ හෙළ කව්ලොවේ වටිනාම කාව්‍යය වූ නිසා ය. මෙහි කතුවරයා දඹදෙණියේ රජකම් කළ දෙවන පැරකුම්බා නිරිඳුන් ය. ග්‍රන්ථය රචනා කිරීමට තේමා කරගෙන ඇත්තේ කුස ජාතකයයි. මේඝදූතය වැනි සංස්කෘත මහා කාව්‍යයක අන්තර්ගත සර්ග බන්ධන ආදී කාව්‍ය රීති භාවිතයට ගනිමින් ශෘංගාර රසය දනවන ලෙස රචනා වී ඇති මෙය සර්ග 15 කින් හා ගී 770 න් යුක්ත වේ. එකල කව්සිළුමිණ ඉගෙනීම උගතෙකු වීමේ මගක් ලෙස සැලකිණ.

"කව්සිළුමිණ අපේ පැරණි සාහිත්‍යයේ එක ම මහා කව වීම නිසා සිංහල සාහිත්‍ය ඉතිහාසයේ ඊට හිමි තැන ද අනිත් කිසි ම සිංහල කවි පොතකට නැති තරමින් ඉහළට ගොස් තිබේ. උගතකුට මහත් ආදරයකින් ද මහත් කැමැත්තකින් ද ඕනෑ තරමට කව්සිළුමිණට හරසර දක්වීමට පුළුවන්කම තිබීම එහි විශේෂ ලක්ෂණයකි. ගත්කරුත්, පොතේ වස්තුවත්, එහි වැනුමුත්, ඇතුළත් කළ දේත්, කාව්‍ය රසයත්, උපදේශයත් යන මේ සියලු අංගෝපාංගයන්ගෙන් අඩුවක් නොතිබීම කව්සිළුමිණට ඒ විශේෂ ලක්ෂණය ගෙන දීමට හේතු වී ඇත."

(සිංහල සාහිත්‍ය වංශය -
පුංචිබණ්ඩාර සන්නස්ගල)

මෙතෙක් අපගේ වර්ණනයට ලක් වූ සාහිත්‍ය කෘති අද දක්වා පැවතුණේ එදා බොහෝ දෙනා ඒවා පරිශීලනය කිරීමට යොමු වීම නිසා ය. මෙරට පැරණි ජන සමාජය තුළ පැවති ආගමික, ආර්ථික, දේශපාලන පරිසරය පිළිබඳවත්, භාෂා භාවිතය පිළිබඳවත් වත්මන් සමාජයට දැන ගැනීමට මේ තුළින් හැකියාව ලැබේ. අනාගත පරපුරට මේවායේ ඇති වැදගත්කම කියා දීමේ වගකීම පැවරෙනුයේ අපට ය. විවේක ලද සෑම විටක ම නිකරුණේ කාලය ගත නොකොට මෙබඳු සම්භාව්‍ය ගද්‍ය පද්‍ය සාහිත්‍ය කෘති කියවීමට පෙළඹීමෙන් අපට එම කෘති පිළිබඳ දැනුමක් ද මනා රසාස්වාදයක් ද ලබා ගත හැකි ය.

## සාරාංශය



අනුරාධපුර යුගයේ සිට දඹදෙණි යුගය තෙක් රචනා වූ ගද්‍ය පද්‍ය සිංහල බෞද්ධ සාහිත්‍ය කෘති රැසක් අපට උරුම ව ඇත. අනුරාධපුර යුගයේ රචනා වූ කෘතිවලින් බොහොමයක් අවිද්‍යමාන වන අතර සෙසු යුග දෙකෙහි රචිත සාහිත්‍ය කෘති බොහොමයක් ම අද දක්වා දක්නට ලැබේ. බුද්ධ චරිතය හා බෝසත් සිරිත මේ නිර්මාණ සඳහා තේමා වූ බව පැහැදිලි ය. සිංහල බෞද්ධ සාහිත්‍ය පෝෂණයට වඩාත් දායක වූ ග්‍රන්ථ කිහිපයක් පමණක් මෙහි දී හඳුන්වා දෙන ලදි. මේ සාහිත්‍ය කෘති පරිශීලනය තුළින් එදා ආගමික, සාමාජික, දේශපාලන තොරතුරු මෙන් ම තවත් බොහෝ ඉතිහාසගත කරුණු පිළිබඳ ව ද දැනුම ලබා ගැනීමට හැකි වේ. එසේ ම රසවින්දන හැකියාව වර්ධනය කර ගැනීමට ද අවකාශ සැලසෙයි.

## ක්‍රියාකාරකම



1. බුද්ධ චරිතය පදනම් කරගෙන පොළොන්නරු යුගයේ රචිත සාහිත්‍ය කෘති හතරක් හා ඒවායේ කර්තෘවරුන් නම් කරන්න.
2. දඹදෙණි යුගයේ සාහිත්‍ය නිර්මාණකරණයට දායක වූ ගිහි පැවිදි පඬිවරුන් දෙදෙනෙකු නම් කර ඒ උතුමන්ගේ නිර්මාණ හඳුන්වා දෙන්න.

## පැවරුම



සද්ධර්ම රත්නාවලියේ එක් කථාවස්තුවක් තෝරාගෙන එහි එන උපමා උද්ධෘත කර දක්වන්න.

22

# රාජ්‍ය පාලනය පිළිබඳ බෞද්ධ ඉගැන්වීම්

කවර පුද්ගලයකුට වුව ද කුමන සමාජයකට වුව ද නිරවුල් සාමකාමී සුඛිත මුදිත ජීවිතයක් ගත කිරීමට උපකාරී වන කරුණු රැසකි. සමාජය තුළ සියලු සමාජිකයින්ට හිතකර වූ පාලනයක් තිබීම ඒ අතුරින් ඉතා වැදගත් කරුණක් වේ. බුදු දහම හුදෙක් පුද්ගලයාගේ හා සමාජයේ සදාචාර සංවර්ධනය, ආධ්‍යාත්මික දියුණුව වැනි කරුණු ගැන පමණක් අවධානය යොමු කරන්නක් නොවේ. පරලොව මෙන් ම මෙලොව යහපැවැත්ම ද බුදු දහම අගය කරයි. දැහැමි සමාජයක් ඇති කර ගැනීමටත් දෙලොව යහපත් ජීවිතයක් ළඟාකර ගැනීමටත් සමාජයක හොඳ දේශපාලන පරිසරයක් තිබිය යුතු ය යන්න බුදු දහම පිළිගනියි.

## දස සක්විතිවත්

කිසි යම් රාජ්‍යයක යහපාලනයක් පවත්වාගෙන යාමට උපකාරී වන රාජ්‍ය පරිපාලන ප්‍රතිපත්ති රැසක් බුදු දහමේ හමු වේ. දස සක්විතිවත් ඒ අතර වැදගත් තැනක් ගනී. එම රාජ්‍ය පාලන පිළිවෙත් දහය දීඝ නිකායේ චක්කවත්තී සීහනාද සූත්‍රයේ දැක්වෙන්නේ එක්තරා ප්‍රවාද කතාවක් වශයෙනි. ඒ අනුව අතීතයේ 'දල්හනේමි' නම් සක්විති රජ කෙනෙකු වාසය කර ඇත. ඔහු ධාර්මික ව රට පාලනය කළ බැවින් සප්තරත්නය නමින් වටිනා සම්පත් හතක් පහළ විය. එහි පළමු වැන්න චක්‍රරත්නයයි. එය රාජ්‍යත්වයේ සංකේතයයි. දිගු කලක් ධාර්මික ව එම රජතෙමේ රට පාලනය කිරීමෙන් අනතුරුව තම වැඩිමහල් පුතුට රජකම පවරා තපසට ගියේ ය. ගැටලුවක් ඇති වුව හොත් තමා විමසන ලෙස ද ඔහු තම පුතුට පැවසී ය.

පුත්‍රයා රාජ්‍ය පාලනය කරන වකවානුවේ ටික කලකින් චක්‍රරත්නය අතුරුදහන් විය. ඔහු මේ බව පිය රජතුමා හමු වී දන්වා සිටියේ ය. එවිට එතුමා තම පුත්‍රයා අමතා ''දරුව මෙම සක්විති රජකම ඔබට පිය උරුමයෙන් හිමි වන්නක් නොවේ. ඒ සඳහා නිසි පිළිවෙත් පුරා සුදුස්සෙකු විය යුතු ය. පුන් පොහෝ දිනෙක මෙම රාජ්‍ය පාලන ප්‍රතිපත්ති දහය සමාදන් ව එය රැකීමට යොමු වන්න. එවිට එම සම්පත් නැවත හිමි වේ.'' යනුවෙන් පවසා එම සක්විතිවත් දහය දක්වා ඇත.

**ඔබ ධර්මය ඇසුරු කරමින්, ධර්මයට ගරු කරමින්, ධර්මයට බුහුමන් කරමින්, ධර්මය පුදමින්, ධර්මයට යටහත් පැවැතුම් දක්වමින්, ධර්මය ධජයක් සේ පෙරටු කොට, ධර්මය කූන්තයක් සේ ඔසවාගෙන, ධර්මය ස්වාමියා ලෙස ගෙන,**

01. ඔබගේ අඹුදරුවන් ඇතුළු රජ පවුලේ පිරිසට ධාර්මික රැකවරණය සලසන්න.

02. රට රකින බළ සෙනඟට ධාර්මික රැකවරණය සලසන්න.

03. රාජ්‍ය සේවයේ නියුතු විවිධ තනතුරු දරන ක්ෂත්‍රිය පිරිසට ධාර්මික රැකවරණය සලසන්න.

04. කෘෂි කර්මාන්තය ආදී නිෂ්පාදන කටයුතුවල නිරත බ්‍රාහ්මණ ගෘහපතීන්ට ධාර්මික රැකවරණය සලසන්න.

05. කුඩා ගම්වල වැසියනට හා ජනපද වාසීන්ට ද ධාර්මික රැකවරණය සලසන්න.

06. ජනතාවගේ සදාචාර සංවර්ධනයට මග පෙන්වන ශ්‍රමණ බ්‍රාහ්මණ පිරිස්වලට ධාර්මික රැකවරණය සලසන්න.

07. තිරිසනුන්ට හා පක්ෂීන්ට ධාර්මික රැකවරණය සලසන්න.

08. රටේ අධාර්මික ක්‍රියා ඇති නොවන අයුරින් කටයුතු කරන්න.

09. දිළිඳු ජනයාට ධනය දෙන්න.

10. සිල්වත්, ගුණවත්, වියත් මහණ බමුණන්ගෙන් අවවාද අනුශාසනා ලබා ගනිමින් රට පාලනය කරන්න.

දස සක්විතිවත් සමස්තයක් වශයෙන් ගත් කල බෞද්ධ රාජ්‍ය පාලනයකින් අපේක්ෂා කරන වැදගත් කරුණු කිහිපයක් ඇති බව පැහැදිලි වේ.

01. ධාර්මික රාජ්‍ය පාලනය
02. මිනිස් තිරිසන් ආදී සෑම කොටසකට ම ආරක්ෂාව ලබා දීම
03. නීතිය ක්‍රියාත්මක කරමින් නීති විරෝධී අධාර්මික ක්‍රියා වැළැක්වීම
04. සුදුසු පුද්ගලයන්ගෙන් උපදෙස් ලබා ගැනීම

ධාර්මිකත්වය කවර කාර්යයක දී වුව ද අර්ථවත් විය යුතු බව බුදු දහම උගන්වයි. විශේෂයෙන් ම රාජ්‍ය පාලකයෙකු දැහැමි විය යුතු ය. ඔවුන් අදැහැමි වූ කල ඇමැතිවරුන් නිලදරුවන් වැන්නෝ ද නිගම ජනපද වාසීහු ද අදැහැමි වෙති. එයින් පරිසරය පවා විකෘති වී බොහෝ අවැඩ සිදු වන බව දහමෙහි පෙන්වා දී තිබේ. බුදු දහමට අනුව මහජනයා විසින් පළමු පාලකයා පත් කරන ලද්දේ ද ධාර්මික පාලනයක් අපේක්ෂාවෙනි. දැහැමි ව කටයුතු කිරීම බෞද්ධයන් වන අප කවුරුන් විසිනුත් අමතක නොකළ යුත්තකි.

තිරිසන් ගත සත්ත්වයෝ ද ජීව ලෝකයට අයත් වෙති. බුදු දහම අනුව සියලු ජීවීන්ට මෙත් වැඩිය යුතු ය; සෙත් පැතිය යුතු ය. කවර ජීවියකුට වුව ද හිංසා පීඩා නොකළ යුතු ය. රජුන් විසින් ද එය එසේ ම කළ යුතු බව බුදු දහමෙහි පෙන්වා දෙයි. මෙහි දී මිනිස් ජීවිත මෙන් ම තිරිසන් ජීවිත ගැන ද උනන්දු වී තිබීම ඉතා වැදගත් ය. සිසුන් වන අප ද එය අනුගමනය කිරීම බෙහෙවින් වැදගත් වේ.

රටක ජන ජීවිතය සුඛිත මුදිත වීමට නම් නීති විරෝධී සාපරාධී ක්‍රියා නොතිබිය යුතු ය. නිසි ලෙස නීතිය ක්‍රියාවට නඟමින් යුක්තිය ඉටු කිරීමෙන් සාමය තහවුරු කරමින් පාලනය කිරීම රජුගේ වගකීමයි. සාපරාධී ක්‍රියා නොකොට නීතිගරුක ව ධාර්මික ව ජීවත් වීමට පාසල් දරුවන් වන අප ද වග බලා ගත යුතු ය.

දිළිඳුකම බොහෝ සාපරාධී ක්‍රියාවන්ට මිනිසුන් පොළඹවන බව මෙම සූත්‍රයේ ම සඳහන් වේ. සොරකම, බොරු කීම, මනුෂ්‍ය ඝාතනය ආදී සමාජ විරෝධී ක්‍රියා මුළුමනින් ම පාලනය කිරීමට නම් ඒවාට තුඩු දී ඇති හේතු නැති කළ යුතු ය. ඒ අනුව සමාජය තුළ සුරක්ෂිත ආර්ථික තත්ත්වයක් ගොඩනැගීම රජුගේ වගකීමයි. පාසල් සිසුන් වන අප ද අප සතු සම්පත් රැක ගනිමින් මතු දියුණුවට සම්පත් රැස් කිරීමට පුරුදු විය යුතු ය.

රාජ්‍ය පාලකයා අත්තනෝමතික ව ක්‍රියා කරන ඒකාධිපතියෙකු නොවිය යුතු බව බුදු දහමේ නොයෙක් විට දක්වා තිබේ. ඔහු අනුන්ට සවන් දිය යුතු ය. විශේෂයෙන් ම සමාජයෙහි ජීවත් වන ගුණවත්, වියත් උතුමන්ගේ උපදෙස් ලබා ගනිමින් රාජ්‍ය පාලනය කළ යුතු ය. එවිට වඩාත් සාර්ථක හා ඵලදායී පාලනයක් ඔහුට ක්‍රියාත්මක කළ හැකි වේ. කුඩා දරුවන් වන අප ද එම ආදර්ශ අනුව ගුණ නුවණ ඇති වැඩිහිටියන්ගේ අවවාද අනුශාසනා ලබා ගෙන ජීවිතය සාර්ථක කර ගත හොත් අනාගතයේ දැහැමි පාලනයට දායක විය හැකි වේ.

## සප්ත අපරිහානීය ධර්ම

බුද්ධ කාලීන භාරතයේ ප්‍රධාන පාලන ක්‍රම දෙකක් පැවතිණි. රාජාණ්ඩු ක්‍රමය ඉන් එකකි. සමූහාණ්ඩු පාලනය හෙවත් ගණතන්ත්‍ර පාලනය අනෙකයි. එවකට වජ්ජි රජදරුවන් විසින් එබඳු ගණතන්ත්‍ර පාලනයක් ක්‍රියාත්මක කළ බව සඳහන් වේ. ඔවුන්ගේ අභිවෘද්ධිය ඇති කළ, පිරිහීම වැළැක්වූ එම පාලන ක්‍රමය ප්‍රතිපත්ති හතකින් යුක්ත විය. ඒවා ඔවුන් ඉගෙන ගත්තේ බුදුරජාණන් වහන්සේගෙනි.

01. නිතර නිතර රැස්වීම
02. සමගි ව රැස් ව, සමගි ව සාකච්ඡා කොට, සමගිව විසිර යාම
03. පෙර නොපැනවූ නීති, නොපැනවීම හා පනවන ලද නීති කඩ නොකොට ආරක්ෂා කිරීම
04. වැඩිහිටියන්ට හා ඔවුන්ගේ අදහස්වලට ගරු කිරීම
05. කාන්තාවන්ට ආරක්ෂාව සැලසීම
06. වජ්ජි රාජ්‍යය ඇතුළත හා පිටත පූජනීය ස්ථාන ආරක්ෂා කිරීම හා කඩ නොකොට පුදසිරිත් පැවැත්වීම
07. තම රාජ්‍යයට පැමිණි හා පැමිණෙන පූජනීය උතුමන්ට පහසුකම් සැලසීම

ඉහත සඳහන් කළ සප්ත අපරිහානීය ධර්ම දස සක්විතිවත්වල අවධාරණය නොවන වැදගත් පාලන ප්‍රතිපත්ති කීපයක් උගන්වයි.

1. රාජ්‍ය පාලකයින් සමගි ව ක්‍රියා කළ යුතුයි.
2. නීතිය නිසි ලෙස ආරක්ෂා කළ යුතුයි.
3. කාන්තාවන්ට ආරක්ෂාව සැලසිය යුතුයි.
4. පූජනීය ස්ථාන ආරක්ෂා කරමින් එම උතුමන්ට පහසුකම් සැලසිය යුතුයි.

නිතර රැස්වීමත්, සමගි ව රැස්වීමත් සාමූහික පාලනයේ දී ඉතා වැදගත් වේ. එහි දී බහුතරයකගේ අදහස් පිළිබඳ ව අවධානය යොමු කළ හැකි ය. වැඩි දෙනෙකුට සවන් දිය හැකි ය. එයින් පාලකයා අත්තනෝමතික ව ක්‍රියා කරන ඒකාධිපතිවරයෙකු වීම වැළකේ. ඔහු වඩාත් ප්‍රජාතන්ත්‍රවාදී වෙයි. මහජනයාට මුහුණ පෑමට සිදු වන ප්‍රශ්න නිතර සාකච්ඡා කොට සමගි ව වැඩ කළ හැකි ය. නිතර එක්රැස් වී සාකච්ඡා කොට වැඩ කිරීම ද අගනේ ය.

රටක නීතිය හැම අතින් ම රට වැසියන්ගේ යහපත ඇති කරවන්නක් විය යුතු ය. සාමූහික ව සම්මත කර ගත් නීති පද්ධතිය තනි තනි ව වෙනස් නොකර කටයුතු කිරීම සමගියට මෙන් ම ප්‍රගතියට ද හේතු වෙයි. නීතිය මහජනයා සඳහා ය, මහජනයා නීතිය සඳහා නොවෙයි යන අවබෝධයෙන් රජු ක්‍රියා කළ යුතු ය. දරුවන් වන අප ද නීති කඩ නොකොට නීති ගරුක ව පොදු ධාර්මික තීරණවලට එකඟ ව ක්‍රියා කිරීමට පුරුදු වීම අවශ්‍ය වේ.

කාන්තාවෝ සමාජයක ඉතා වැදගත් තැනක් ගනිති. මවුවරුන් ලෙස ඔවුහු දරුවන් බිහි කොට ඇතිදැඩි කරමින් සමාජය ගොඩනගති. ගෘහණියක් ලෙස සමාජයේ කුඩා ම ඒකකය වූ පවුලත්, ගෘහයත් රැක බලා ගනිති. ඔවුන්ට විශේෂ ආරක්ෂාවක් සැලසීම හා ඔවුන්ගේ අභිවෘද්ධියට අවශ්‍ය පියවර ගැනීම ද ලෝකයේ දියුණු පාලන ක්‍රමවල ඉතා වැදගත්කොට සැලකේ. පාසල් දරුවන් වන අප ද එය ආදර්ශයට ගෙන ක්‍රියා කළ යුතු ය.

ආගම, සංස්කෘතිය හා සාරධර්ම රක්ෂණය හා පෝෂණය කිරීම සඳහා ක්‍රියා කරන්නේ සමාජයක පූජ්‍ය පක්ෂයයි. පූජනීය ස්ථාන ඊට අදාළ ආයතන වේ. පාලකයෙකු විසින් එසේ අත්‍යවශ්‍ය මෙහෙවරක යෙදෙන පූජනීය උතුමන් හා පූජනීය ස්ථාන රක්ෂණය, පෝෂණය කරමින් එම මෙහෙවරට අනුග්‍රහ දැක්විය යුතු වෙයි. එය හැම අතින් ම සමාජයක යහපැවැත්මට මහෝපකාරී වේ. පූජනීය ස්ථාන හා පූජ්‍ය උතුමන්ට ගරු සත්කාර කරමින් ක්‍රියා කිරීම කුඩා කල සිට ම පුරුදු පුහුණු විය යුත්තකි.

## සතර සංග්‍රහ වස්තු

සමාජයක කවර තරාතිරමක පුද්ගලයෙකු තුළ වුව ද ක්‍රියාත්මක වශයෙන් තිබිය යුතු පිළිවෙත් හතරක් සතර සංග්‍රහ වස්තු නමින් හැඳින්වෙයි. **දානය, ප්‍රිය වචනය, අර්ථචර්යාව, සමානාත්මතාව** යනුවෙන් දැක්වෙන්නේ එම සතරයි. මෙම පිළිවෙත් විශේෂයෙන් ම නායකත්වය දරන්නෙකු තුළ තිබිය යුතු ය.

සතර සංග්‍රහ වස්තු හෙවත් සිව් සඟරාවත්වල පළමු ව දක්වෙන **දානය** යනු හුදෙක් ආගමික කටයුත්තක් පමණක් නොවේ. පාලකයා විසින් රටේ ජනතාවගේ ආර්ථික අභිවෘද්ධිය උදා කරලීමේ අරමුණින් ප්‍රාග්ධනය සැපයීම ද ඊට ඇතුළත් ය. එනම් ගොවිතැන් කරන පිරිසට අදාළ භූමිය, බිත්තර වී, පොහොර, ජලය ආදිය ලබා දීමයි. වෙළෙඳාමේ යෙදෙන අයට වෙළෙඳපොළ හා ප්‍රාග්ධනය ලබා දීමත්, රාජ්‍ය සේවයේ හෝ වෙනත් සේවාවන් සපයන පිරිස් සඳහා නිසි ලෙස බත් වැටුප් ලබා දීමත් දානයට ඇතුළත් වේ. එලෙස පාලකයා ජනතාව කෙරෙහි වගකීමෙන් කටයුතු කරන විට ජනතාව ද වගවීමෙන් යුතු ව ක්‍රියා කරමින් සොරකමින්, වංචාවෙන්, දූෂණයෙන්, ප්‍රාණඝාතයෙන් තොර ව කටයුතු කිරීමට පෙළඹෙයි. එය පුද්ගලයාගේ ලෞකික අභිවෘද්ධිය උදාකරන අතර පරලොව යහපත ද ඇති කරන්නක් වේ.

**ප්‍රිය වචන** යනු යහපත් වචනයි. එනම් වචනයෙන් සිදු වන වැරැදි හතරෙන් තොර ව කතාබස් කිරීමයි. බොරුව, කේලම, හිස් වචන හා රළු වචනයෙන් වැළකී ප්‍රිය වචන භාවිත කිරීමයි. ආදරයෙන්, ගෞරවයෙන් හා කනට මිහිරි වදනින් කතා කරනු ඇසීමට අප කවුරුත් කැමැති ය. මිනිසුන් පමණක් නොව තිරිසන් සතුන් ද මිහිරි වචනයට කැමැති බව නන්දිවිසාල ජාතකයෙන් ද පැහැදිලි වෙයි. එය අපගේ ද අත්දැකීමකි. වචනයට අසීමිත බලයක් ඇත. නායකයකු එය භාවිත කළ යුත්තේ ජනතාවගේ යහපත සඳහා ය. පාලකයා බොරුවෙන් තමා මුලාකරනවාට ජනතාව කිසි විටෙකත් කැමති නැත. එබැවින් පාලකයා ප්‍රජාවට සත්‍ය ප්‍රකාශ කිරීමත්, ඔවුන් භේද කිරීමෙන් වැළකී සමගිය දියුණු කිරීමත්, අර්ථවත් දේ කතා කිරීමත්, කනට මිහිරි ප්‍රියශීලී කතාබස් ඇති බවත් යහපත් පාලනයක් සඳහා අවශ්‍ය ය.

**අර්ථචර්යාව** යනුවෙන් අදහස් කෙරෙන්නේ අනුන්ගේ යහපත හා අනුන්ගේ දියුණුව පිණිස කටයුතු කිරීමයි. සැබෑ පාලකයෙකුට ජනතා සේවය හැර වෙනත් අරමුණක් තිබිය නොහැකි ය. එය ඔහුගේ පරම යුතුකම වේ. පාලකයා යැපෙන්නේ ජනතාවගේ බදු මුදල්වලින් නිසා දවසේ මුළු කාලය ම සේවය සඳහා කැප කළ යුතු ය. **මෙත්තා, කරුණා, මුදිතා, උපේක්ඛා** යන **සිව් බඹවිහරණ** නම් වූ ගුණ ධර්මවලින් හදවත පුරවා ගත් පාලකයෙකුට ජනතාවට අර්ථවත් සේවාවක් කිරීම කිසි විටෙකත් අපහසු කරුණක් නොවේ. මේ තුළින් සියලු රට වැසියන් තමන්ගේ දරුවන් ලෙස සිතා කටයුතු කිරීමේ උතුම් මනෝභාවයක් ගොඩනැගේ. එවිට පියපුතු සබඳතාවෙන් යුතු ව ජනතාවට සේවය කිරීමේ අවස්ථාව පාලකයාට උදා වේ.

රටක ජනතාව විවිධ කුල, ජාති, ආගම්, භාෂා අනුව වර්ග වී සිටිය ද ඒ සියලු දෙනා කෙරෙහි සම සිතින් කටයුතු කිරීම **සමානාත්මතා** ලක්ෂණයයි. පාලකයෙකු සතු මේ උතුම් ගුණාංග නිසා රට වැසියාගේ අයිතිවාසිකම් හා නිදහස සමාන අයුරින් සුරක්ෂිත වේ. සමාජයේ සියල්ලන්ගේ යහපත හා අභිවෘද්ධිය ද සමාන ව සැලසේ. ශිෂ්‍ය නායක, පන්ති නායක, නිවාස නායක, ක්‍රීඩා කණ්ඩායම් නායක ආදී තනතුරක් අපට ලැබුණහොත් මේ සමානාත්මතා ගුණයෙන් යුක්ත වීමට අප වග බලා ගත යුතු ය.

## සතර අගතියෙන් තොරවීම

අගතිය යනු නීතියට, යුක්තියට, ධර්මයට පටහැනි ව ක්‍රියා කිරීමයි, එසේ කිරීමට පාලකයා පොළඹවන කරුණු හතරකි, **ඡන්ද, ද්වේශ, භය හා මෝහ** යනුවෙන් දක්වා තිබෙන්නේ. මෙම සතර අගතියට යන්නාගේ යසස අවපක්ෂයේ සඳ මෙන් පිරිහෙන බව ද අගතියට නොයන තැනැත්තාගේ යසස පුර පක්ෂයේ සඳ මෙන් වැඩෙන බව ද බුදුරජාණන් වහන්සේ වදාළහ. එය අප සැමට අදාළ වන්නකි. රාජ්‍ය පාලකයකු සතර අගතියෙන් තොරවීම සුවිශේෂ වේ.

**ඡන්දය** යනු කැමැත්තයි. අගතිගාමී වීම යනු තමන්ගේකම, නෑදෑකම, හිතවත්කම, පාක්ෂිකත්වය ආදිය නිසා අයුතු වැඩ කිරීම ය. යුක්තිය හා සාධාරණත්වය ඉටු වන ලෙස ක්‍රියා කිරීමෙන් අගතිගාමීත්වය වළකී. රාජ්‍ය පාලනයේ දී පෞද්ගලික රුචි අරුචිකම් නොසලකා ක්‍රියා කිරීම පාලකයකුගේ වගකීමයි.

**ද්වේශය** යනු විරුද්ධවාදී සිතුවිල්ලකි. තමන්ගේ නොවන තමන්ට විරුද්ධ, තම පක්ෂයේ නොවන අයට අසාධාරණකම් කරන්නේ නම් එය ද්වේශයෙන් අගතියට යෑමකි. ද්වේශයෙන් දූෂිත වූ පාලකයෙකුට යුක්තිය හෝ අයුක්තිය, සුදුසුකම් හා නුසුදුසුකම්, සාරධර්ම හෝ අසාරධර්ම නොපෙනේ. නිරතුරු ව ද්වේශයෙන් යුතු ව කටයුතු කරන පාලකයකුට මධ්‍යස්ථ ව නිවැරැදි ව තීරණවලට එළඹිය නොහැකි ය.

කිසි යම් පුද්ගලයකු හෝ සංවිධාන පිළිබඳ ව ඇති භය නිසා අගතියට ගොස් ක්‍රියා නොකිරීමට පාලකයකු වගබලා ගත යුතු ය. එසේ බිය මුල් කරගෙන ක්‍රියා කිරීම රට වැසියාට නිසැක ව ම හානිදායක වේ. බිය නිසා, ජනතාවට අහිතකර වැරැදි තීරණවලට පාලකයකු එළඹිය හැකි ය.

**මෝහය** හෙවත් මුලාව ද අගතිගාමී ව ක්‍රියා කිරීමට පාලකයා පොළඹවයි. මෝහයෙන් අගතිගාමී වූ පාලකයෙකුට යුක්තිය හා අයුක්තිය, හොඳ නරක තෝරා බේරා ගැනීමට නොහැකි වේ. එසේ තෝරා බේරා ගැනීමට නම් පාලකයාට තීක්ෂණ බුද්ධියක් තිබිය යුතු ය. සමාජය තුළ නීතිය හා සාමය නිසි ලෙස ක්‍රියාවට නැංවිය හැක්කේ ද මෝහයෙන් අගතියට නොයන බුද්ධිමත් ව කටයුතු කරන පාලකයකුට පමණි.

මේ ආකාරයට ධාර්මික රාජ්‍ය පාලනයක් පවත්වා ගැනීමට බුදු දහමින් ලබා දුන් උපදේශ බුද්ධ කාලයේ ජීවත් වූ බිම්බිසාර රජු, කොසොල් රජු වැනි රාජාණ්ඩු පාලකයන් මෙන් ම වජ්ජි, මල්ල රජවරුන් වැනි සමූහාණ්ඩු පාලකයන් ද අනුගමනය කළ බව පෙනේ. එසේ ම පසුකාලීන ව ධර්මාශෝක වැනි රජවරුන් ද, ලක්දිව බොහෝ රජවරුන් ද දස සක්විතිවත්, සප්ත අපරිහානීය ධර්ම, සතර සංග්‍රහ වස්තු අනුගමනය කළ බවත්, සතර අගතියෙන් වෙන් ව ක්‍රියා කළ බවත්, ඉතිහාසයෙන් පැහැදිලි වේ. ඒ අනුව සිය රාජ්‍යයන්හි පරිහානිය වළක්වා අභිවෘද්ධිය උදා කර ගනිමින් මහජනතාවට යහපත් සේවාවක් සැපයීමට ඔවුහු සමත් වූහ. රාජ්‍ය පාලනය පිළිබඳ මෙම බෞද්ධ ඉගැන්වීම් වර්තමාන ලෝකයට ද හොඳ මග පෙන්වීමකි. බෙහෙවින් ම සමාජ හිතකාමී වූත්, ප්‍රජාතන්ත්‍රවාදී වූත්, රාජ්‍ය පාලනයක්

ක්‍රියාවට නැගීමටත් ජනතාවගේ ආර්ථික, සාමාජික, සංස්කෘතික, ආදී විවිධ පැතිවලින් අගය කළ හැකි සංවර්ධනයක් ඇති කර ගැනීමටත් මෙම මග පෙන්වීම අදට ද උපයෝගී කර ගත හැකි ය.

පාසල් ශිෂ්‍යයන් වන අපට ද බොහෝ අවස්ථාවල දී නායකත්වය ගෙන ක්‍රියා කිරීමට සිදු වේ. එබඳු අවස්ථාවන්හි දී වඩාත් හොඳින් හා කාර්යක්ෂම ව තම මෙහෙය ඉටු කිරීමට මෙම බෞද්ධ ඉගැන්වීම් උපකාරී කර ගත හැකි වෙයි.

## සාරාංශය



බුදු දහම මෙලොව, පරලොව යන උභයාර්ථය ම සාධනය කර ගැනීමට මග පෙන්වන්නකි. ඒ අනුව මෙලොව යහපත සඳහා බුදුරදුන් දේශනා කළ කරුණු අතර රාජ්‍ය පාලන ප්‍රතිපත්ති ද වැදගත් තැනක් ගනී. දස සක්විතිවත්, සප්ත අපරිහානීය ධර්ම, සතර සංග්‍රහ වස්තු හා සතර අගතියෙන් තොර වීම එම දේශපාලන ප්‍රතිපත්තිවලින් කීපයකි. ඒවා රාජ්‍ය පාලකයන්ට මෙන් ම සෙසු සමාජ නායකයින්ට ද සිය කාර්යභාරයන් සාර්ථක කර ගැනීමට උපකාරී වේ.

## ක්‍රියාකාරකම



01 දස සක්විතිවත් නම් කරන්න.

02 යහපත් නායකයෙකු වීමට සතර සංග්‍රහ වස්තුවලින් ලැබෙන පිටිවහල පැහැදිලි කරන්න.

03 පාසල් සිසුවකු වශයෙන් රාජ්‍ය පාලන ඉගැන්වීම් තුළින් ඔබට ලැබෙන ආදර්ශ පෙන්වා දෙන්න.

## පැවරුම



ඔබේ නිවසෙහි සාමකාමී සමගි සම්පන්න පවුල් පරිසරයක් ගොඩනගා ගැනීමට අදාළ ව සප්ත අපරිහානීය ධර්ම ඇසුරින් ක්‍රියාකාරී සැලැස්මක් පිළියෙල කරන්න.

# 23 ශ්‍රද්ධාව නිවන් මඟෙහි පිවිසුමයි

එක් සමයෙක භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ මේදතළුම්ප නම් ශාක්‍ය වංශිකයන්ගේ නියම් ගමෙහි වාසය කළහ. දිනක් කොසොල් රජතුමා එහි සැපත් වූයේ සපිරිවරිනි. බුදුරජාණන් වහන්සේ හමු වූ රජ තෙමේ උන්වහන්සේ සමග කළ දීර්ඝ සාකච්ඡාවේ දී හෙළි කළ එක් පුවතක මෙසේ දැක් වේ.

"ස්වාමිනී, යුද බිමෙහි සේනාව මෙහෙයවූ එක් අවස්ථාවක මම එක්තරා සම්බාධ සහිත තැනෙක රාත්‍රිය ගත කළෙමි. ඉසිදත්ත, පුරාණ නමැති වඩුවෝ දෙදෙන මා සමීපයෙහි සිටියහ. රාත්‍රියෙහි බොහෝ වේලාවක් දැහැමි කතාබහක යෙදී සිටි ඔවුන් නින්දට සූදනම් වන ආකාරය මම බලා සිටියෙමි. ඔවුහු බුදුරජාණන් වහන්සේ වැඩ සිටින දිශාවට හිස දමා මා සිටින දිශාවට පය දමා වැතිරුණෝ ය. මා දෙන බතින් යැපෙන, මා සපයන යානයෙන් ගමන් යන, මා නිසා ජීවත් වන නමුදු ඔවුහු මා කෙරෙහි ගෞරව නොදක්වා ඔබ වහන්සේ කෙරෙහි ම ගෞරව දැක්වූහ".

කොසොල් රජතුමා හෙළි කළ මෙම සිදුවීම තුළ අපට හමු වන්නේ, සැබෑ ශ්‍රද්ධාව ඇති ගිහි බෞද්ධයන් දෙදෙනෙකි. ඔවුන් එදා ගෞරවාචාර දක්වා ඇත්තේ තමන්ට ආහාරපාන ආදිය සපයන මහරජුට නොව නිවන් මග හෙළි කරන බුදුරජාණන් වහන්සේට ය. එසේ තථාගතයන් වහන්සේගේ බුද්ධත්වය පිළිබඳ ව නුවණින් දැන ඇති කර ගත් පැහැදීම ඇත්තේ සැදැහැවතාටයි. ඔවුහු බත් පතට වඩා ගුණ නුවණට ගරු කරති.

"සැදැහැවත්කම" යනු සසර දුකින් එතෙර වීමට බුදුරජාණන් වහන්සේ වදාළ මගට පිවිසීමේ දොරටුව ය. රාග, ද්වේශ, මෝහ ආදි සියලු කෙලෙස් මුලිනුපුටා දමන නිවන් මගට පිවිසෙන ශ්‍රාවකයා පළමු ව සැදැහැවත් විය යුතු ය. දුකින් මිදීමට අදාළ මග අනුපූර්ව ශික්ෂාවකි. අනුපූර්ව ක්‍රියාවලියකි. අනුපූර්ව ප්‍රතිපදාවකි. අනුපිළිවෙළින් යා යුතු ගමනකි. එහි පළමු පියවර ශ්‍රද්ධාවයි. **සැදැහැවත් තැනැත්තා දහම් ගුරුවරුන් වෙත එළැඹෙයි. එළඹ, ඇසුරු කරයි. ඇසුරු කරන්නේ, කන් යොමු කරයි. කන් යොමු කරන්නේ, දහම් අසයි. දහම් අසා සිත තබා ගනියි. සිත තබා ගෙන අරුත් විමසයි. අරුත් විමසා වටහා ගනියි. වටහා ගෙන ධර්මයෙහි කැමැති වෙයි. එහි හැසිරෙයි. භාවනාවට යොමු වෙයි. කෙළවර පරම සත්‍යය විනිවිද දකියි. ප්‍රත්‍යක්ෂ කරයි. නිවන් අවබෝධ කරයි.**

මෙසේ ශ්‍රද්ධාව මුල් කොට ගෙන නිවන් මගට පිවිස එහි ගමන් කරන ශ්‍රාවකයා සීලයෙන් සමාධියට ද, සීලයෙන් හා සමාධියෙන් ප්‍රඥාවට ද ළඟා වී රාග, ද්වේශ, මෝහ ආදි කෙලෙස් ගිනි නිවා සියලු දුක් නිම කරන්නේ ය. එබැවින්, ශ්‍රද්ධාව වැපිරිය යුතු බීජයක් ලෙස උගන්වා තිබේ.

ඒ භාග්‍යවතුන් වහන්සේ (සො භගවා) මේ කරුණු අනුව (ඉති පි) අරහං ගුණයෙන් යුක්තයහ, සම්මා සම්බුද්ධයහ, විජ්ජා චරණ සම්පන්නයහ, සුගතයහ, ලෝක විදූයහ ආදි වශයෙන් උන් වහන්සේගේ ගුණ මහිමය නුවණින් දැන, දැක ඇති කර ගත් පැහැදීම ශ්‍රද්ධාව ය. එසේ ම ඒ භාග්‍යවතුන් වහන්සේ විසින් දේශනා කරන ලද්දා වූ ධර්මය සන්දිට්ඨික ය, ඒහි පස්සික ය, ඕපනයික ය යනාදී වශයෙන් ධර්මයෙහි ගුණ මහිමය දැන දැක නුවණින් ඇති කර ගත් පැහැදීම ශ්‍රද්ධාව ය. ඒ බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවක වූ ආර්ය මහා සංඝ රත්නය සුපටිපන්න ය, උජුපටිපන්න ය ආදි වශයෙන් දැන දැක තේරුම් ගෙන ඇති කර ගත් පැහැදීම ශ්‍රද්ධාව ය. සැකෙවින් කියතොත් ත්‍රිවිධ රත්නය පිළිබඳ ඇති කර ගත් නිසැක බව ශ්‍රද්ධාවයි. එම ශ්‍රද්ධාව ඇති තැනැත්තා අනුපිළිවෙළින් ඉදිරියට යා යුතු නිවන් මගට පිවිසෙයි. මේ අනුව ශ්‍රද්ධාව යනු අවබෝධයෙන් තොර පැහැදීම හෝ අන්ධ භක්තිය හෝ නොවේ. පදනමක් නැති ඇදහීම හෝ අවිචාරවත් විශ්වාසය හෝ නොවේ. නුවණින් විමසා කරුණු තේරුම් ගෙන ත්‍රිවිධ රත්නයෙහි ගුණ මහිමය පිළිබඳ ව අප සිත් සතන් තුළ ඇති කර ගන්නා පැහැදීමයි.

එසේ ත්‍රිවිධ රත්නය පිළිබඳ කරුණු දැන ඇති කර ගන්නා පැහැදීම, අවෙච්චප්පසාදයයි. කරුණු නොදැන ද කෙනෙකුට  බුදුරජාණන් වහන්සේ පිළිබඳ ව පැහැදීම ඇති විය හැකි ය. නිදසුනක් ලෙස ඇතැමෙකු බුදුරජාණන් වහන්සේ කෙරෙහි ප්‍රසාදය ඇති කොට ගෙන උන් වහන්සේ අනුගමනය කිරීමට පෙළඹුණේ උන් වහන්සේගේ රූප සම්පත්තිය හෙවත් බාහිර පෞරුෂය කෙරෙහි ඇති වූ ප්‍රසාදය හේතුවෙනි. බුදුරජාණන් වහන්සේ දවස විසූ වක්කලී හිමියන්ගේ පුවත මීට නිදසුනකි.

අවෙච්චප්පසාදය කෙනෙකු තුළ ඇති වනුයේ බුදුරජාණන් වහන්සේ දේශනා කරන ධර්ම මාර්ගය තමාගේ වර්තමාන ආගමික විශ්වාස හා සැසඳීමෙන් බුදුරජාණන් වහන්සේගේ ඉගැන්වීම කෙරෙහි ඇති වන සන්සන්දනාත්මක ඥානයෙනි. මෙය ඇති විය හැක්කේ අප ඉහතින් දුටු පරිදි බුදුරජාණන් වහන්සේ පිළිබඳ ව අසා ඉතා සරල ශ්‍රද්ධාවකින් උන් වහන්සේ වෙත එළඹෙන පුද්ගලයකු තුළ ය. උපතින් බෞද්ධයන් වන අප බොහෝ දෙනෙකු තුළ ද එක්තරා අවස්ථාවක දී ප්‍රසාදය මේ අයුරින් ඇති විය හැකි ය. එහෙත් අප බොහෝ දෙනෙකු දහම උපතින් ම පිළිගෙන ඇති බැවින් එසේ ඇති වීමේ හෝ නොවීමේ ගැටලුවක් පැන නොනගී.

ධර්මය කෙරෙහි ඇති වන ප්‍රසාදයෙහි ඊළඟ අවස්ථාව වනුයේ සත්‍යය අවබෝධ කිරීමත් ප්‍රඥාවෙන් ත්‍රිලක්ෂණය විනිවිද දැකීමත් ය. මෙම දෙපියවර නිර්වාණගාමී ප්‍රතිපදාවේ අවසානය වේ. ඉන් පැහැදිලි වන්නේ ඉතා සරල ශ්‍රද්ධාවකින් ආරම්භ කරන්නා වූ පුද්ගලයා පූර්ණ සත්‍යාවබෝධයෙන් ඇති වන ප්‍රඥාවෙන් තම ආගමික ප්‍රතිපදාව සම්පූර්ණ කරන බවයි. එම අවස්ථාව වන විට ශ්‍රද්ධාව වෙනුවට ප්‍රඥාව ඇති වී තිබේ. ඔහුට තව දුරටත් තෙරුවන පිළිබඳ ව විශ්වාස කිරීමට අවශ්‍ය නැත්තේ තෙරුවන පිළිබඳ ඥානය ඇති වී තිබෙන බැවිනි. ආරම්භයේ දී කරුණු දැන බුදුරජාණන් වහන්සේ සත්‍යාවබෝධය කොට ඇති බවත්, ධර්මය නිවනට පමුණුවන නිවැරැදි මාර්ගය බවත්, සංඝයා එම මගට පිළිපන් ජීවමාන ආදර්ශය බවත් විශ්වාස කරමින් ධර්මය පිළිපැදීම ආරම්භ කළ පුද්ගලයා මේ වන විට තෙරුවන පිළිබඳ ඉහත කී කරුණු තුන තම අවබෝධයෙන් ම දනී. ශ්‍රද්ධාවෙහි තැන ප්‍රඥාව විසින් ගනු ලැබ ඇත.

කරුණු නොදැන පදනමකින් තොර ව ඇති වන ශ්‍රද්ධාව **අමූලික ශ්‍රද්ධා** (හෙවත් මුල් නැති ශ්‍රද්ධාව) ලෙස ද කරුණු දැනීමෙන් ඇති වන ශ්‍රද්ධාව **ආකාරවතී සද්ධා** (බුද්ධිමය ශ්‍රද්ධාව) ලෙස ද ධර්මයෙහි දැක්වේ. ඉහතින් දැක්වූ අවෙච්චප්පසාදය ඇති වනුයේ ආකාරවතී ශ්‍රද්ධාව තුළිනි. ආකාරවතී ශ්‍රද්ධාව ඇති වනුයේ කරුණු විමසීමෙන් බැවින් තෙරුවන පිළිබඳ ව කරුණු විමසීමට, පරීක්ෂා කිරීමට, ප්‍රශ්න කිරීමට, බුදුරජාණන් වහන්සේ අනුබල දී ඇත. බුදුරජාණන් වහන්සේගේ සිත දැන ගැනීමට ශක්තිය නැති (පරචිත්ත විජානන ඥානය නැති) ඕනෑ ම කෙනෙකුට තමන් වහන්සේ පිළිබඳ ව පරීක්ෂා කොට බලන ලෙස බුදුරජාණන් වහන්සේ අවසර දුන්හ. මාස ගණනක් බුදුරජාණන් වහන්සේ සමග එකට සිටිමින් උන් වහන්සේගේ පැවැත්ම පරීක්ෂා කළ බ්‍රහ්මායු නම් තරුණ බමුණෙකු ගැන ධර්මයෙහි සඳහන් වේ. බුදු දහමට අනුව විශ්වාසය ඇති කර ගත යුත්තේ හේතු සහිත ව ය. කරුණු දැන ගෙන ය. ඇත් අඩි උපමාව (චූල හත්ථි පදෝපම සූත්‍රය) වදාළ බුදුරජාණන් වහන්සේ වඩාත් සමීප හේතු සාධක පමණක් සලකා බලා බුද්ධාදි රත්නත්‍රය පිළිබඳ නිගමනවලට නොඑළඹිය යුතු යැයි ඉගැන්වූහ. එහිලා දූර දක්නා නුවණ අවශ්‍ය ය. ආර්ය වූ ශීලස්කන්ධයෙන් ද, ඉන්ද්‍රිය සංවරයෙන් ද, සිහිනුවණින් ද යුක්ත ව සෙනසුනක භාවනා කරන ශ්‍රාවකයා නීවරණ දුරු කොට ධ්‍යාන උපදවයි. එහෙත් චතුර්විධ ධ්‍යාන අතුරින් එකකින් හෝ භාග්‍යවතුන් වහන්සේ සම්මා සම්බුද්ධ ය, ධර්මය ස්වාක්ඛාත ය, සංඝයා සුපටිපන්න යැයි නිගමනයකට නොපැමිණෙයි. එසේ ධ්‍යාන ලබා තවදුරටත් භාවනා කොට පුබ්බේ නිවාසානුස්සති හා දිබ්බචක්ඛු ඥානය ද ලබයි. එම ලෞකික අභිඥා තුළින් ද භාග්‍යවතුන් වහන්සේ සම්මා සම්බුද්ධ ය, ධර්මය ස්වාක්ඛාත ය, සංඝයා සුපටිපන්න යැයි නිගමනය නොකරයි. අවසානයේ දී එම ශ්‍රාවක තෙමේ සියලු කෙලෙස් නැති කොට ලෝකෝත්තර වූ ආසවක්ඛය ඥානය ලබා ගනී. හෙතෙම චතුරාර්ය සත්‍යය අවබෝධ කරයි. එවිට භාග්‍යවතුන් වහන්සේ සම්මා සම්බුද්ධ ය, ධර්මය ස්වාක්ඛාත ය, සංඝයා සුපටිපන්න යැයි නිශ්චය කරයි. කරුණු දැන හෝ කරුණු නොදැන හෝ ඇති වන ශ්‍රද්ධාවෙන් තොර ව අපට තෙරුවන පිළිබඳ ව ප්‍රසාදය ඇති නොවේ. ශ්‍රද්ධාව සහ ප්‍රසාදය නැති විට තෙරුවන වඳින්නේ වත් කුසලකර්ම කරන්නේ වත් ධර්ම මාර්ගය අනුගමනය කරන්නේ වත් නැත. එහෙයින් බෞද්ධයකු ලෙස අපට තිබිය යුතු මූලික ගුණාංගය "ශ්‍රද්ධාව" වේ. එය ඇති විට අප ආගමික ධනයෙන් පොහොසත් ය.

ශ්‍රද්ධාව උසස් ධනයකි. නිවන් මගෙහි යාමට අපට අවශ්‍ය මග වියදම් සපයන්නේ ශ්‍රද්ධාවයි. එය නැති නම් අප දහම් මග අනුගමනය නොකරන බැවිනි. සංසාරය නමැති සාගරය අප තරණය කරන්නේ ද ශ්‍රද්ධාව හේතුවෙනි. එසේ වන්නේ ශ්‍රද්ධාව නැති නම් අප දහම නොපිළිපදින අතර, දහම් නොපිළිපදින විට අප සසර තුළ ම රුඳෙන බැවිනි. ආගමික ජීවිතය නමැති අතුපතර ඇති වෘක්ෂයෙහි මූල බීජය වන්නේ ද ශ්‍රද්ධාවයි. බීජයකින් තොර ව ගසක් හට නොගන්නාක් මෙන් ශ්‍රද්ධාව නමැති බීජයෙන් තොර ව ආගමික ජීවිතය නමැති වෘක්ෂය නොහැදේ; නොවැඩේ. අපේ අරමුණ නිවන ය. නිවන යනු නිවීමයි, රාග දෝස මෝහ යන කෙලෙස් ගිනි නිවා ගැනීමයි. එය සම්පූර්ණයෙන් නිවී යන්නේ නිවන් දැකීමෙනි. අපේ ආගමික ජීවිතය ගත කළ යුත්තේ ටිකින් ටික හෝ රාග දෝස මෝහ තුනී වන ආකාරයට ය. රාගය නම් අරමුණුවල ඇලෙන ගතියයි. දෝසය නම් අරමුණු වල ගැටෙන ගතියයි. මෝහය නම් මුලා වන ගතියයි. ඒවා පාලනය කර ගැනීමට ශ්‍රද්ධාව බෙහෙවින් ම උපකාර වේ. සැදැහැති ව රාගාදිය අඩු කරමින් ආර්ය මාර්ගයේ

ගමන් කිරීම දෙලොව සැනසීමටත් නිවන් සැප ලැබීමටත් හේතු වන බැවින් අපි ද එසේ ක්‍රියා කිරීමට අධිෂ්ඨාන කර ගනිමු.

## සාරාංශය



ශ්‍රද්ධාව බෞද්ධ ප්‍රතිපදාවේ දොරටුවයි. ඉන් අදහස් වන්නේ ත්‍රිවිධ රත්නය පිළිබඳ මනා අවබෝධයෙන් යුක්ත ව ඇති කර ගත් පැහැදීමයි. එම පැහැදීම ඔස්සේ නිවන් මග ගමන් කොට අවසානයේ දී සියලු කෙලෙස් නැති කිරීමෙන් සසර දුක නිම කොට නිවන් පසක් කළ හැකි ය. බුදුරජාණන් වහන්සේ වදාළ මෙකී ශ්‍රද්ධාව හුදු පැහැදීම, විශ්වාසය හෝ ඇදහීම නොවේ. තෙරුවන ගුණ දැන නුවණින් ඇති කර ගත් ප්‍රසාදයයි. එය ආකාරවතී ශ්‍රද්ධාව ලෙස හැඳින්වේ. ශ්‍රද්ධාව පෙරටු කරගෙන රාග දෝස මෝහ පාලනය කරමින් කටයුතු කරන තැනැත්තා නිවන අරමුණු කොට ආර්ය මාර්ගයේ ගමන් කරන්නෙකි.

## ක්‍රියාකාරකම



01. අමූලික ශ්‍රද්ධාව හා ආකාරවතී ශ්‍රද්ධාව වෙන වෙන ම හඳුන්වන්න.

02. ශ්‍රද්ධාව දියුණු කර ගැනීමට උපකාරී වන ක්‍රියාකාරකම් දෙකක් පැහැදිලි කරන්න.

03. රාග දෝස මෝහ පිළිබඳ ධර්මානුකූල කෙටි හැඳින්වීමක් ලියන්න.

## පැවරුම



විදුහල්පතිතුමාගේ අවසරය ඇති ව පන්ති භාර ගුරුතුමාගේ මග පෙන්වීමෙන් සුවිශේෂ වන්දනා චාරිකාවක සැලසුමක් සකස් කර ක්‍රියාත්මක කරන්න.